සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2560ක් වූ වෙසක් මස (ව්‍යවහාරික වර්ෂ 2016 මැයි)

56 වෙනි කලාපය

## සත්ත්වයන්ට ඉන්ද්‍රියන් හයක් ලැබීමට හේතුව...



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# වෙසක් බැති පූජා









සාරා සැකි කප් සුවහසකට පෙර
දීපංකර නම ලද එම මුනිවර
ආ දා මහ මග සහ සඟ පිරිවර
බාධා බිඳ හළ සුමේධ තපසර

වෙස ගෙහි පොහො දින වැඩි සඳ එපුරට
දස බල මුනිඳුට එම මග වඩිනට
බැස සිටි වගුරෙහි වැතිරුනි මඩ පිට
ලෙස පැතු මතු බුදු වෙයි දෙසු තපසුට

අග වෙමි දෙට වෙමි සෙට වෙමි පැවසූ
සුග තිඳු වෙසඟෙහි මෙලොවට පිවිසූ
සග මොක් සුව සෙත සතහට සැලසූ
හග වත් හිමි සඳ තිලොවම සැනසූ

සසර නමැති ගෙයි කැණිමඬලද බිඳ
අතිර දහම බුදු හිමි දැක පිරි සිඳ
එතෙර කළහ සව් සත පා සිහ නද
එවර ද වෙසඟෙහි බැබලුනි පුර සඳ

කුසිනා රාවේ සල් ගස් අරණේ
වසනා කල හිමි වෙසඟෙහි එදිනේ
වඩිනා බව දෙසු සඳ පිරි නිවනේ
සොවිනා වැළපුනි සව් සත දෙරණේ

තෙමඟුල සිදු වුන සම්බුදු වෙසඟේ
එම බැති පෙම පුබුදයි හද සැමගේ
සමහරු නොතකති බුදු බණ මුනිගේ
නිම නැති දුක පිරි නොපතනු මහ ගේ

පබැඳුම - කාව්‍ය ශිරෝමණී - පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# ධම්ම පදය තුලින් නිවන් මග

**23 වන කොටස**

මේ ලිපියෙන් කියන්න යන්නෙ ධම්ම පදයේ නිරය වර්ගයේ එන ගාථාවක් හා ඊට සම්බන්ධ වුන කතාවක් ගැන. ඒ කතාවෙන් අපට නිවන් මාර්ගය වඩාගන්න, නුවණ වඩා ගන්න අවශ්‍ය කරන දෙයක් ගැන අදහසක් ගන්න පුළුවන්. මේ ගාථාවට මූලික වෙච්ච කතාවට සම්බන්ධ වෙන්නෙ, ලාබ ප්‍රයෝජන තකා ලොව්තුරා බුදුන් වහන්සේට අභූතයෙන් චෝදනා කරපු තැනැත්තියක්. ඒක එදා ලොව්තුරා බුදුන් වහන්සේ වැඩ ඉන්න කාලෙ සිද්ධ වෙච්ච දෙයක්. උන් වහන්සේගෙ නාමය, උන්වහන්සේ දේශනා කළ ශ්‍රී සද්ධර්මය, ඒ මග අනුගමනය කරමින් නිවන් මාර්ගය පූර්ණ කරගත්ත මහා සංඝ රත්නය බැබලෙමින් තිබුන කාලයක් තමයි ඒ.

ඉතින් උන්වහන්සේලාට සිවුපසයෙන් අඩුවක් නෑ. රජවරුන්ගෙ පටන් අන්තිම දුගී ජනයාගෙන් පවා ගෞරව පුද සත්කාර ලැබුනා. මේ කාරණය ඒ කාලෙ හිටපු අන්‍ය තීර්ථකයන්ට, එහෙමත් නැත්නම් මේකයි නිවන් මාර්ගය මේකයි ක්‍රමය කියල විවිධ මත ප්‍රකාශ කරපු අයට දරාගන්න බැරි වුනා. ඒ අයව කවුරුවත් ගණන් ගත්තෙ නෑ, ඔවුන්ට හරියට සිවුපසයක් ලැබුනෙ නෑ. දවාලක සූර්යා බබලන මොහොතක කණාමැදිරි එළි වගේ තමයි ඒ අයව පෙනුනෙ. ඉතින් මේ අය බුදුන් වහන්සේ ඇතුළු ආර්ය මහා සංඝයා වහන්සේලාගෙ නම කැත කරන්න, උන් වහන්සේලාට ලැබෙන පුද සත්කාර අඩු කරන්න පුළුවන් තරම් උපක්‍රම යෙදුවා.

ඒ සඳහා ඒ අය සුන්දරී කියන තමන්ට හිතවත් රූමත් තරුණියක් ගෙන්වල උපක්‍රමයක් යෙදුවා. මේ තැනැත්තිය හවසට දෙව්රම් වෙහෙර අසල තැනක ඉඳල උදේට දෙව්රම් වෙහෙර පැත්තෙන් එනව වගේ වෙහෙරට එන මිනිස්සුන්ට පේන්න එනවා. කවුරු හරි ඇහුවම කියනවා, මම ඊයෙ බුදුන් වහන්සේ සමග රෑ ගත කළා දැන් මේ උදෙන්ම යනව කියල. ඇය මේ උපක්‍රමය හැමදාම කරනවා. ඉතින් මේ සිද්ධිය වෙන අතරතුර අර අන්‍ය තීර්ථකයො වෙනත් කෙනෙක් යොදවල සුන්දරී කියන තරුණිය මරවල මල් ආසනයක් ළඟ හංගල ගියා. ඊට පස්සෙ ඒ මිනිය ඒ අයම හොයාගෙන බුදුන් වහන්සේ ඇතුළු සංඝයා වහන්සේලාට අවමන් වෙන විදිහට ප්‍රචාරයක් යැව්වා. ඉතින් මේ කතාවෙ අවසානය මේ ලිපිය කියවන පින්වතුන් දන්නවා. මේ කතාව මූලික කරගෙන තමයි ලොව්තුරා බුදුන් වහන්සේ මේ ගාථාව දේශනා කළේ.

අභූතවාදී නිරයං උපේති
යෝ චා පි කත්වා න කරෝමීති චාහ
උභෝපි තේ පෙච්ච සමා භවන්ති
නිහීනකම්මා මනුජා පරත්ථ



සරල සිංහල තේරුම,

**අනුන්ට නින්දා කරනු පිණිස ඔවුන් නොකී නො කළ දෙය, කීහ කළහයි බොරු දොස් නගන්නා අපායට යයි. යම් පවක් කොට නොකළෙමියි කියන්නාත් අපායට යයි. නිහීන (පහත්) ක්‍රියා ඇති ඒ මිනිස්සු දෙදෙනාම පරලොවට ගොස් එහිදී ගති වශයෙන් සමාන වෙත්.**

අද සමාජය දිහා බැලුවමත් මේ වගේ සිද්ධි බහුලව දකින්න පුළුවන්. තමන් ඉගෙන ගන්න තැන හෝ රස්සාව කරන තැන හෝ ඕනම තැනක දකින්න පුළුවන් දෙයක්. ඇයි මිනිස්සු මේ තත්වෙට පත්වෙන්නෙ? ඇයි අභූතයෙන් අනුන්ට චෝදනා කරන්නෙ? අභූතවාදී කියන්නෙ බොරු කියන කෙනාට නෙවෙයි. සමහර අය බොරු කියන්නෙ තමන් බේරෙන්න මිසක් අනුන්ව අමාරුවෙ දාන්න නෙවෙයි. ඒත් ඒකත් වැරැද්දක්, නොකළ යුත්තක්, දුෂ්චරිතයක්. නමුත් මේ අභූතවාදී කියන කෙනා ඊට වඩා භයානකයි. ලොව්තුරා බුදුන් වහන්සේට අනුව කෙලින්ම නිරයේ උප්පත්තිය ලබන්නෙ. නිරය කියන්නෙ සතර අපායෙන් උපදින්න පුළුවන් නරකම තැන. ප්‍රේත, අසුර, තිරිසන් අපාය ගැන නෙවෙයි මේ කියන්නෙ. ඊටත් වඩා මහ භයානක තැනක් ගැන.

මේ නිරය කියන කොටසේ ඒ ඒ සංඛාර අනුව ගොඩ නැගුන පරිසර 136 ක් තියෙනවා. එහෙම වෙන්නෙ කොහොමද කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. සරල උපමාවකින් ඒ කාරණය පහදන්න පුළුවන්. අපට ඕන තරම් යාළු මිත්‍රයො නෑදෑයො ඉන්නවා. ඒ ඒ අය තම තමන් ජීවත් වෙන ගෙවල් දොරවල් තියෙනවා. මේ හැම ගෙයක් දොරක්ම එක සමානද? තනි තට්ටුවේ ගෙදර, තට්ටු දෙකේ ගෙදර, පැල්පත... ආදී දේවල්වලින් වෙන් නොකර පොදුවේ තියෙන කාරණා බැලුවොත් එක සමානද? සමහර අයගෙ ගෙවල් හරි පිලිවෙලයි. සමහර අයගෙ හරිම අපිලිවෙලයි. තවත් සමහරුන්ගෙ ලස්සනට මල් වවල හරිම ප්‍රියමනාප විදිහට තියෙනවා. තවත් අය මල් වෙනුවට තමන් එදිනෙදා ප්‍රයෝජනයට ගන්න එළවළු ආදිය වවල තියෙනවා. ඒ ඒ අයගෙ ගති ලක්ෂණ අනුව තමන්ට ගැලපෙන පරිසරයක් හදාගෙන තියෙනවා.

ඒ වගේ තමයි අපේ සිතිවිලි අනුව බාහිරින් ගොඩනගන පරිසරයත්. අපේ සිතිවිලි කටුක නම් අපි කටුක පරිසරයක් ගොඩනගනවා. සිතිවිලි යහපත් නම් යහපත් පරිසරයක් ගොඩනගනවා. මේ ගැන සම්පූර්ණ විග්‍රහයක් පසුගිය

කලාපයේ පළවූ "සත්ත්වයාගේ විවිධ ක්‍රියාකාරිත්වයන් නිසා විශ්වයේ ශක්තීන් ගොඩ නැගෙන අයුරු" කියන ලිපි පෙලෙන් ඉදිරිපත් කරල තියෙනවා. කෙටියෙන් කියනව නම්, මනුස්ස ජාතියට රූප බලන්න, ශබ්ද අහන්න, රස විඳින්න, ස්පර්ශ ලබන්න ඊට සුදුසු පරිසරයක් අපේ වට පිටාවෙ මනුස්ස ලෝකය නමින් තියෙනවා. අභ්‍යන්තර ලෝකය මනුස්ස වුනාම බාහිර ලෝකයත් ඒ අනුව මනුස්ස විදිහට සකස් වෙනවා. අභ්‍යන්තර ලෝකය කියන්නෙ කෙනෙක් හිතන, කියන, කරන දේ අනුව තමන් වැඩියෙන්ම කැමැත්ත තියෙන සිතිවිලි අනුව ගොඩනගන ලෝකය.

කෙනෙක් බලුකම් කරනව නම්, අනෙක් අයගෙ මාර්ගය වහල ඒ අනුව පහරනව නම්, තවත් කෙනෙකුට විතරක් තමන්ගෙ පක්ෂපාතිත්වය පෙන්වල පිට අයට ගුණයන් නොතකා වද දෙනව නම්, හිංසා කරනව නම්, කැමොර දෙනව නම්, ඒ පුද්ගලයගෙ ලෝකය බලු. ඔහු වැඩියෙන්ම කරන්නෙ බලු සංඛාර. ඒ අනුව තමන් තුල ගොඩනගන ලෝකයත් බලු. ඒ පුද්ගලයට ඊට ගැලපෙන පරිසරයක් ගොඩනැගෙනවා. ඒ අනුව මරණින් මතු තිරිසන් අපාය කියන කොටසේ උපදිනවා. ඉතින් බල්ලෙක්ගෙ ගති ලක්ෂණ දිහා බැලුවම ඒක හොඳින් පේනවා. ගෙදර අයට විතරයි හීලෑ. නටනවා, සෙල්ලම් කරනවා, ලෙවකනවා, වලිගෙ වනනවා. නමුත් ඒ ගෙදරට නිකං හරි වෙන කෙනෙක් ආවොත් මොකද කරන්නෙ? දෙපාරක් හිතන්නෙ නැතුව බුරාගෙන පනිනවා. ආපු කෙනා හොරෙක්, වංචාකාරයෙක් වෙන්න පුළුවන්, නෑදෑයෙක්, යාළු මිත්‍රයෙක් වෙන්න පුළුවන්. සමහර විට පිණ්ඩපාතෙ වැඩිය භික්ෂූන් වහන්සේ නමක් වෙන්නත් පුළුවන්. නමුත් බල්ලට ඒ කවුද කියන කාරණය වැඩක් නෑ, ඌ අර මනුස්සයෙක් වෙලා ඉන්න කාලෙ පුරුදු කරපු දේ කරනවා. ස්වාමියට හීලෑයි, ගැහුවත් බැන්නත් යන්නෙ නෑ, හපා කන්නෙ නෑ. අපි කතාවටත් කියනවා, අර මිනිහ නම් බල්ල වගේ එතනටම වැටිල ඉන්නව කියල. ඔය විදිහට තමයි නිරය කියන පරිසරයත් තමන් කරපු පාප කර්ම අනුව කොටස් 136 කට බෙදෙන්නෙ.

මේ කොටස්වල උපදින අයට කියනවා නිරි සත්තු කියල. කොටින්ම තමන් කරපු කියපු දේවල් අනුව විපාක විඳින පරිසරයක්. මේවට විපාක ලෝක කියලත් කියනවා. කර්මය ගෙවෙනකල් එතනට වෙලා ඉන්න ඕන. කොච්චර කාලයක්ද කියල දන්නෙ නෑ. ඒක දන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමක් විතරයි. අනෙක් අයට පුළුවන් උන්වහන්සේලා කියපු දෙයක් කියන්න විතරයි.

**සිතුවත් බිය කරවන අර තරයේ**
**වැටුණොත් එක්සිය සතිසක් නිරයේ**
**බලවත් දුක් විඳිනෙය කරදරයේ**
**මඳකුත් පිනකට නැත අවසරයේ**

මේ ලෝවැඩ සඟරාවෙ එන කවියක්. කොටින්ම කියනව නම්, පිනක් කරගන්න කිසිම අවසරයක් නෑ. කරපු දේ ගෙවන්න විතරයි තියෙන්නෙ. ඒ තරම් භයානක තැනක් නිරය කියන්නෙ. ලොව්තුරා බුදුන් වහන්සේට අනුව නිරය කොටස් 136 කට බෙදෙනවා. හරියට වාට්ටු 136 ක් තියෙන රෝහලක් වගේ. හරියටම ලෙඩේ තීරණය කරන වෛද්‍යවරු ඒ ඒ රෝගීන් අදාළ වාට්ටුවලට දානව වගේ, ධර්මතාවයෙන් පාපය තීරණය කරල ඒ ඒ නිරවලට දානවා. ලෙඩේ සනීප වෙනකල් බෙහෙත් දීල, සනීප වුන ගමන් පිටත් කරනවා. නිරයෙත් මේ විදිහට තමයි වැඩ සිද්ධ වෙන්නෙ. ඉහත කවියට අනුවත් නිර 136 ක් තියෙනවා. ඒක මෙහෙමයි බෙදෙන්නෙ. කියල නිම කරන්න බැරි දුකක් විඳින පරිසර 8 ක් තියෙනවා අටමහ නරකය කියල. ඒ 8 හැරුනම ඉතුරු 128 ඔසුපත් නිරයන්. සේරම එකතු වුනාම 136 යි. ඉතින් ධර්මයේ සඳහන් වෙන ආකාරයට මේ එක අටමහ නරකයක හතර පැත්තෙ, එක පැත්තකට ඔසුපත් නරක 4 බැගින් 16 ක් පිහිටනවා. එහෙමයි 128 ක් ඔසුපත් නරක තියෙන්නෙ. (8×16=128)

අප්‍රමාණ දුකක් විඳින අටමහා නරකය මේ නම්වලින් හැඳින් වෙනවා. 1. සංජීව 2. කාලසූත්‍ර 3. සංඝාත 4. රෞරවය 5. මහා රෞරවය 6. තාපය 7. ප්‍රතාපය 8. අවීචිය.

ඒ ඒ අය තම තමන් ගොඩනගන පාප ශක්තියේ බලවත්කම අනුවයි මේ පරිසර අට ගොඩනැගිල තියෙන්නෙ. සංජීවය කියන නරකය ගත්තම එහේ එක දවසක් මෙහේ මනුස්ස වර්ෂවලින් 900,000 ක් වෙනවා. ඒ අනුව කරපු පාපකර්මය ගෙවන්න සංජීවයේ අවුරුදුවලින් 500 ක් ඉන්න ඕන. මනුස්ස වර්ෂවලින් ඒ ආයුස බලනව නම් නව ලක්ෂය 365 න් වැඩි කරල ඒ එන උත්තරය නැවතත් 500 න් වැඩිකරන්න ඕන. එතකොට සංජීවයේ ආයුස ගෙවෙන්න නම් මනුස්ස ලෝකෙ අවුරුදුවලින් 164,250,000,000 ක කාලයක් ඉන්න ඕන. හිතාගන්නවත් බැරි කාලයක් දුක් විඳින්න වෙනවා. දැන් අර ධම්ම පදයේ කිච්ච ගාථාවට අනුව මේ තරම් කාලයක් දුක් විඳින්න කළේ මොකක්ද? අප්‍රමාණ ගුණස්කන්ධයක් තියෙන ලොව්තුරා බුදුන් වහන්සේටයි, උන්වහන්සේගෙ සාසනයටයි අභූතයෙන් චෝදනා කළා. චෝදනා කළේ මොකටද, තමන්ට වඩා උන්වහන්සේට සිවුපසය ලැබෙන නිසා. පිටින් බලන කෙනෙකුට පේන්න පුළුවන් ඒක සුළු දෙයක්නෙ, ඒකට මෙච්චර දුකක් විඳින්න ඕනද කියල. නමුත් විශ්වයට තිකුත් කරපු විස ශක්තිය සුළු පටු නෑ.

දැන් බලන්න සංජීවය කියන නරකයේ උපන් කෙනෙක් කොච්චර කාලයක් දුක් විඳිනවද කියල. මනුස්ස ලෝකයේ මේ කාලයේ උපරිම ආයුස අවුරුදු 120 යි කියල හිතුවොත්, සංජීවය තුල හරියට තත්පර 12 ක් ගත කරන කාලයට සමානයි. ඒ අනුව බැලුවම මනුස්ස ලෝකයේ ආයුස කියන්නෙ ඉතාම සුළු කාලයක්. ඒ සුළු නිමේෂයක් වගේ කාලයක් තුල කරගත්ත පාපයක් නිසා අර ජාතියේ දුකක් විඳිනවා. මෙහේ අවුරුදු 120 වුනාට එහේ තත්පර 12 යි. ධන කුවේරයෙක් වුනත් ඒ අනුව බැලුවම නිමේෂයක සැපක් විඳල තියෙන්නෙ. ඒ සැප ලබාගන්න ගිහින් කරන කියන වැඩ නිසා අප්‍රමාණ දුකක් විඳිනවා. මේ මහා දුකින් මිදෙන්න මග කියල දුන්න උත්තමයෙකුට තමයි අර විදිහට අභූතයෙන් චෝදනා කළේ. ඒ අනුව බැලුවම කරපු පාපය සුළුපටු නෑ. මහා කරුණා ඥානයෙන් මේ විඳින දුක දැකල තමයි උන් වහන්සේ පටිච්ච සමුප්පාදය, චතුරාර්ය සත්‍යය ලෝකයට දේශනා කළේ. විඳින ඕනම අපහාසයක් විඳගෙන සුදුසු කෙනාට මාර්ගය පෙන්වල දුන්නෙ ඒකයි. ඉතින් එහෙම උතුමෙක් නොකළ වරදක් කළා කියල චෝදනා කිරීම සුළුපටු පාපයක් නෙවෙයි. මහ පොලොව නුහුලන අපරාධයක්.

අද සමාජයේ සමහර භෞතිකවාදී අදහස් දරන අයත් ලොව්තුරා බුදුන් වහන්සේ ඇතුළු සංඝයා වහන්සේලාට නොයෙක් විවේචන එල්ල කරනවා. ඒ අය ඒවා

කරන්නෙ මේ විඳින්න තියෙන දුක නොදැන, මතු උපතක් ගැන නොදන. උන් වහන්සේ කල්ප කාලාන්තරයක් තිස්සේ නොවිඳිනා දුක් විඳල ලොව්තුරා බුද්ධත්වයට පත්වුනේ එකම පැතුමක් හිතේ දරාගෙන. ඒ තමයි මමත් එතෙර වෙලා ලෝක සත්වයත් එතෙර කරනවා කියන පැතුම. මේ ලෝක සත්වයා කියන කොට සාසනය තුල ඉන්න අය විතරක් නෙවෙයි, ඔය චෝදනා කරන අයත් අයිතියි.

ඒ වගේම **කවුරු හරි බුදුන් වහන්සේට බැන්නම අපහාස කළාම, ඒක අහගෙන ඉන්න සමහර අයත් සංවේගයෙන්, ඒ බනින අයට අපහාස කරන්න බනින්න යනවා. ඇත්තටම එහෙම බනිනවට වඩා අපි කරන්න ඕන ඒ අය ගැන අනුකම්පා කරන එක.** සංජීවය වගේ අපායක් ගැන, ඒකෙ විඳින්න තියෙන දුක ගැන සුළුවෙන් හෝ දෙයක් දන්නව නම් හෝ පිලිගන්නව නම් ඒ අය එහෙම කරයිද? දන්නෙ නැති නිසා නෙ එහෙම කරන්නෙ කියල අනුකම්පා කරල, කවද හරි මේ අයටත් ඇත්ත වැටහේවා කියල මෙත් සිතින් පැතුමක් පතන්න ඕන. රණ්ඩු වෙන්න ගහගන්න ගියා කියල ඒ අයට සෙතකුත් නෑ, අපට සෙතකුත් නෑ. සෙතක් ලැබෙන එකම ක්‍රමය තමයි මෙත් වඩන එක. මේ අප්‍රමාණ දුක අපට වැටහෙන විදිහට අනුමාන නුවණින් හරි දැකල, අනේ ඒ අයටත් කවද හරි මේක තේරුම් ගන්න ලැබේවා කියල හිතුවත් ඒකත් අප්‍රමාණ ආර්ය මෛත්‍රිය වැඩීමක් වෙනවා. ඒකට පැත්තක ඉඳන් ඇස් දෙක පියාගෙන ඉන්නම ඕන නෑ. ඕනම ඉරියව්වක ඉඳගන කරන්න පුළුවන්.

ඉහතින් කිව්වෙ සංජීවයේ ආයුස ගැන. ඔය විදිහට ආයුස වැඩි වෙලා පහලට යන කොට තියෙන්නෙ අවීචිය. ඒකෙ ආයුස අන්තඃකල්පයක්. හිතන්නවත් බැරි කාලයක්. කෙනෙක්ගෙ අතින් පොඩි පොඩි අත්වැරදීම් වෙන්න පුළුවන්. ඒ හැම දෙයකටම මුල් වෙන්නෙ තමන් ලෝකයට දීපු වටිනාකම. හැබැයි අත්වැරදීම පිටින් බැලුවම පොඩි වුනත් ඒකෙ විපාකය මහ බලවත් වෙන්න පුළුවන්. අරුට තියෙන සැප අපිට නැනෙ, ඌව මරල හරි ගන්න ඕන කියල කෙනෙක් පොල්ලක් අරන් මහ රෑ කළුවරේ මග රැකගෙන ඉඳල අල්ලපු ගෙදර මනුස්සයට ගහනවා. හැබැයි බලන කොට රැවටිලා ගහල තියෙන්නෙ තමන්ගෙ තාත්තට. තාත්තගෙ ඔළුවටමයි වදින්නෙ, තාත්ත එතනම මැරෙනවා. දැන් අර ගහපු කෙනාට ගැලවීමක් තියෙනවද? තාත්තව නෙවෙයි මරන්න උවමනාව තිබුනෙ. නමුත් ප්‍රාණියෙක් මරණ චේතනාව තිබුනා. හැබැයි මැරුණෙ තාත්තා. කර්ම පථය සම්පූර්ණයි. ආනන්තරීය පාපකර්මයක් කරගත්තෙ. දැන් ගිහින් නවතින්නෙ අටමහ නරකෙන් එකක. තත්පර කීයක් යන්න ඇත්ද ඒ වැඩේට? ඒ වුනාට විපාකය ගෙවන්න තියෙන කාලය සුළුපටු නෑ. අනෙක් වැරදිවලට යන්න තියෙන තැනුත් ලේසි පහසු නෑ. කරපු කියපු පව් අනුව තවත් තැන් 128 ක් තියෙනවා. ධර්මයේ සඳහන් වෙන ආකාරයට මේ නම්වලින් ඒ නරකයන් 128 හැදෙනවා.



අබ්බුද, නිරබ්බුද, අබබ, අටට, අහහ, කුමුදු, සෞගන්ධික, උප්පල, පුණ්ඩරීක, පදුම, බාරෝදිකා, සෝණබාදක, ගිජ්ඣකාක, සත්තිසූල, බග්ගසීරු, පහාස, සිත්, අඟුරුමැල, දළකොහොල්මැළ, පොකුරුපත්, සාකුණික, ඕරම්භිත, අසිලෝම, සත්තිලෝම, උසුලෝම, රථාවාරික, සුවක, ගාමකූට, ගූථකූප, මිල්හගබ්භ, පාණහිංස, කාකෝල, වේලූනද, සඤ්චිච්චි, මහාජාල, ඒකකල්ප, ද්විකල්ප, තයෝකල්ප, චතුකල්ප, පඤ්ජකල්ප, බාරසකල්ප, තේරසකල්ප, චුද්දකල්ප, පඤ්චදසකල්ප, සෝළසකල්ප, අච්චන්ත වන්තර, උච්චාරුල්හ, ආරාමදූසක, හිදග්ගි, ගොමුත්තග්ගි, තසිතග්ගි, සයනග්ගි, තෙලග්ගි, නුට්ඨූහග්ගි, පරභණ්ඩාහර, විරහිතග්ගි, කෝධග්ගි, එරුසග්ගි, විලසග්ගි, උභතග්ගි, තෙලහත, සටිතග්ගි, යක්ඛග්ගි, මූසග්ගි, නිවාරිතග්ගි, උරචක්‍රමාලා, සුමතාප, නපුජග්ගි, තිප්පා කටුකග්ගි, කුක්කුටග්ගි, ලාහුපක්කම, කිලෙසග්ගි, ඉන්ද්‍රිය අගුත්තද්වාර, කුසග්ගි, මංසපේශී, සුනබ, කාලහත්ථී, මහායන්ත, සජෝති, සංසවක, අංගාර පබ්බත, ථූසනදි, කූටකාරි, සීතනදි, ගූථ, කුක්කුල, කුළුහිඹුල්වන, අසිපත්‍රවන, වේතරණී, ලෝකුඹු, අලුකුඹු, කිහිරගුරු, රෝරුව, ගොපාන, පසුඝාත, සීතතරච්ජි, නිච්ජවි, මංකුලිත්ථාකා, ශකිලිනී, අසීසක, පරලාභ, නච්චවාදක, ඡකල්ප, සප්ත කල්ප, අට්ඨ කල්ප, නව කල්ප, දශ කල්ප, ඒකාදශ කල්ප, මුත්තකරිසග්ගි, දූසමාලග්ගි, අනුපට්ටිතග්ගි, භූතග්ගි, විපරිතග්ගි, කුම්භග්ගි, මහගුලෝම, දිට්ඨානුගතග්ගි, හස්සාධිප්පාය, පතිතාන දේහග්ගි, උදුන්ජාරිකා, මුප්පමුසලග්ගි, පත්තග්ගි, එලමූලග්ගි, ජඩ්ඩිතග්ගි, ඔසක්කතාප, අපච්චවෙක්ඛිතග්ගි, කුලදූසනග්ගි, වෙරළ, අයෝගුල. කරපු පාප සංඛාරය අනුව ගැලපෙන නම්වලින් ගැලපෙන විපාක ලබන්න හැදුන පරිසර 128 තමයි මේ. ආයු කාලයත් ඒ වගේමයි.

මේ අනුව අපිට ගන්න පුළුවන් නිගමනයක් තියෙනවා. යටට දුගති 136 ක් පරිසර හැදිල තියෙනවා දුක් විඳින්නම. තිරිසන් අපාය නැතුවයි 136 ක් කිව්වෙ. නමුත් උඩට සැප විඳින්න සුගති පරිසර කීයක් තියෙනවද? මනුස්ස ලෝකය ඇතුළුව පරිසර 27 යි. මනුස්ස ලෝකයයි, දිව්‍ය ලෝක 6 යි, බ්‍රහ්ම ලෝක 20 යි. සසර කොච්චර භයානක තැනක්ද කියල මේකෙන්ම තේරුම් ගන්න පුළුවන්. සැප විඳින්න තියෙන්නෙ සුගති තැන් 27 ක් විතරයි. නමුත් දුක් විඳින්න විතරක් දුගති තැන් 136 ක් තියෙනවා. ඒකෙන් තේරනවා ලෝක සත්වයා වැඩිපුරම ඉන්නෙ කොහෙද කියල. ඒක තමයි සතර අපාය, ලෝක සත්වයාගේ මහගෙදර කියන්නෙ. මනුස්ස චුති, දේව චුති සූත්‍රවලිනුත් ඒ බව පැහැදිලි වෙනවා.

නිරය කියන කොටසේ තියෙන දුක් කන්දරාව ගැනයි ඔය කිව්වෙ. සතර අපායෙන් අනෙක් කොටස් තුනෙත් ඒ ඒ තැන්වල අඩු වැඩියෙන් දුක් විඳින සත්වයෝ ඉන්නවා. එක කොටසක් තමයි තිරිසන් අපාය, මිහිපිට අපට පේන්න තියෙන කොටස. ඔය කියන අපායවල් කොහෙද තියෙන්නෙ,

අපිට පේන දෙයක්ද කියල කෙනෙක් අහන්න පුළුවන්. සාක්ෂි ඇතුවම පෙන්වන්න පුළුවන් තැනක් තමයි තිරිසන් අපාය කියන්නෙ. අපි එදිනෙදා දකින බල්ලන්, පූසන්, කුරුල්ලන්, මාළුන් වගේ සත්තු අයිති වෙන්නෙ මේ තිරිසන් අපායට. මිනිස් ලෝකයේ ඉන්න කෙනෙක් මනුස්සකම ඉක්මවා ගිය තිරිසන් වැඩමනම් කරන්නෙ, ඒ කෙනා වැඩිපුරම උපාදාන කරගෙන ඉන්නෙ තිරිසන් සංඛාර. ඒ කියන්නෙ මනුස්ස කයක් දරාගෙන ඉන්න තිරිසනෙක්. ලෝක සම්මතයේ එහෙම වැඩ කරන අයට භාවිතා කරන වචන තියෙනවා. ''ඒ මිනිහ නම් කළේ මහ බලු වැඩක්. දැක්කද හොර පූස වගේ ඉඳගෙන සද්ද නොකර කරපු වැඩේ. ඒක නම් මහ ඌරෙක් වගේ ජරා වැඩමයි කරන්නෙ...'' ඔය අපට ඒ ඒ අය කරන වැඩ අනුව නිතර ඇහෙන වචන. කොහොමද එහෙම කියන්නෙ කියල ඇහුවොත්, බල්ලෙක් හරි පූසෙක් හරි ඌරෙක් හරි පෙන්වල, උන් හැසිරෙන විදිහ බලන්න කියනවා. ඒ කියන්නෙ මිනිස්සු අත්දැකීමෙන් දන්නව ඒ ජාතියේ වැඩ කළාම යන තැන. ඒකයි එහෙම කියන්නෙ.

කිසිම සතෙකුට උන්ගෙ දුකක් කරදරයක් අසනීපයක් කියන්න කෙනෙක් නෑ. වාහනයක හැපුනත් ඔහේ විඳ දරාගෙන ඉන්නවා. පෙර කරපු පිනක් තියෙනව නම් සමහර විට කෙනෙකුට සංවේගයක් ඇතිවෙලා ඒ සතාට කන්න ටිකක් දීල උදව්වක් කරන්න පුළුවන්. ඒත් හැම තිස්සෙම හැම සතාටම එහෙම වාසනාවක් නෑ. උන් නරක විපාක විඳින තැනක ඉපදිලා ඉන්න නිසා එන්නෙම නරකමයි. එතනින් මැරිල හොඳ තැනකට යයි කියල කියන්නත් බෑ. ඒක කොච්චර දුර්ලභද කියල ලොව්තුරා බුදුන් වහන්සේගේ ශ්‍රී මුඛ දේශනාවකින්ම පෙන්වන්න පුළුවන්.

**මහණෙනි, එපරිද්දෙන්ම යම් සත්වයෝ තිරිසන් යෝනියෙන් චුතව දෙවියන් අතර උපදිත්ද ඒ සත්වයෝ ඉතා ස්වල්ප වෙත්. යම් සත්වයෝ තිරිසන් යෝනියෙන් චුතව නිරයෙහි උපදිත්ද ඒ සත්වයෝම අතිශයින් බොහෝ වෙත්. ඊට හේතු කවරේද යත් සතර ආර්ය සත්‍යයන්ගේ නොදක්නා ලද බවය.** (තිරච්ඡාන නිරයගති සූත්‍රය - සංයුක්ත නිකාය - සච්ච සංයුක්තය - 11 පංචම ආමකධඤ්ඤ වර්ගය)

අනෙක් කොටස තමයි ප්‍රේත ලෝකය. මේ කියන්නෙ ඥාති ප්‍රේත කියන කොටස නෙවෙයි. මේ කොටසට අයිති සත්වයෝ මහා අපාගත දුකක් විඳින්නෙ. ඛුද්දක නිකායට අයිති පේත වත්ථු කියන ධර්ම ග්‍රන්ථයේ මේ ලෝකයේ දුක් විඳින සත්වයෝ ගැන ලොකු විස්තරයක් තියෙනවා. බුද්ධ සාසනයේ බුදුන් වහන්සේ ඇතුලු මහරහතන් වහන්සේලාගෙ දිවැසට හසුවෙච්ච දුක් විඳින ප්‍රේතයන් ගැන විස්තර මේ කොටසේ තියෙනවා. ඊට පස්සෙ තියෙන්නෙ විනිපාතික අසුර කියන කොටස. මහත් විසාල ශරීර ඇතිව ඒ ඒ තැන්වලම ඉන්න මහ දුකක් විඳින සත්ව කොටසක්.

ඉතින් කෙනෙකුට කියන්න පුළුවන් මේවා කොහේද තියෙන්නෙ, අපි කොහොමද දන්නෙ ඇත්තටම එහෙම ඒව තියෙනවද කියල. තිරිසන් අපාය දැකල තිබුනට අනෙක් ඒවා සාමාන්‍ය කෙනෙකුට පේන්නෙ නෑ. පේන්නෙ නැති දෙයක් කෙලින්ම නෑ කියන්න තමයි බොහෝ අය පුරුදු වෙලා ඉන්නෙ. පංච ඉන්ද්‍රියන්ට ගෝචර නැති දෙයක් පිලිගන්න බොහෝ අය කැමති නෑ. නමුත් ලොව්තුරා බුදුන් වහන්සේගෙ දේශනාවල අත් දැකීම් තියෙන අය උන් වහන්සේගෙ වචන, විශ්වාසයෙන් පිලිගන්න දෙපාරක් හිතන්නෙ නෑ. උන් වහන්සේගෙ දේශනාවලින් ලැබෙන මානසික සුවය අත්දැකීමෙන් දන්නවා, ඒ අනුව අනුමානයෙන් ලෝකය දකිනවා. ඇස්වලට දැක්කෙ නැති වුනත් යම් සංඛාරයකින් උපදින ජාතිය ගැන අවබෝධයක් තියෙනවා. බලු වැඩ කළා නම් බල්ලෙක් වෙලා තමයි නවතින්නෙ කියන න්‍යාය ධර්මය පැහැදිලියි. සංඛාරය බලු නම්, ඒ අනුව ඒ ප්‍රත්‍යයෙන් ගොඩ නගන විඤ්ඤාණ, නාමරූප, සලායතන, ස්පර්ශ, වේදනා, තණ්හා, උපාදාන, භව, ජාති සේරම බලු. මනුස්ස කයින් හිටියත් බලු ගතියක් තියෙන මනුස්සයෙක්. ඒකම උපාදාන කරගෙන හිටියොත් මරණින් මතු බලු කියන ජාතියේ උපදිනවා. මේ කාරණයට පැහැදිලි සාක්ෂියක් ලොව්තුරා බුදුන් වහන්සේම දේශනා කරල තියෙනවා.

සාරිපුත්‍රය, මම තිරිසන් යෝනියද දනිමි. තිරිසන් යෝනියට යන මගත් දනිමි. තිරිසන් යෝනියට යන්නාවූ ප්‍රතිපදාවත් දනිමි. යම් සේ පිළිපන්නේ ශරීරය බිඳීමෙන් මරණින් මත්තෙහි තිරිසන් යෝනියෙහි උපදීද, ඒ ද දනිමි. (මහා සීහනාද සූත්‍රය - මජ්ජිම නිකාය - සීහනාද වර්ගය)

තිරිසන් යෝනියට යන මග සහ ප්‍රතිපදාව තමයි මේ පෙන්නුවෙ. මූලික දහම් අවබෝධය තියෙන කෙනාට, තිරිසන් සංඛාරයෙන් පටන් අරන් තිරිසන් ජාතියක උපදින හැටි පටිච්ච සමුප්පන්නව හිතන්න පුළුවන්. ඒ වගේම තමයි අනෙක් තැනුත්. දිවැසකින් දැක්කෙ නැති වුනත් අනුමාන ඥානයෙන් දකින්න පුළුවන්. ඒ දකින්නෙ පටිච්ච සමුප්පාදය නමැති න්‍යාය ධර්මයෙන්. සංඛාරය දේව නම් ජාතිය දේව, සංඛාරය මනුස්ස නම් ජාතිය මනුස්ස. ඔය විදිහට තමන් තුලින්ම හිතල ගන්න පුළුවන්. ඒ වගේම තමයි තමන් වැටෙන්න යන දුකින් මුදව ගන්න පුළුවන්. මම මේ වැඩේ කළොත් යන තැන මටම තීරණය කරන්න පුළුවන්, ඒ වගේම තමයි ඒ වැඩේ නතර කළොත් මට ඒකෙ ප්‍රතිඵලයත් නවත්වන්න පුළුවන්. ඔය විදිහට තමයි සමුදයයි නිරෝධයයි දකින්නෙ. ඒ දැක්ක කෙනාට ඔය කියන සතර අපායෙන්ම මිදෙන්න පුළුවන්. අවසානයේ නිවන පූර්ණ කරගන්නත් පුළුවන්.

ඊළඟට මේ කියන සතර අපායට අමතරව සම්පූර්ණයෙන්ම අඳුරින් පිරිල තියෙන නරකයක් තියෙනවා. ඒ තමයි ලෝකාන්තරික නරකය. එහෙම නැත්නම් සක්වලාන්තරික නරකය. සක්වල තුනක් එකට එකතු වෙන තැන මැද තමයි මේ නරකය තියෙන්නෙ. නියත මිථ්‍යා දෘෂ්ටිය පිලිපැදල ඒ අනුව කටයුතු කරල, අනෙක් අයත් සමාදන් කරවන අය මේ නරකයට වැටෙනවා. කොච්චර කාලයකින් ගැලවෙයිද කියලත් හිතන්න බැරි තැනක්. ධර්මයේ සඳහන් වෙන ආකාරයට ඒ ස්ථානයට ආලෝක මාත්‍රයක් හෝ ලැබෙන්නෙ ලොව්තුරා බුදුවරයෙක් ලෝකයට පහල වෙච්ච මොහොතක විහිදෙන රැස්මාලාව නිසා. ඉතින් ඒ තරම්ම අඳුරේ තියෙන තැනක්. ඒක මේ බුද්ධ දේශනාවෙනුත් පැහැදිලියි.

**මහණෙනි, ලෝකයන්ගෙන් අතරෙහිවූ වැස්මක් නැත්තාවූ අඳුරෙන් පිරී ගියාවූ, මේ මහත් සෘද්ධි ඇත්තාවූ මහත් ආනුභාව ඇත්තාවූ චන්ද්‍ර සූර්යන්ගේ ආලෝකය නොවැටෙන්නාවූ ආකාශ කුහරයෝ ඇත්තාහ** (අන්ධාකාර සූත්‍රය - සංයුක්ත නිකාය - සච්ච සංයුක්තය - පපාත වර්ගය) ☞

# ලොව සැමට එක සේ පොදු අනිච්චතාව 6

## සංකල්පිත රාගය



අද බොහෝ දෙනෙකුට තියෙන ගැටළුවක් තමයි නිවන් දකින්න නිරෝධ කරන්නෙ මොකක්ද කියන කාරණය. මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේවාද, නැත්නම් කාමයද කියන කාරණය. ඒ වගේම සැප වේදනාව සහ ආස්වාදය කියන්නෙ එකක්ද, එහෙම නැත්නම් දෙකක්ද කියන කාරණය. මේවා ත්‍රිපිටකයේ තියෙන සූත්‍ර අනුසාරයෙන් පැහැදිලි කිරීමට දරන උත්සාහයක් තමයි මේ ලිපි පෙළෙන් කරන්නෙ.

ආර්ය විනයේ කාමය කියන්නෙ මොකක්ද? සංයුක්ත නිකායේ පළවන කාණ්ඩයේ 44 වන පිටුවේ එන නසන්ති සූත්‍රයේ කාමය පිළිබඳ පැහැදිලි අර්ථ කථනයක් තියෙනවා.

න තේ කාමා යානි චිත්‍රානි ලෝකේ සංකප්පරාගෝ පුරිසස්ස කාමෝ
තිට්ඨන්ති චිත්‍රානි තථේව ලෝකේ අථෙත්ථ ධීරා විනයන්ති ඡන්දං

මේ පාඨයේ සිංහල අනුවාදය මේ විදිහට දක්වල තියෙනවා.

ලෝකයෙහි විචිත්‍ර වූ යම් (රූපාදී) අරමුණු ඇත් ද ඒවා කාමයෝ නොවෙත්. පුරුෂයාගේ (ශුභාදී වශයෙන්) සංකල්පිත රාගය තෙමේ කාමයයි. ලෝකයෙහි විසිතුරු වූ (රූපාදී) අරමුණු එසේම සිටී. වැලිත් පණ්ඩිතයෝ මේ ආරම්මණයන්හි ඡන්දරාගය දුරු කෙරෙත්.

මේ අනුව **ලෝකයේ තියෙන මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවා කාමයෝ නෙවෙයි** කියල පැහැදිලිව පෙන්වා තියෙනවා. ඒ විචිත්‍ර අරමුණු කෙරෙහි හටගන්නාවූ සංකල්පිත රාගයට තමයි කාමය කියන්නෙ. එහෙම නැත්නම් කාමය කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවා කෙරෙහි ඇති කරගන්නා ඡන්ද රාගයට. තවත් පැහැදිලි කළොත් කාමය කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවායේ තියෙන එකක් නෙවෙයි. ඒ කියන්නෙ බාහිර දේවල්වල තියෙන එකක් නෙවෙයි. **සත්වයා මනසින් ගොඩනගාගන්න සංකල්පයකට තමයි කාමය කියන්නෙ.** ඒ කියන්නෙ විපාක ලෝකයේ තියෙන එකක් නෙවෙයි, ඇත්තක් නෙවෙයි, බොරුවක්, හූතයක්.

එහෙනම් කාමයෙන් මිදෙනවා කියන්නෙ මොකක්ද කියල හොඳට පැහැදිලි කරගන්න ඕන. මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවායින් මිදීම නෙවෙයි

ඉතින් තියෙන සැප එක්ක බැලුවම විඳින්න තියෙන දුක ඉතාම වැඩියි. සැපක් විඳින තැනකට ගියත් එතන දිගටම ඉඳියි කියල කාටද සහතිකයක් දෙන්න පුළුවන්? සුළු හෝ අතපසු වීමක් වුනොත් නැවතත් අර නරකාදියකට වැටෙනවා. එහෙම ගමනක් තමයි අපි මේ උඩ පැන පැන නට නට යන්නෙ. "ඉන්න ටික කාලෙ සතුටින් ඉමු මැරුණට පස්සෙ මොනව වුනත් මොකද?" සමහරු මෙහෙමත් කියනවා. ඒත් මැරුණ කෙනා තමයි දන්නෙ අර විදිහෙ නරකාදියකට වැටුනම සිද්ධ වෙන දේ. ඒ නිසා මේ සුළු නිමේෂයක් වගේ ලැබුන මනුස්ස ජීවිතය ඉතාම වටිනවා. ඊටත් වඩා වටින කාලයක තමයි අපි මේ ඉපදිලා ඉන්නෙ. ඒ කියන්නෙ ලොව්තුරා බුදුන් වහන්සේ නමකගෙ ශ්‍රී සද්ධර්මය තවමත් ලෝකයේ තියෙන කාලයක. ඒ වටිනා කාලයෙන් උපරිම ප්‍රතිඵල නෙලාගෙන, අඩුම තරමෙ සතර අපායෙන්වත් නිදහස් වෙන්න උත්සාහ කරන්න. එහෙම බැරි වෙලා ඉන්න අයට කවදා හෝ නිදහසක් ලැබේවා කියල මෙත් වඩන්න.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු සමග ධම්ම පද පාළිය - නිරය වග්ගය ඇසුරින් සකස් කළේ :*

**ෆික්රි ඉස්මයිල්**
පරිගණක ඉංජිනේරු - ගොතටුව
072-7536839

කාමයෙන් මිදීම කියන්නෙ. මේවා කෙරෙහි අපි මනසින් ගොඩනගා ගන්න ඡන්ද රාගයෙන්, එහෙම නැත්නම් සංකල්පිත රාගයෙන් තමයි මිදෙන්න ඕන. බුද්ධ සාසනයෙන් පිට අන්‍ය සාසනවල බමුණො නම් මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්මවලින් මිදෙන්න ඕන කියල පැනවීමක් කරනවා. එහෙම හිතාගෙන ලෝකයේ තියෙන හැමදේකටම බයේ කැලේට වෙලා හැංගිලා ඉඳන් කයට දුක් දෙමින් වත් පුරනවා. නමුත් ඇත්තටම මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවායින් මිදුනොත් අපිට පරිහරණය කරන්න ඉතිරි වෙන්නෙ අනිෂ්ට වූ රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම. හැබැයි ඒවා වැඩිපුරම තියෙන්නෙ සතර අපායේ. එහෙනම් සතර අපාගත ජීවිතයක් හා සමාන එකක් තමයි ගත කරන්න වෙන්නෙ. අද සමාජයේ එහෙම වත් පුරන, කයට දුක් දෙන අයත් නැතුව නෙවෙයි.

උදාහරණයක් විදිහට ගත්තොත් සමහරු මන වඩන රසයෙන් මිදෙන්න කොහොඹ කොළ කොටල බත් එක්ක බොහොම අමාරුවෙන් අප්පිරියාවෙන් කනවා. රස තෘෂ්ණාවෙන්, එහෙම නැත්නම් රසය කෙරෙහි ඇති ඡන්ද රාගයෙන් මිදීම වෙනුවට රසයෙන් මිදෙන්න හදනවා. එතකොට සිද්ධ වෙන්නෙ බලෙන් දුක් විඳින එක. හැබැයි ඔවුන්ට එහෙම වෙන්නත් හේතුවක් තියෙනවා. පෙර කරන ලද පාප කර්මයක විපාකයක් විදිහට බොහෝකොටම අනුන් රැවටීමේ හේතු ඵලයක් විදිහට තමයි ඔවුන්ට හොඳට කන්න පුළුවන්කම තියෙද්දිත්, ඒ විදිහට මෝහයෙන් වැහිල බලෙන් දුක් විඳින්න සිද්ධ වෙලා තියෙන්නෙ.

හැබැයි මේ කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම පස්සෙ යන්න කියන එක නෙවෙයි. ඒවා අවශ්‍යතාවයට පරිහරණය කළත් ඒවායේ ඇලෙන්න බැඳෙන්න එපා කියන එකයි මේ කියන්නෙ. ඇලීමකින්, බැඳීමකින් තොරව පරිහරණය කරනවා. ඒවා කෙරෙහි ඇලීමක් බැඳීමක් නැත්නම් ඒවාට යම් උපද්‍රවයක් වුනත්, ඒවා විනාසයට පත් වුනත්, ඒවා නොලැබුනත් අපිට ප්‍රශ්නයක් නෑ. ඒ ගැන දුකක් ගොඩනගන්න විදිහක් නෑ. ඇලීමේ බැඳීමේ තරමටම දුක ගොඩනගනවා. ඇලීම බැඳීම වැඩි නම් දුකත් වැඩියි. ඒ කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්මවලට ඇලීම බැඳීම නිසා දුක කියන එක අපිම ගොඩනගා ගන්නව මිසක් මන වඩන රූප, ශබ්ද... ධර්මවලට හැකියාවක් නෑ අපිට දුකක් දෙන්න හෝ අපිව සසර ගමනක අරගෙන යන්න. පෙර පින් කරල තියෙනව නම් ඒවායේ විපාක විදිහට අපිට මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම ලැබෙනවා. ඡන්ද රාගයෙන් යුක්තව මතු මතුත් ඒවා ලබාගැනීමේ බලාපොරොත්තුවෙන් කටයුතු කළොත් තමයි අපි කාමයට වැටෙන්නෙ. එතකොට තමයි අනන්ත සසර ගමනක් යන්න වෙන්නෙ.

එතකොට මේ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන්නෙ උපාදාන නෙවෙයි. ඒවා උපාදානීය ධර්ම. ඒ කියන්නෙ උපාදානයට හිතකර දේවල්. ඒවා ලෝකයේ තිබුන කියල අපිට දුකක් හටගන්නෙ නෑ. එතකොට මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ වලට ආර්ය විනයේ කියන්නෙ මොකක්ද කියල මජ්ඣිම නිකායේ පළවෙනි කාණ්ඩයේ 200 වන පිටුවේ එන මහා <u>දුක්ඛක්ඛන්ධ සූත්‍රයේ</u> මේ විදිහට දක්වා තියෙනවා.

"මහණෙනි, මේ කාම ගුණ පසෙකි. කවර පසෙක්ද? චක්ඛු විඥ්ඥාණයෙන් දත යුතු වූ ඉෂ්ට වූ කාන්ත වූ මන වඩන්නා වූ ප්‍රිය රූප වූ රාගය ඉපදීමට කරුණු වූ රූපයෝය. සෝත විඥ්ඥාණයෙන් දත යුතු වූ... ශබ්දයෝය. ඝාන විඥ්ඥාණයෙන් දත යුතු වූ... ගන්ධයෝය. ජිව්හා විඥ්ඥාණයෙන් දත යුතු වූ... රසයෝය. කාය විඥ්ඥාණයෙන් දත යුතු වූ ඉෂ්ට වූ කාන්ත වූ මන වඩන්නා වූ ප්‍රිය රූප වූ කාමෝපසංහිත වූ රාගය ඉපදීමට කරුණු වූ ස්පර්ශයෝය. මහණෙනි, මේ පංචකාම ගුණයෝයි."

ඒ කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බවලට කියන්නෙ පංචකාම ගුණ කියල. ඒ පංචකාම ගුණ කෙරෙහි මනසින් ඇති කර ගන්නා වූ සංකල්පිත රාගයට තමයි කාම කියන්නෙ. එහෙම නැත්නම් ඒවා කෙරෙහි ඇති කර ගන්නා ඡන්ද රාගයට. මේ මහා දුක්ඛක්ඛන්ධ සූත්‍රය දේශනා කරන්න හේතු වුනෙත් අන්‍ය පරිබ්‍රාජිකයින් භික්ෂූන් වහන්සේලා- ගෙන් අහපු ප්‍රශ්නයක් මුල් කරගෙන. ඒ ප්‍රශ්නය තමයි අන්‍ය පරිබ්‍රාජිකයින් පනවන කාම ප්‍රහානය සහ තථාගතයන් වහන්සේගේ කාම ප්‍රහානය අතර වෙනස මොකක්ද කියන එක.

ඉහත නසන්ති සූත්‍රයේ එන ගාථා පාඨයේ සඳහන් කළා වගේ පණ්ඩිතයෝ විසිතුරු අරමුණු කෙරෙහි ඡන්ද රාගය දුරු කිරීමෙන් දුකෙන් මිදෙනවා. එතකොට විසිතුරු අරමුණු ලෝකයේ ඒ විදිහටම පවතිනවා. ඇත්තටම බාහිර මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ, ධර්ම කියන මේවායේ නම් කාමය හෙවත් ඡන්ද රාගය තිබුනෙ, අපිට ඒ බාහිර දේ තියෙනකල් දුකෙන් මිදෙන්න විදිහක් නෑ. දුක කියන්නෙ පටිච්ච සමුප්පන්නව මනසින් ගොඩනගන එකක් මිසක් බාහිරින් අපිට ඉබේ පහළවෙන එකක් නෙවෙයි. හැබැයි මේ කියන්නෙ විපාක දුක ගැන නෙවෙයි. අපිට ජීවත් වෙලා ඉඳෙද්දි නිරෝධ කරන්න පුළුවන් දුක ගැන තමයි මේ කියන්නෙ. ඒ කියන්නෙ උපාදානස්කන්ධ දුක. විපාක දුක හෙවත් පංචස්කන්ධ දුක රහතන් වහන්සේට විතරක් නෙවෙයි, බුදු පියාණන් වහන්සේටත් පැමිණීම ස්වභාවයක්. ඒ සඳහා සාක්ෂියක් විදිහට සංයුක්ත නිකායේ පළවන කාණ්ඩයේ 48 වන පිටුවේ එන <u>සකලික සූත්‍රය</u> දක්වන්න පුළුවන්.

තේන ඛෝ පන සමයේන භගවතෝ පාදෝ සකලිකාය ඛතෝ හෝති භුසා සුදං භගවතෝ වේදනා වත්තන්ති සාරීරිකා වේදනා දුක්ඛා තිබ්බා ඛරා කටුකා අසාතා අමනාපා. තා සුදං භගවා සතෝ සම්පජානෝ අධිවාසේති අවිහඤ්ඤමානෝ

අථ ඛෝ භගවා චතුග්ගුණං සංඝාටිං පඤ්ඤාපෙත්වා දක්ඛිණේන පස්සේන සීහසෙය්‍යං කප්පෙති පාදේ පාදං අච්චාධාය සතෝ සම්පජානෝ.

මේ පාඨයේ සිංහල අනුවාදය මේ විදිහට දක්වල තියෙනවා. එකල්හි භාග්‍යවතුන් වහන්සේගේ පාදය ගල් පතුරකින් පහළේ වේ. භාග්‍යවතුන් වහන්සේට දුක් වූ දැඩි වූ රළු වූ තියුණු වූ නොමිහිරි වූ අමනාප වූ බලවත් ශාරීරික වේදනාවෝ පවතිත්. භාග්‍යවතුන් වහන්සේ සිහි ඇතිව මනා නුවණ ඇතිව නොපෙළෙමින් ඒ වේදනාවන් ඉවසන සේක.

එකල්හි භාග්‍යවතුන් වහන්සේ සඟළ සිවුර සිවුගුණ කොට පනවා දකුණු පයෙහි වම් පය මඳක් මෑත් කොට තබා දකුණු පසින් සිංහසෙය්‍යාව කරන සේක.

දෙව්දත් තෙර බුදුන් ☞

වහන්සේට ගල් පෙරලපු අවස්ථාවෙ උන් වහන්සේගෙ ශ්‍රී පාදය ගල් පතුරකින් තැලිල ඇති වෙච්ච ශාරීරික වේදනාව ගැන මේකෙන් පැහැදිලි වෙනවා. ඒ තමයි මස් ලේ කයට එන විපාක දුක. හැබැයි මේ කියන විපාක දුකත් නිරෝධ සමාපත්තියේදි දැනෙන්නෙ නැතිව යනවා. **නිරෝධ සමාපත්තියේදි සිතිවිලි, ක්‍රියා, වදන් සියල්ලම නිරෝධයි. ඒ වෙලාවට කය තුවාල කරන්න හෝ විනාස කරන්න හෝ බෑ. බුදු, පසේ බුදුවරුන්ටත්, අෂ්ට සමාපත්තිලාභී මහරහතන් වහන්සේලාටත් උපරිම වශයෙන් දින 7 ක් නිරෝධ සමාපත්තියට සම වදින්න පුළුවන්. සමහර අනාගාමී උතුමන්ටත් ඊට වඩා අඩු කාලයක් සම වැදිල ඉන්න පුළුවන්. හැබැයි විපාක දුකෙන් බේරෙන්න කියල දින 7 කට වඩා ඉන්නත් බෑ. ඒකත් අනිච්චයි. කැමති සේ නෑ.**

වතාවක් සැරියුත් මහ රහතන් වහන්සේ නිරෝධ සමාපත්තියෙන් ඉන්න වෙලාවක, බලවත් යක්ෂයෙක් උන් වහන්සේට ටොක්කක් ඇන්නා. ඒත් උන් වහන්සේට ඒ කිසිවක් දැනුනෙ නෑ. නමුත් නිකං ඉන්න වෙලාවක ඒ ටොක්ක ඇන්නනම් උන් වහන්සේගෙ ශරීරය කුඩු පට්ටම් වෙන්න ඉඩ තිබුණ බවත් ධර්මයේ සඳහන් වෙනවා. ඒ තරම් විසාල බලයක් යොදල තමයි ඒ ටොක්ක ඇනල තිබුණෙ. නමුත් නිරෝධ සමාපත්තියේ හිටපු නිසයි උන් වහන්සේ බේරුණේ. ඉතින් බුදුන් වහන්සේටත් ශාරීරික වේදනාවක් ආපු වෙලාවට ඒකෙන් වළකින්න නිරෝධ සමාපත්තියට සම වදින්න පුළුවන් වුනත්, හැම වේදනාවකටම නිරෝධ සමාපත්තියට සම වදින්න යන්නෙ නෑ. ඉවසීමෙන් විඳ දරා ගන්න පුළුවන් ඒවා ඉවසීමෙන් විඳ දරාගන්නවා. ඉවසීමේ උපරිමය කරනවා. මජ්ජිම නිකායේ 1 වන කාණ්ඩයේ 18 වන පිටුවේ එන සබ්බාසව සූත්‍රයේ දක්වා ඇති ආශ්‍රව පහ කරන ක්‍රම අතර අධිවාසනා පහා තබ්බ කියල කොටසකුත් තියෙනවා. අධිවාසනා කියන්නෙ ඉවසීම. අධිවාසේ තුනෝ භන්තේ කියන්නෙත් ඉවසා වදාරන්න කියන කාරණය. ඉවසීමෙන් පහ කරන කොටස තමයි අධිවාසනා පහා තබ්බ කියන්නෙ.

එතකොට ඉහත විස්තරයෙදි, බුදුන් වහන්සේ නොපෙලෙමින් ඒ වේදනාව ඉවසුවයි කියල සඳහන් වෙනවා. සාමාන්‍ය ලෝකයා නම් කරදරයක් වුනාම, ඉවසීමෙන් විඳ දරා ගන්න බැරි වුනාම පෙලෙනවා, වැළපෙනවා, කෑගහනවා, විලාප තියනවා, අඬනවා, දුක් වෙනවා. නමුත් ඉවසීමේදි පෙලෙන්නෙ නෑ. බුදුන් වහන්සේ හෝ රහතුන් වහන්සේ විපාක දුක් එන කොට අනිත් අය වගේ පෙලෙන්නෙ නෑ. ඒ වේදනාව, අපහසුව දැනුනත් ඒක විඳ දරාගන්න උන් වහන්සේලාට ශක්තිය තියෙනවා. ඒ වේදනාව කෙරෙහි හෝ ඊට මූලික වෙච්ච පුද්ගලයා හෝ සිද්ධිය කෙරෙහි ද්වේශයෙන් බැඳෙන්නෙ නෑ. මොකද උන් වහන්සේලා ද්වේශක්ඛයයි.

නිවන් පූර්ණ කිරීම අවස්ථා දෙකකදී සිද්ධ වෙනවා. සේක පුද්ගලයෙක් (සෝවාන්, සකෘදාගාමී, අනාගාමී) අරිහත් බවට පත්වෙන



කොට සෝපාදිසේස නිර්වාන ධාතුවෙන් නිවන් පූර්ණ කරනවා. ඒ කියන්නෙ ස+උපදි+සේසයි. උපදි සේසයක් සහිතයි. නමුත් කෙළෙස් පරිනිර්වාණය වෙනවා, කෙළෙස් ගින්නෙන් පූර්ණව නිවෙනවා. හැබැයි තමන්ගෙ පංචස්කන්ධ දුක ඉතිරියි. ඒක තමයි උපදිසේසයි කිව්වෙ. දුක විතරක් නෙවෙයි පංචස්කන්ධයට දැනෙන සැප, උපේක්ඛා වේදනා 2 ත් ඉතිරියි. ඒ කියන්නෙ පෙර භවයේ අවිද්‍යාවෙන් ගොඩනගා ගත් මේ කයට විඳින්න සිද්ධ වෙන විපාක සැප, දුක්, උපේක්ෂා වේදනා ටික ඉතිරියි. එතකොට මිදුනෙ මොකෙන්ද? පටිච්ච සමුප්පන්නව ඒ ඒ මොහොතේ තමන් විසින් ගොඩනගන දුකෙන් තමයි මිදුනෙ. මොන අරමුණක් ආවත් ඒ දුක නම් නැවත ගොඩනගන්නෙ නෑ. රාගය නිසා හෝ ද්වේශය නිසා හෝ මෝහය නිසා නැවත බයට, එහෙම නැත්නම් පහත් බවට පත් වීමක් වෙන්න හේතු නෑ. රාග, ද්වේශ, මෝහ අනුශය ප්‍රහීනයි. ඒ කියන්නෙ රාග, ද්වේශ, මෝහ අනුව නැවතත් සයනය කරන්න හේතු නෑ.

පිරිනිවන් පාන දවසට අනුපදිසේස නිර්වාන ධාතුවෙන් නිවන පූර්ණ කරනවා. ඒ කියන්නෙ න+උපදි+සේසයි. උපදි සේසයක්වත් ඉතිරි නැති බව තමයි ඒකෙන් අදහස් වෙන්නෙ. විපාක සැප, දුක්, උපේක්ෂා වේදනා ටිකත් එදාට නිරෝධයි. එදාට ගත හිත දෙකම අවිද්‍යමානයි. නැවත ගතක් හිතක් විද්‍යමාන වෙන්නෙ නෑ. පිරි නිවෙනවා, පූර්ණව නිවෙනවා. එතකොට විපාක විඳින්නෙක් විද්‍යමාන වෙන්නෙ නෑ. පිරිනිවන් පාපු රහතන් වහන්සේ ලෝකයෙන් එතෙර වුනා. ලෝකයේ කිසිවකින් නැවතත් පනවන්න බෑ. ඒ කියන්නෙ රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ-වලින් හෝ ලෝකය පනවන වෙනත් කිසිම ආකාරයකින් පනවන්න බෑ. ඉතින් මේ සෝපාදිසේස නිර්වාන ධාතුවෙන් නිරෝධ වෙන්නෙ මොනවද, අනුපදිසේස නිර්වාන ධාතුවෙන් නිරෝධ වෙන්නෙ මොනවද කියල පැහැදිලිව වටහගන්න ඕන.

අංගුත්තර නිකායේ 6 වන කාණ්ඩයේ 250 වන පිටුවේ කාමාධිවචන සූත්‍රයේ, ආර්ය විනයේ කාමයට භාවිතා කරන අධි වචන, එහෙම නැත්නම් සමාන වචන රාශියක් දක්වා තියෙනවා.

භයන්ති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, දුක්ඛන්ති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, රෝගෝති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, ගණ්ඩෝති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, සල්ලන්ති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, සංගෝති භික්ඛවේ, කාමානමේතං අධිවචනං පංකෝති භික්ඛවේ, කාමානමේතං අධිවචනං, ගබ්භෝති භික්ඛවේ, කාමානමේතං අධිවචනං

සිංහල අනුවාදය මේ විදිහට දක්වල තියෙනවා.

**මහණෙනි, භය යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, දුක්ඛ යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, රෝග යන මෙය**

**කාමයනට නමෙකි. මහණෙනි, ගණ්ඩ යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, සල්ල යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, සංග යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, පංක යන මෙය කාමයනට නමෙකි. මහණෙනි, ගබ්භ යන මෙය කාමයනට නමෙකි.**

මේ අනුව භය කියන්නෙ කාමයට කියන තවත් නමක්. එහෙම වෙන්නෙ කොහොමද කියල විස්තර කරල තේරුම් ගන්න ඕන. උදාහරණයක් විදිහට අම්ම කෙනෙකුට පොඩි දරුවෙක් ඉන්නව කියල හිතමු. මේ දරුවා උදේ පාසල් යනවා. දවල් වෙද්දි අම්මට ආරංචි වෙනවා පාසලේ බෝම්බයක් පිපිරිලා කියල. අම්මට දැන් මොකද වෙන්නෙ? හොඳටම භය වෙනවා, කලබල වෙනවා. දරුවගෙ පියාට කතා කරනවා. හරියට ඇඳුමක්වත් ඇඳගන්නෙ නැතිව සිහිවිකල්ලෙන් පාසලට දුවනවා. කෑ මොර දිදී දරුවා සොය සොයා ඇවිදිනවා. එතකොට මේ අම්ම ඇයි භය වුනේ? දරුවට අනතුරක් වෙලා ඇති කියල හිතාගෙන. තාම හරියට දන්නෙත් නෑ මොකද වෙලා තියෙන්නෙ කියල. ඒත් අම්ම දරුවා කෙරෙහි ඡන්ද රාගයෙන් බැඳිල, දරුවා කෙරෙහි සංකල්පිත රාගයක් මනසින් ගොඩනගාගෙන. ඒ කියන්නෙ කාමයෙන් බැඳිල. ඒ නිසා භයක් ගොඩනගාගෙන. එහෙනම් භය කියන්නෙ කාමයට කියන අධි වචනයක් වෙන්නෙ කොහොමද කියල මේ විදිහට තේරුම් ගන්න ඕන. **භය හෙවත් කාමය කියන්නෙ අපි ඒ ඒ මොහොතේ හිතින් ගොඩනගන එකක් මිසක් විපාක ලෝකයේ තියෙන එකක් නෙවෙයි. ඒ කියන්නෙ බොරුවක්, භූතයක්.**

අපි භයක් ගොඩනගා ගත්තොත් අපිට වෙන්නෙ හොඳක්ද නරකක්ද? මේ කාරණයත් උදාහරණයකින් පැහැදිලි කර ගනිමු. එක අම්ම කෙනෙක් තමන්ගෙ දරුවට සිහිය නැති වෙලා රෝහලට රැගෙන එනවා. ඒ අම්ම හොඳටම භය වෙලා, හොඳටම අඬ අඬා තමයි දරුව වඩාගෙන එන්නෙ. දැන් වෛද්‍යවරයා දරුවව පරීක්ෂා කරල අම්මගෙන් විස්තර අහනවා. ඒ අම්මට අඬනව ඇරෙන්න වෛද්‍යවරයා අහන ප්‍රශ්නවලට උත්තර දෙන්න තරම් ප්‍රකෘති සිහියක් නෑ. වෛද්‍යවරයා දරුව පරීක්ෂා කරල හෙදියන්ට උපදෙස් දීල යන්න යනවා. දැන් ඒ අම්ම දරුවට කළේ හොඳක්ද නරකක්ද? වෛද්‍යවරයට ඒ සිද්ධියට අදාල කරුණු හරියටම කිව්ව නම් ඒක ප්‍රතිකාර කරන්න ලොකු උදව්වක් වෙනවා. දරුවට මේ අසනීපය නිතර හැදෙන එකක්ද, නැත්නම් එවෙලෙ දරුව වැටුනද... මේ ආදී කිසිම දේකට ඒ අම්මගෙන් පිළිතුරු නොලැබුන නිසා වෛද්‍යවරයා ඒ අවස්ථාවෙදි ඔහුට කරන්න පුළුවන් දේ කරල යන්න ගියා. නමුත් ඒ අම්ම භය නොවී හොඳ සිහියෙන් හිටියනම්, දරුවට ඊට වැඩි ප්‍රතිකාරයක් ඉක්මනින් කළ හැකිව තිබුණා. භය වුනොත් කිසි දෙයක් හරියට කර ගන්න බෑ කියල අපි අතර කතාවකුත් තියෙනවා.

එතකොට දරුවා කියන්නෙ කවුද? ජාති ධර්මයක්. ජාති ධර්මවල උරුමය මොකක්ද? ලෝකයේ යම් ජාතියක් උදාවුනා නම් ඒකට ජරා මරණ උරුමයි. ඒ නිසා ඒ වගේ ජාති ධර්මයක් කෙරෙහි සංකල්පිත රාගයක් ගොඩනගා ගත්තොත් අපිට ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසවලින් බේරෙන්න බෑ. ඒ අනුව දුක්ඛ කියන එක කාමයට අධි වචනයක් වෙන හැටි මේ විදිහට තේරුම් ගන්න ඕන.

මේ කාරණය තවත් උදාහරණයකින් මේ විදිහට පැහැදිලි කරන්න පුළුවන්. අපි දුර ගමනක් යනවා. ටික දුරක් ගියාට පස්සෙ මතක් වෙනවා ගෙදර දොර වහන්න අමතක වුනා කියල. දැන් මොකද වෙන්නෙ? භය වෙනවා. ඇයි භය වෙන්නෙ? අපි ගෙදර තියෙන බඩු මුට්ටුවලට වටිනාකමක් දීල තියෙනවා. ඒවා කෙරෙහි සංකල්පිත රාගයක්, කාමයක් ඇති කර ගෙන ඡන්ද රාගයෙන් බැඳිල. දැන් ඒවා කවුරු හරි හොරෙන් ගනියි කියල භය වෙනවා. ගෙදර දොරේ බඩු මුට්ටු කෙරෙහි ඡන්ද රාගයක් නැත්නම් අපිට භය වෙන්න හේතුවක් තියෙනවද? එහෙනම් භය කියන්නෙ කාමයට කියන අධි වචනයක් බව හොඳට පැහැදිලියි.

ඒ අනුව ඉහත සූත්‍රයේ කාමයට අධි වචන විදිහට දක්වල තියෙන අනෙකුත් වචන වන රෝග, ගණ්ඩ, සල්ල, සංග, පංක, ගබ්භ කියන මේවත් ඒ විදිහට විස්තර කරන්න පුළුවන්. කාමය කියන්නෙ රෝගයක්, ලෙඩක්. කාමයෙන් මත් වුනාම ඒක ගින්නක්. කාමයෙන් නික්මීම නිරෝගි වීමක්. නිරෝගි හෙවත් ආරෝග්‍ය කියන්නෙ නිවනට නමක්. භයෙන් මිදුනම අභය වෙනවා. අභය කියන්නෙ නිවනට කියන නමක්. දුක්ඛ කියන්නෙ කාමයට කියන නමක්. දුකෙන් මිදීමට නිදුක් කියනවා. නිදුක් කියන්නෙ නිවනට කියන නමක්. සල්ල කියන්නෙ උලට. එහෙනම් කාමය කියන්නෙ උලක්. සංග කියන්නෙ කෙලෙස්වලට. කාමය කියන්නෙ ක්ලේශයක්. පංක කියන්නෙ මඩට. කාමයෙන් මත් වීම මඩේ ලැගීමක්, මඩ තවරා ගැනීමක්. ගබ්භ කියන්නෙ යම් කිසි තැනක ගැබ් ගන්නවා, රැඳී හිටිනවා, පැලපදියම් වෙනවා, ඇලිල බැඳිල ඉන්නවා කියන එක. කරණීයමත්ත සූත්‍රයේ, කාමේසු විනෙය්‍ය ගේධං නහිජාතු ගබ්බ සෙය්‍යං පුනරේතීති කියන්නෙ, කාමයෙන් වෙන් වුනාම නැවත ගැබකට පැමිණීමක් නෑ කියන එක. මේ විදිහට ආර්ය විනයේ ලෝකෝත්තර අර්ථ වටහ ගන්න ඕන.

පංච කාම ගුණවලට, ඒ කියන්නෙ මන වඩන රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බවලට ඡන්ද රාගයෙන් බැඳීම පූර්ණ වශයෙන් ප්‍රහීන වුන දාට නිවන පූර්ණයි. නිවන පූර්ණ කරන කල් සේඛ පුද්ගලයා පවා දුකෙන් පූර්ණව මිදිල නෑ. එක අවස්ථාවක අනාගාමී භික්ෂුවක්, දැන් ඉතින් මම මැරුණත් උපදින්නෙ සුද්ධාවාස බඹ ලොව කියල නිවන් පූර්ණ කිරීමේ උත්සාහය වීර්ය අඩු කරල ඉන්න වෙලාවක තථාගතයන් වහන්සේ අහනවා, මහණ ඔබේ අතේ අසූචි තවරගෙන හොඳට අත පිහිද ගත්තොත් ඒ අතේ දුගඳ නැති වෙනවද කියල. දුගඳ නැති වෙන්නෙ නෑ කියල උත්තර දුන්නම උන් වහන්සේ ඒ කාරණය සුද්ධාවාස බඹ ලොව ඉපදීමට උපමා කළා. ඒ කියන්නෙ සුද්ධාවාසෙවත් නැවත උප්පත්තියක් ලබන්න සුද්ධ තැනක් කියල උන් වහන්සේ දේශනා කළේ නෑ.

ඒ නිසා හැකි ඉක්මනින් කාමයේ ආදීනව දකල, තුන් ලෝකෙ කොහේ හිටියත් අනිච්චතාවය කියන ධර්මතාවයෙන් මිදෙන්න බැරි බව වටහගෙන වීර්ය වඩල ප්‍රමාද නොවී හැකි ඉක්මනින් භයංකර සසරෙන් මිදෙන්න උත්සාහ කරන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**

# බුදුන් වහන්සේ පෙන්වා දුන් ආරෝග්‍යය....

(පසුගිය කලාපය හා සම්බන්ධයි)

ආරෝග්‍යා පරමා ලාභා කියන බුද්ධ දේශනාවේ ලෝකෝත්තර අර්ථය අද වෙන කොට මතු වෙලා තියෙනවද නැත්නම් යටපත් වෙලා තියෙනවද කියන කාරණය හොයල බැලුවොත්, ඒකාන්තයෙන්ම ඒක අර මාගන්දි බමුණගෙ ලෞකික අර්ථයට යට වෙලා තියෙන බව ඔප්පු වෙනවා. ලේ දන් දෙන තැන්වලත්, ආරෝග්‍ය ශාලාවලත් "ආරෝග්‍යා පරමා ලාභා" කියන පාඨය ඉදිරියට දාගෙන නිරෝගිකම පරම ලාභයයි කියල කයේ නිරෝගිත්වය සම්බන්ධයෙන් උදම් අනනවා. මේ කාලයේ බොහෝ කොටම ධර්ම දේශනා අහන්න ලැබෙන්නෙත් ඔය කියන ලෞකික අර්ථයෙන්මයි. මීට වඩා අර්ථයක් අපිට මේ කාලයේ අහන්න ලැබෙනව අඩුයි.



එදා මාගන්දිය බමුණා මේ කියන ලෞකික අර්ථය මතු කරන කොට බුදුන් වහන්සේ ඒ කාරණය පහදා දෙමින් මාගන්දියට ධර්ම දේශනා කළා. ''**මාගන්දිය මේ කය වූ කලී රෝගයක් වැනි වූයේ, ගණ්ඩයක් වැනි වූයේ, ශල්‍යයක් වැනි වූයේ, දුක්ඛයක් වැනි වූයේ, ආබාධයක් වැනි වූයේ වෙයි. එබඳු වූ මේ කය ගෙන තෙපි, මේ ඒ ආරෝග්‍යයයි, මේ ඒ නිර්වාණයයි කියති. මේ අඥානයෝයි, මෝඩයෝයි, පෘථජ්ජනයෝයි. මාගන්දිය යම් ආර්ය වූ ඇසකින් දකින ආරෝග්‍යය හා නිර්වාණය තොපට නැත**". ඊට පස්සෙ බුදුන් වහන්සේගෙන් සාසනික අර්ථය අහල දැනගත්තු මාගන්දිය බමුණට දහම් ඇස පහල වෙලා සාසනයේ පැවිදි වෙලා බ්‍රහ්මචරියාව පූර්ණ කරගෙන නිවන් අවබෝධ කර ගන්නත් පුළුවන් වුණා.

දැන් මෙතනදි වටින දහමක් හෙළි වෙනවා. ඒ කියන්නෙ ආර්ය ඇසකින් දැකිය යුතු දහම් අර්ථ ලෞකික ක්‍රමවේදවල පිහිටල දකින්න බැරි බව වටහ ගන්න ඕන. ආරෝග්‍යය, නිරෝගි බව කියන වචන මොන භාෂා නිරුක්තියකින්, පද පෙළකින් කිව්වත් ආර්ය වූ දහම් ඇසින් දකින අදහස ඒ දහම් ඇස පහල වෙච්ච අයටම මිසක් පෘථජ්ජන මනසකින් දකින්න බෑ. මෙතනදි ආ+රෝග්‍ය කියන කොට රෝගය කියන්නෙ සංසාරය. ඒ කියන්නෙ සංසාරය රෝගයක් විදිහට දකින්න ඕන. රෝගයක් කියන්නෙ ඇසුරු කරපු ගමන්ම විස බීජයක් වගේ හානිකර දෙයක්. ඇසුරු කරපු තැන් පටන් දුක් කරදරමයි එන්නෙ. කායික, මානසික දෙකෙන්ම පෙළෙනවා. ඒ තමයි සංසාර රෝගයේ හැටි. ඒ රෝගයෙන් මිදුණ දාට තමයි ආරෝග්‍යය ලැබෙන්නෙ. මේ තමයි ආර්ය අර්ථය.

මේ කාරණය දහම් තුළින් දැක්කට පස්සෙ ඒ පුද්ගලය දැන ගන්නවා, මේ ලෝකයට / පංචස්කන්ධයට තියෙන උපාදානය කියන්නෙ හොඳ දෙයක් නෙවෙයි කියල. නමුත් පංචස්කන්ධයට මුලින් ඡන්ද රාගයෙන් බැඳුණෙ හොඳයි කියල හිතාගෙන. දැන් දහම් ඇස පහල වුණාට පස්සෙ ඒ ඡන්ද රාගයෙන් බැඳීමම දුකට හේතු වන දුක් ගොඩක් කියල දකිනවා. එතකොට මෙච්චර කල් පංච උපාදානස්කන්ධය සාරයි කියල හිතාගෙන හිටපු පුද්ගලයා ඒවා අසාර දේවල් කියල දැකල, සාරයි කියන දෘෂ්ටියෙන් මිදෙනවා. යම් රූප ස්කන්ධයක්, වේදනා ස්කන්ධයක්, සංඥා ස්කන්ධයක්, සංඛාර ස්කන්ධයක්, විඤ්ඤාණ ස්කන්ධයක් කියන මේ පොදියට ඡන්ද රාගයෙන් බැඳුණ නම්, ඒ උපාදානස්කන්ධය පිළිබඳ ඡන්ද රාගය දැන් දුරුවෙනවා. මේ තමයි දහම් ඇස පේන්න පටන් ගත්තට පස්සෙ සිද්ධ වෙන දේ. මෙච්චර කාලයක් මේ පංචස්කන්ධය නමැති රෝගය, සැරව පිරුණු ගෙඩිය, උල හොඳයි කියල හිතාගෙන හිටියෙ. එහෙනම් මේ රෝගය මොකක්ද? මේ පංචස්කන්ධය කෙරෙහි තියෙන ඡන්ද රාගය, එහෙම නැත්නම් මේ පංච උපාදානස්කන්ධය තමයි රෝගය. ඒකට ඡන්ද රාගයෙන් බැඳුණෙ නොදැනු-වත්කම නිසා. එහෙනම් මෙන්න මේ රෝගයෙන් නිරෝගි භාවය යම් තැනක ලබනව නම් ඒක පරම ලාභයක් කියල දැන ගන්නවා.

මේ ටික දැන ගත්ත කෙනාට උපාදාන නිරෝධ වුණා නම් භව නිරෝධයි. භව නිරෝධ නම් ජාති නිරෝධයි. ජාති නිරෝධ නම් ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස සියල්ලම නිරෝධයි. දැන් ඔහු දන්නවා, එහෙනම් ආරෝග්‍යය මොකක්ද නිවන මිසක් වෙන එකක් නෙවෙයි කියල. උපාදානයෙන් මිදීමක්, අත්හැරීමක්, නොඇල්මක් ඇත්ද එතැනට පත් වුණාට පස්සෙ නිබ්බානං පරමං සුඛං කියන පරම සුඛය දකිනවා.

මේ විදිහට බුදුන් වහන්සේ ආරෝග්‍ය වෙන්නෙ කොහොමද කියල හේතු සාධක ඇතිව පෙන්වා දුන්නා. එහෙනම් මොනවටද ආරෝග්‍ය කිව්වෙ? අපිට හැදෙන උණ,

හෙම්බිරිස්සාව, කැස්ස... ආදී රෝග සනීප වීමට නෙවෙයි, ඇගේ තියෙන කුෂ්ට රෝග සනීප වීමට නෙවෙයි. පංච උපාදානස්කන්ධය බොහොම ප්‍රියයි මනාපයි යහපතයි කියල අර ගත්තෙ මුළාවට පත්වෙලා. ඒක තමයි රෝගය. දහම් ඇස පහල වුණාට පස්සෙ මේ රෝගය දකිනවා. එහෙනම් පංච උපාදානස්කන්ධය නමැති රෝගයේ ඉන්න තාක් උපාදාන පච්චයා භවෝ-භව පච්චයා ජාති-ජාති පච්චයා ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසා සම්භවන්තී කියන තැනට වැටෙනවා. එතකල් රෝගයෙන් නිදහස් වීමක් නෑ. මේ තමයි දුක.

එහෙනම් ආරෝග්‍යා පරමා ලාභා කියන කොට මොකක්ද ආරෝග්‍යය වෙන්නෙ? මේ පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් අසාරත්වයෙන් දැක්කට පස්සෙ, මෙච්චර කාලයක් ප්‍රියයි මනාපයි යහපතයි කියල හිතාගෙන හිටපු ඒ හරයක් නැති අසාර කුණු ගොඩට, අසාර හිස් දේට තිබ්බ ඡන්ද රාගය දුරු වෙනවා. ''මම, මගේ'' කියල ඡන්ද රාගයෙන් අල්ල ගත්තු ඒවා මිතුරො නෙවෙයි අවැඩ කරන්න එන හතුරො හා සමානයි කියල දකිනවා. මේක දැක්කට පස්සෙ උපාදාන නිරෝධ වෙලා භව නිරෝධ වෙනවා. දැන් රෝගය හොඳ වුණා. ඊට පස්සෙ ජාති, ජරා, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස නිරෝධයි. රෝගය අත්හැරල ආරෝග්‍යයට පත් වුණා කියන්නෙ මේකට. ඒක පරම ලාභයක්. ඒ තමයි නිවන් ලැබීමේ ලාභය. එයින් ලබන සුවයට තමයි ''නිබ්බානං පරමං සුඛං'' කිව්වෙ. මේ බැඳීමෙන් නික්මිලා යෑම පරම සුවයක් කියල දකිනවා. මේ තමයි සාසනික අර්ථය.

එහෙනම් "සන්තුට්ඨී පරමං ධනං - විස්වාසා පරමා ඥාති - ආරෝග්‍යා පරමා ලාභා - නිබ්බානං පරමං සුඛං" කියන කොට අපි ගන්න අදහස මොකක්ද? සං කියන්නෙ සන්තානය. හිතේ තියෙන සතුට තමයි සංතුෂ්ටි කියන්නෙ. ඒක පරම ධනයක්. හැබැයි නිවන් දකින කල් සතුටු වෙන්න පුළුවන් කමක් නෑ. ලෞකිකව යමක් ලැබිල, ලෝකයේ තියෙන මොනවහරි දෙයක් අල්ලගෙන සතුටු වෙනවයි කියන්නෙ එක කාරණයක්. ඒ සතුටෙ අවසානය දුකක්. නමුත් බුදුන් වහන්සේගෙ දේශනාවෙන් කියන්නෙ ලෞකික දේවල් ගැන සතුටු වීමක් නෙවෙයි. ඒක සාමාන්‍ය පෘතජ්ජන ලෝකයාගෙ සිරිතක්. ඒ නිසා නිවන් දැක්කට පස්සෙ එන සතුට තමයි පරම ධනයක් වෙන්නෙ. ඒ කියන්නෙ ඒ තරම් සතුටක් තවත් නෑ, ඒ සතුට වෙනත් කිසිම සතුටකට දෙවෙනි කරන්න බෑ. ඒ සතුට කවදාවත් නැතිවෙන්නෙ නෑ. ඒකයි ඒ සතුට පරම ධනයක් කියන්නෙ. ඒ සතුට අලුතින් හම්බ කරපු දෙයක් නිසා ඒක ධනයක් වෙනවා. ධන කියන්නෙ එකතු වීමක්.

ඊළඟට විස්වාසය කිව්වම සාමාන්‍ය ලෝකයා හිතාගෙන ඉන්න අදහස එකක්. දෙන්නෙක් එකතු වෙලා හොරකමක් කළොත් එක්කෙනෙකුට එක්කෙනෙක් කාටවත් කියන්නෙ නෑ, රහස් එළි කරන්නෙ නෑ... මේ වගේ ලෞකික අර්ථයෙන් එක්කෙනෙකුට තවත් කෙනෙක් කෙරෙහි තියෙන විස්වාසය තමයි අද විස්වාසා පරමා ඥාති කිව්වම අදහස් කරන්නෙ. නමුත් ඒක බුද්ධ දේශනාව නෙවෙයි. **සත්වයා හැම වෙලේම ඉන්නෙ ලෝකය ආස්වාස කරගෙන. ඒ තාක් සත්වයා ඉන්නෙ උපාදානය නිසා ඇතිවන දුකට කොටුවෙලා. අන්න ඒ ආස්වාසයෙන් වෙන් වෙලා හිටියොත් විස්වාස වෙනවා.** ඇස, රූප, කන, ශබ්ද, නාසය, ගන්ධ, දිව, රස, කය, පොට්ඨබ්බ යන මේවා කෙරෙහි බැඳෙන ඡන්ද රාගයෙන් වෙන් වෙලා හිටියම විස්වාස වෙනවා. ඒ කියන්නෙ ලෝකයේ ඇසුරු කරපු දේකින් වෙන් වෙනවා. ඒක තමයි පරම ඥාතීත්වය වෙන්නෙ. ඥාති කියන්නෙ තමන්ට හිතවත්, ළඟින් ඇසුරු කරපු දෙයක්. ලෝකයේ තියෙන යථාර්ථය අවබෝධ කරල දෙන්නෙ හිතවත්කම, ඥාතීත්වය, මේ කියන විස්වාසය. මේ තමයි ලෝකෝත්තර අර්ථය.

දැන් රෝගය දැක්කෙ නැත්නම් නිවන දකින්නෙ කොහොමද? නිවන කිය කියා සන්තෝස වෙන්නෙ ඇත්ත වශයෙන්ම නිවන දැකල අවබෝධ කරගෙන නෙවෙයි. නිවන කියල හිතාගෙන ඉන්නෙ, අර පංචකාම සම්පත්තිය නමැති රෝගයට, ඒකෙම සැනසිල්ලක් හොයා ගන්න තැනක් තියෙනව නම්, දුකක් කරදරයක් නැතිව ඒක විඳින අදහසින්. නිවනේ අදහස අද අර ගන්නෙ මේ විදිහට. නමුත් දහම් ඇස පහල වුණේ නැත්නම් යථාවබෝධය ලබන්න බෑ. එහෙනම් මේ පංචකාමය හැම වෙලේම ප්‍රියයි මනාපයි යහපතයි කියන සුන්දර ලෝකයේ අපිව කොටු කරන්න තියෙන උගුලක් කියල දැක්ක දාට ඒක අසාර දෙයක් කියල දකිනවා.

මාළු බිලී බාන්න යන කෙනෙක් බිලී පිත්තෙ අමුණන කොක්කක මාළුවා ආසා කරන රස ඇමක් ගහල අල්ල ගන්නවා. දැන් අපි ඇහුවොත් මේ මාළු බාන කෙනා ළඟ, මාළුවාට මරණය හෝ මරණය සමාන දුකකට පත් නොකරන කිසිම දෙයක් තිබුණද කියල එහෙම එකක්වත් තිබිල තියෙනවද? අර ප්‍රියයි මනාපයි කිව්ව ඇම තමයි ලොකුම උගුල. මරණය හෝ ඒ හා සමාන දුකකට පත් කරන්න අත්‍යවශ්‍ය දෙය ඒකයි. ඇම ගහන්නෙ නැතිව බිලී කොක්ක කොච්චර දාගෙන හිටියත් එක මාළුවෙක්වත් ඒකට එන්නෙ නෑ. එන්න හේතු නෑ. එහෙනම් දුකට කොටු වෙන්නෙ මොකකින්ද? යම් තණ්හා පොදි නමැති උගුල දුක් ගොඩකටම වැටෙනව මිසක් වෙන එකකට වැටෙන්නෙ නෑ. මේකට කියනවා යම් කිසි පුද්ගලයෙක් බ පැත්තට අය වෙනව හෙවත් බය වෙනව කියල. බය කියන්නෙ වැනසිලා යන පැත්ත හෙවත් සසර දුක් දෙන පැත්ත. සසරට බැඳෙන පැත්ත, පහත් බවට පත් කරන පැත්ත තමයි ක්ෂය (බ+අය). පද නිරුක්තිය නැත්නම් මේක තෝර ගන්න බෑ. නමුත් අද බය කියන්නෙ ගෙවිල යනව කියන ලෞකික අර්ථයෙන්.

ඊළඟට ව+අය-වැය. වැය කියන්නෙ වැනසෙනවා කියන එක. මොනවයින්ද වැනසෙන්නෙ? **ලෝක සම්මතයේ වැනසෙනවා කියන්නෙ හටගත් දෙයක් විනාස වෙලා යන එකට. නමුත් ආර්ය අර්ථයෙන් වැනසෙනවා කියන්නෙ අකුසල් කරගෙන සසර ගමනේ අතරමං වෙලා වැනසිලා යන එකට.** මේ තමයි ආර්යන් දකින වැය. යමෙක් යම් කිසි හේතුවක් නිසා පහත් පැත්තට හෙවත් පව් පැත්තට ඇදල යනව නම් ඔහුට මහා විනාසයක් වෙනවා. ඔහු බයට පත් වෙනවා. ඒකට ගිහින් ගොඩගන්න බැරි තැනට වැටුනම වයට පත් වෙනවා, විනාසයට පත් වෙනවා. මේ තමයි බය හා වය කියන දෙකේ ආර්ය අර්ථයන්. මේවා තමයි හෙළ අටුවාවල තිබිල වැහිච්ච අර්ථ. හෙළ අටුවා විනාසයත් එක්කයි ඒ පාඩුව සිද්ධ වුණේ. මේවායේ ලෞකික අර්ථයන් තමයි ගෙවිල යනවා, මැරිල යනවා, නැති වෙලා යනවා කියන ඒවා. නමුත් ලෞකික අර්ථයෙන් කොච්චර හෙව්වත් ☞

ඒකෙ තියෙන ආස්වාදජනක වටිනාකමෙන් මිදෙන්න හයියක් නෑ, ආස්වාද ස්වභාවයෙන් මිදෙන්න බෑ. ඒකෙ හරයක් තියෙනව කියන අදහසින් මිදෙන්න බැරිව යනවා.

මේ නිසා ලෝක සත්වයා මොකද කරන්නෙ? ක්ෂය වෙලා යනව නම්, ගෙවිල යනව නම්, වැනසිලා යනව නම් ඒක දැන ගත්ත මොහොතෙම ආස්වාද බලාපොරොත්තුව නිසා ඒ ජාතියේ තව එකක් ගොඩනගන්න උත්සාහ කරනවා. මොකද ආස්වාදයේ බැඳුණු හිත අයින් කරන්න බැරිව යනවා. එතකොට සසර ගමනක් හැදෙනවා. සසර ගමනින් මිදෙන්න නම් ලෞකික වූ අදහසින් ක්‍ෂය (බය) හා වැය දැනගෙන බෑ. එහෙනම් මේ ලෝකයේ තියෙන පංචකාම සම්පත්තියත්, ඒක ඡන්දරාගයෙන් ඇසුරු කරන්න ගිහින් කර ගන්න අවැඩත්, ඒ වැඩපිළිවෙළටම ගියොත් යළි යළිත් මහා දුක් ගිනි කඳක්ම විඳින්න සිද්ධවෙන බවත් මෙතනදි වටහ ගන්න ඕන. එතකොට ආස්වාද කියන්නෙ මහා දුක් ගින්නකට හේතු වන මර උගුලක්, භයානක දෙයක් කියල අවබෝධ වෙනවා. ආස්වාදය පසුපස යාම මහා භයානක, වැඩපිළිවෙළක් බව අවබෝධ වුනාම තමයි 'දුක්කං භයට්ඨේන' කියන්නෙ. බය අර්ථයෙන් දුක දකිනවා. ලෝක සම්මතයේ තියෙන ලෙඩවීම, වැහැරීම, මරණය කියන මේ දුක් නම් ආර්ය භාවයට පත් නොවෙච්ච අයත් දකිනවා. නමුත් ඒ අය පංචකාමය සුභ විදිහට දකින්නෙ. ආර්ය ධර්මය අවබෝධ වුනාමයි පංචකාමයෝ සුභ ස්වභාවයෙන් පෙනුනත් ඒවා භයානක අසුභ, මර උගුල් විදිහට දකින්නෙ.

දැන් මේ කාරණය දැක්ක නම් අර සුන්දර ලෝකය සුන්දර නෑ කියල කියන්නෙ නෑ. නමුත් ආස්වාදය ආස්වාදය හැටියට දකිනවා, ආදීනව ආදීනව හැටියටම දකිනවා, නිස්සරණය හෙවත් සැරිසැරීමෙන් නික්මීම නිස්සරණය හැටියටම දකිනවා. හැබැයි මේ ආස්වාද නිසා තමයි අර ආදීනවයට කොටු වෙන්නෙ, දුකට පත් කරන්නෙ. ආස්වාදය කියන්නෙ මොකක්ද? ආදීනවයට ඇද දමන ඇම. එහෙනම් පහත් බවට ඇද දමන, දුකට ඇද දමන, සතර අපා පැත්තට ඇද දමන මේ පංචකාම පොදියට ඡන්ද රාගයෙන් බැඳීම තමයි ආස්වාදය කියන්නෙ. ලෝක සත්වයා ආස්වාද එනකොට ඇලෙනවා, ආදීනව එනකොට ගැටෙනවා. එහෙනම් ඇලීමයි ගැටීමයි කියන දෙකට යමෙක් පත් කරනව නම්, පහත් පැත්තට, ක්ෂය (බය) බවට පත් කරනවා. විනාසයට පත් කරන පැත්ත වය බවට පත් කරනවා. මේක දැන ගත්ත නම් මේ ආස්වාද දෙන ඒවා, ලස්සනට පෙනී සිටින මායාවල්, සත්වයෝ ඇද ගන්න පෙනී සිටින, ආකර්ශණය වෙනුවෙන් පෙනී සිටින මායාවල් කියල දකිනවා. මේක දැක්කට පස්සෙ ආස්වාදය ආස්වාදය හැටියට දැක්කත් ඒක අපි රවට්ටන මායාවක් බව දකිනවා. ඊට පස්සෙ ආස්වාදයට තියෙන වටිනාකම හිතින් අත්හැරිල යනවා. දැන් ආස්වාදයේ ඡන්ද රාගය දුරු වෙලා යනවා. එතකොට අර ආස්වාද දෙන වස්තුවම දැන් හරයක් නැති දෙයක් කියල දැකල, හරයක් නැත්නම් ඒවාට ඡන්ද රාගයෙන් බැඳීම දුක් ගොඩක් කියල දකිනවා. ඊට පස්සෙ ඒ ආස්වාද ලබා දෙන වස්තුව ජීවත් වෙන්න පරිභරණය කළත් ඒකට ඡන්දරාගයෙන් බැඳෙන්නෙ නෑ.

හැබැයි මේ දුක කවදාවත් දුක්ඛ ආර්ය සත්‍යය තුළින් දකිනව මිසක් අනාර්යෙකුට ප්‍රියයි මනාපයි කියන පංචකාමයන් දුකයි කියල දකින්න බෑ. ඒ අය පංචකාමයෝ සැපයි කියලමයි දකින්නෙ. නමුත් ආර්යෝ දකිනවා පංචකාමයෝ අසාරයි කියල. ''අසාරකට්ඨේන අනත්තා'' අසාර දෙයක් අල්ල ගන්න ගියොත් වැටෙන්නෙ දුකට නම්, අනාතභාවයට නම්, ඒකෙන් ඉවත් වෙන්න බැරි නම් ඒකත් දුකේම කොටසක්. දුකට බැඳිල හිරවෙලා තියෙන කොටසක් තමයි මේ ආස්වාද කියන්නෙ කියල දකිනවා.

එහෙනම් ආස්වාදය කෙරෙහි යම් ප්‍රිය මනාපයක් තිබුණ නම් දැන් ඒකෙන් අත්හැරිල යන පැත්තට කටයුතු යෙදෙනවා. එතකොට දකිනවා මෙච්චරකල් දුකට ඇදල දැම්මෙ මේ මායාව කියල. මායාවෙ ඉන්න තාක් කල්, මායාව මායාවක් බව තේරුම් ගන්න බැරි තාක් කල්, වටින දෙයක් කියන දෘෂ්ටියෙන් අල්ල ගන්නවා. ආත්ම කියන දෘෂ්ටියෙන් අල්ල ගත් නිසා ආත්ම දෘෂ්ටියේම ඉන්නවා. ආත්ම දෘෂ්ටියෙන් ගත්තෙ යමක් ස්ථිරව තියෙනව කියන එක නෙවෙයි. හරවත්ව තියෙනව කියන එක, සාරයි කියන එක. මේ සාරයි කියන දෘෂ්ටිය තමයි ආත්ම දෘෂ්ටිය කියල කිව්වෙ. ඒක අසාරයි කියල දකින්න ඕන. එදාට ආත්ම දෘෂ්ටියත් නැති වෙනවා. මේ තමයි මෙච්චර කලක් සැඟවිලා තිබුණු පෙර නොඇසූ විරූ දුක්ඛ ආර්ය සත්‍යය කියන නුවණ. මේ විදිහට දුක්ඛාර්ය සත්‍යය දැක්ක නම් එතකොටම පෙර පසු නොවී දුක්ඛ සමුදය සත්‍යයත්, දුක්ඛ නිරෝධ සත්‍යයත්, දුක්ඛ නිරෝධ ගාමිණී පටිපදා ආර්ය සත්‍යයත් දැකීමේ නුවණ පහල වෙනවා. මේ දර්ශන ඥානය ලැබුණම තමයි සෝතාපන්න වුණා කියන්නෙ. ඒ පුද්ගලයා එතැන් පටන් සතර අපා දුකෙන් සදහටම නිදහස්. අරිහත්වය දක්වාම අවබෝධය පුළුල් වෙමින් ස්ථිරවම ප්‍රඥාව පූර්ණ වෙනවා. මේ විදිහට නිවන කියන ආරෝග්‍ය බව පූර්ණ වෙනවා. සියලු සත්වයෝ නිරෝගි වෙත්වා කියල අප්‍රමාණ ආර්ය මෛත්‍රිය ලෝකයට පතුරවමින් නිවන් මග අනුගමනය කරන්න පුළුවන් වෙන්නෙ එතකොට.

දැන් ඊළඟ කාරණය තමයි, අපි අද සංවරත්වය කියල කියන්නෙ ලෝක සම්මත අර්ථයෙන් නම් අතපය හොල්ලන්නෙ නැතිව, දඟලන්නෙ නැතිව, වැඩිය කතාබහ කරන්නෙ නැතිව කට පියාගෙන පැත්තකට වෙලා ඉන්න එකට. නමුත් සංයුක්ත නිකායේ (4) - 168 පිටුවේ එන <u>සංවර සූත්‍රය</u> අනුව **ඇසෙන් මන වඩන රූප, කනෙන් මන වඩන ශබ්ද, නාසයෙන් මන වඩන ගන්ධ, දිවෙන් මන වඩන රස, ශරීරයෙන් මන වඩන ස්පර්ශ කියන මේ පංච කාමයන් පසු පස නොයනකොට තමයි ආර්ය අර්ථයෙන් සංවරත්වය කියන්නෙ.** "සං" කියල ලෝකයෙන් අල්ල ගත්තු දේ වරනවා, අතහරිනවා. දැන් මාගන්දි සූත්‍රයත්, සංවර සූත්‍රයත් අනුව මගඵල ලබපු ආර්ය උත්තමයන් දෙන්නෙක් කතා වුණොත්, සංවර වුණොත් නිරෝගි බව ලැබෙනව කියල, ඒක අහගෙන හිටපු පෘථජ්ජනයෙක් මොකද හිතන්නෙ? අතපය හොල්ලන්නෙ නැතිව දඟලන්නෙ නැතිව පාඩුවේ හිටියොත් කයට ලෙඩ හැදෙන්නෙ නෑ කියන අදහසයි ඔහු අරගන්නෙ. නමුත් ආර්ය අදහසින් කියවෙන්නෙ අර කියපු පංචකාම ආස්වාදයන් පසුපස හඹා නොයෑමෙන් සංසාර රෝගයෙන් මිදිල නිවන් ලැබෙන බව.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 56**

# ගිහි ගෙදර වින්ද දුක් ගිනි... (I)



(පසුගිය කලාපයෙන් -

හිස මුල් කරගත් රෝගාබාධවලට හා නැණ නුවණ වැඩීමට පහන් දහසක පූජාවෙන් ප්‍රතිකර්මයක්..) - **වහරක අභයරතනාලංකාර හිමි**

වහරක අභයරතනාලංකාර හිමියන් ගිහි වතක ඉඳෙද්දි ලබපු අත්දැකීම් බොහොමයක් මේ සඟරාවේ මීට පෙරත් ඉදිරිපත් කළා. විශේෂයෙන් ගිහි වතක ඉඳගෙන රැකි රක්ෂා කටයුතු කරමින්, අඹු දරුවන් පෝෂණය කරමින්, ඒ අතරතුර සාසනික කටයුතුවලත් යෙදෙමින් මේ දක්වා ආ ගමන් මගේ විශේෂ සිදුවීම් කිහිපයක් ඒ අතර විස්තර කළා. මීට පෙර නොකිය වෙච්ච ඒ වගේ තවත් කරුණු කාරණා කිහිපයක් උන් වහන්සේගේ මතකයන් තුළින් මේ විදිහට කෙටියෙන් ඉදිරිපත් කරන්නෙ, මේ සසරෙ තියෙන ගින්නක ස්වභාවය පෙන්වන්නත්, ඒ ගිනි අතරේ ඉඳගෙනම දහම මෙනෙහි කරමින් ඒවාට ධර්මානුකූලව මුහුණ දීල අවසානයේ සසර දුකින් මිදෙන්න කටයුතු කර ගන්නෙ කොහොමද කියන කාරණයත් යම් පමණකට හෝ පෙන්වා දෙන්න.

සාමාන්‍යයෙන් ලෝකයේ ජීවත් වෙච්ච ආදර්ශමත් පුද්ගලයින්ගෙ ජීවිතයේ විශේෂ සිදුවීම් දැන ගන්න දක්වනව වගේ උන් වහන්සේගෙ ජීවිතයේ විශේෂ සිදුවීම් ගැන දැන ගන්නත් මේ සඟරාව කියවන පාඨක පින්වතුන් බොහොමයක් දැඩි උනන්දුවක් දක්වනවා. ඉතින් අද සමාජයේ ජීවත් වෙන උදවියටත් යම් යම් ආදර්ශයන් ලබා ගන්නත්, මේ සසර ගමනෙදි අපිට වරදින්න පුළුවන් අවස්ථා ගැන යම් යම් අත්දැකීම් ලබා ගන්නත් මේ විස්තර කිරීම යම් පමණකට හෝ ප්‍රයෝජනවත් වේවි. මීට පෙරත් සඳහන් කළා වගේ උන් වහන්සේගෙ මේ ජීවිතයේ ළඟම ඥාතීන්ගේ විස්තර පවා සමහර අවස්ථාවල සැඟවීමකින් තොරව ඉදිරිපත් කරන්නෙ, ඒ අයත් එක්ක තියෙන අමනාපයකට හෝ ඒ අයට පහර ගහන්න හෝ නෙවෙයි, අද ඒ අය මොන තත්වයෙන් හිටියත් එදා ඒ සිදුවීම්වලින් කියවෙන ලෝකයේ ස්වභාවය සහ මනුස්සයින්ගේ ගති වෙනස් වෙන හැටි අනිත් අයටත් පෙන්වා දෙන්න. අද ඒ අය මොන තත්වයෙන් හිටියත් එදා වෙච්ච ඒ සිදුවීම් දැන් නාම ගෝත්‍ර හෙවත් මතක සටහන් බවට පත් වෙලා අතීතයට ගිහින් ඉවරයි. ඒ නිසා ඒ කාරණා ගැන සඳහන් කළා කියල කවුරුවත් වැරදි වැටහීම් ඇති කර නොගත යුතුයි. මේ තමයි උන් වහන්සේගේ ඒ අත්දැකීම් කෙටියෙන්.

අපි ඉගෙන ගන්න කාලෙ අපිට හරියට කන්න බොන්න අඳින්නවත් යමක් තිබුණෙ නෑ. බොහොම අමාරුවෙන් තමයි ජීවත් වුණේ. අනිත් ළමයින්ට වගේ ඉගෙන ගන්න අමතර පන්ති යන්න වෙලාවක් අපට තිබුණෙ නෑ. ඒවට උදව් කරන්න කවුරුවත් හිටියෙ නෑ. අනිත් ළමයින්ට තිබ්බ්ච නිදහස අපට තිබුණෙ නැති නිසා අපි නිකං දෙවෙනි ක්‍රියාවක් වශයෙන් තමයි පාසල් ගියේ. පළවෙනි ක්‍රියාව වුනේ ජීවත් වෙන්න ජීවනෝපාය සකස් කරගැනීම. හැබැයි එහෙම කරලත් මම ඒ කාලෙ තිබ්බ්ච පූර්ව ජොෂ්ඨ, ජොෂ්ඨ වගේ විභාගත් හොඳට සමත් වුණා. ජීවත් වෙන්න තිබ්බ්ච අමාරුකම් නිසා, කාටවත් කරදරයක් නැතිව කරන්න පුළුවන් හැම දෙයක්ම කළා.

මොකද අපේ තාත්ත හිටියට කිසිම වැඩක් කළේ නෑ. ආතට විසාල දේපලක් තිබුණත් අපි ඉපදෙනකොට ඒව හුගක් විනාස කරල තිබුණෙ. අපේ ගෙදර අක්කර තුනක විතර ලොකු වත්තක් තිබුණා. ඒකෙ ආතා ඉන්න කාලෙ හදපු පැරණි ගෙයක තමයි අපි හිටියෙ. ඒ කාලෙ ආතාට තිබ්බ්ච පැරණි භාණ්ඩත් හැම තැනම දාල තිබුණා. ඉතින් තාත්ත ඔය අහුමුළුවල දාල තිබ්බ්ච පරණ යකඩ කෑල්ලක්, ටකරන් කෑල්ලක් වගේ මොනව හරි තිබුණොත් ඒකත් කාට හරි විකුණල කීයක් හරි ගන්නවා. පරණ ගඩොල් ටිකක් තිබුණ නම්, විකුණන්න කවුරුහරි මුණගැහුණොත් ඒකත් විකුණනවා. ඒ වගේ තිබ්බ්ච පැරණි භාණ්ඩත් විකුණුවා.

ඊට අමතරව වත්තෙ පිටියෙ තිබ්බ්ච ගස්වල මොනව හරි තිබුණ නම් ඒවත් කඩල විකුණනවා. ගහක් කොළක් තිබුණත් ඒකෙ වටිනාකම බැලුවෙ නෑ. ගන්න කවුරුහරි හිටිය නම් එවෙලෙම ඒක කපල විකුණනවා. තාත්ත ඔය විදිහට ජීවත් වුණා මිසක් කිසිම දෙයක් සැලසුම් කරල හොයල බලල කළේ නෑ. අපි පොඩි කාලෙ තාත්ත පාබල හමුදාවටත් ගිහින් තියෙනවා. ඒකත් ඉතින් සාර්ථක වෙලා නෑ. වත්තෙ පිටියෙ තිබ්බ්ච සුළු ආදායමක් මිසක් වෙන දෙයක් අපට තිබුණෙ නෑ. සමහර වෙලාවට අම්ම හිටවල තිබ්බ්ච කෙහෙල් පඳුරු කීපයක් එහෙම තිබුණා. ඒවායේ තිබ්බ්ච කැනක් දෙකක් කපාගෙන විකුණල අපි කීයක් හරි ගන්නවා. කොටින්ම කියනවනම් පවුලකට ජීවත් වෙන්න සෑහෙන්න ආදායමක් තිබුණෙ නෑ. හැම වෙලේම ණය වෙන්න වෙනවා. අන්තිමට අම්ම ණය වෙලා ගෙවාගන්න බැරිව, අම්මගෙ නමින් තිබ්බ්ච ඉඩම් කෑලි දෙකකුත් විකුණන්න සිද්ධ වුනා. තාත්තගෙ නමින් තිබ්බ්ච කිසිම අයිතිවාසිකමක් තියෙන්න තාත්ත ඉඩ දුන්නෙ නෑ. ඒව ඔක්කොම විකුණ ගත්තා, විනාස කළා. අන්තිමට සත පහක්වත් අතේ නෑ. ඒ කාලෙ තිබ්බ්ච පීත කොමිසම කියන නීතිය ☞

අනුව අපේ ආතගෙ නමින් තිබිච්ච අක්කර හයකින් භාගයක්ම අපිට ලැබුණා. තාත්ත ඔය ඔප්පුව ඉනේ ගහගෙන හැම තැනම ගිහින් රුපියල් 75000 කට විකුණනවයි කියනවා. අන්තිමට බලනකොට ඉනේ ගහගෙන ඉඳලම ඔප්පුව හතරට කැඩිල. ඉතින් මිනිස්සු ඔය ඔප්පුව බලල කියනවා ඕක ඔයාට විකුණන්න බෑ කියල. ඒ නීතිය නිසා අපි ජීවත් වෙච්ච ඒ ඉඩම ඉතිරි වුනා. නැත්නම් ඒකත් විකුණ ගන්නවා.

අපි ඉගෙන ගන්න කාලෙ රබර් කිරි කපන අක්කර එකහමාරක විතර වත්තක් තිබුණා. රජයෙන් දෙන ආධාර මුදල නිසා තාත්ත ඕකෙ රබර් වගා කළා. හැබැයි ඉතින් ගෙදර අපි ඔක්කොම එකතු වෙලා මහන්සියෙන් තමයි ඒ වගාවෙ සියළු කටයුතු කළේ. පැළ හිටවල අවුරුදු පහක් යනව කිරි කපන්න. ඕකෙ ඉතින් කාලෙන් කාලෙට රබර් කිරි කපල අත්ඇරල දාල යනවා. කාලයක් කිරි නැතිවත් තියෙනවා. මමත් ඉතින් අන්තිමට කීයක් හරි හොයාගන්න සමහර දවස්වලට ඒ වත්තෙ රබර් කිරි කපනවා. කිරි කපල පොල්කටු හයිකරල තමයි පාසල් යන්නෙ. සමහර දවස්වලට අම්ම ඒ රබර් කිරි එකතු කරල වක්කරල හදල තියනවා. පාසල් ගිහින් ඇවිත් ඉතිරි ටික මම කරනවා. සීට් ඩයමන් (දාර රොටී) ගහනව කියල ඒ වගේ වැඩත් ඒ රබර් කිරිවලින් කළා. ඒ වගේ ලැබිච්ච දේකින් තමයි ඒ කාලෙ ජීවනෝපාය සකස් කරගත්තෙ.

ඉතින් ඔය රබර් වගාවෙන් ඉස්සෙල්ලම කිරි කපල ගත්තු ආදායමක් තිබුණා. ඒ රබර් වත්ත වවල හදල කිරි කපන්න අපි ඔක්කොම මහන්සිවෙලා සම්බන්ධ වුනත් තාත්ත තමයි ඒකෙ මුල් ආදායම ගත්තෙ. ඒ පළවෙනි මුදල අතට අරන් දවසක් තාත්ත ගෙදරට බඩු ගෙනාවා. බඩු ටික අතේ උස්සගෙන ඇවිත්, ඕං මලදානෙ කාපියව් කියල කුස්සියට දැම්මා. බඩු ටික ඔක්කොම හැම තැනම විසිරිලා ගියා. ඕකත් එක්ක බැනියම් දෙක තුනකුත් ගෙනත් තිබුනා. මේක උඹට කියල තාත්ත එයින් එකක් මට දුන්නා. එහෙම දීල තාත්ත මගෙන් අහනවා, ඇයි මේක උඹ ගත්තෙ කියල. මම කිව්ව ඉතින් තාත්තනෙ ගෙනත් දුන්නෙ කියල. මම දුන්නද බොල කියල, තුන් පාරක් මගේ කනට ගැහුවා. මම කිව්ව ඉතින් දුන්න තමයි කියල. ඊළඟට තවත් පාරක් ගැහුවා. ඊට පස්සෙ අම්ම කිව්වා, මට ගුටි කන්නෙ නැතිව ඔතනින් පලයන් කෑ නොගහ කියල. මම ඉතින් සද්ද නැතිව බැනියමත් දාල පැත්තකට ගියා. තාත්ත ඒක අරගෙන ඕන එකෙක් ගනිත් කිව්වා. කවුරුවත් ගත්තෙ නෑ. ඒ වෙලාවෙ තාත්ත හොඳටම බීල හිටියෙ. කනව බොනව, රණ්ඩු වෙනව, කෑ ගහනව ඕව තමයි තාත්ත කළේ.

පස්සෙ මම ඉතින් ඒ බැනියම අඳින්නෙ නැතිව පැත්තකට දාල තිව්වා. ඒ වෙලාවෙ මට බොහොම සංවේගයක් ඇති වුනා. මොකද අපිම මහන්සි වෙලා වගා කරල කිරි කපල ඒ ගත්තු සල්ලිවලින් තාත්ත අර වගේ නීච වැඩක් කරපු නිසා. ඉතින් විසි කරන්නත් හොඳ නැති නිසා මම ඒ බැනියම අඳින්නෙ නැතිව, බත් කාල අත පිහිදාන්න කියල එල්ලල තිව්වා.

ගිහි වතේ සිටියදී පින්කමකට සම්බන්ධ වී



තාත්ත අර කරපු වැඩේ නිසයි මම එහෙම කළේ. හැබැයි තාත්තට ඒ වගක්වත් නෑ. අපි දන්න කාලෙ තාත්ත අපිට රෙද්දක් ගෙනත් දුන්නනම් ඕක විතරයි. වෙන අඳින්න දුන්න මුකුත් නෑ. නොදන්න පුංචි කාලෙ නම් මොනව දුන්නද දන්නෙ නෑ. දැනුවත් කාලෙක නම් නෑ. ඉතින් ඉගෙන ගන්න කාලෙත් අපි හොයා ගත්තු දේකින් ගත්ත දෙයක් තමයි තිබුණෙ.

ඔහොම ඉඳල මම ඉස්සෙල්ලම අවුරුදු 18 දි රැකියාවකට ගියේ තුල්හිරිය ඉංජිනේරු සංස්ථාවේ කම්කරුවෙක් හැටියට. ඒ කාලෙ මම හරි හම්බ කරපු හැම සතයක්ම අම්මට තමයි ගෙනත් දුන්නෙ. අම්ම කෙරෙහි අනුකම්පා කරල මගේ කැමැත්තෙන්මයි දුන්නෙ, කාල බීල ඕන එකක් කර ගන්න කියල. ඒ කාලෙ ජීවත් වෙන්න සිරිතක් වශයෙන් අපේ අතේ සල්ලි තියෙන්න ඕන නෑ. පඩි ගත්තම ගෙවන්න පුළුවන් විදිහට කඩවලින් ගිණුම් දෙනවා. අපි නැවතිලා හිටපු ඒ ගමේ මිනිස්සු පොඩි පොඩි ගෙවල් හදල දීල අපිට කන්න බොන්න නවාතැන් දෙනවා. කන්න බොන්න කියල වෙනම ගාණක් අය කළේ නෑ. එක්කෙනෙකුට ගෙදර නවාතැන් ගන්නවට ගාස්තුව ඒ දවස්වල සතියකට රුපියල් 5 යි. දෙවේලෙම කෑම ගන්නව නම් වෙනම අය කළේ නෑ. ඒකත් අර ගාස්තුවෙන්ම හිලව් වෙනවා. සතියට දවස් 7 ම ගත්තත් එච්චරයි අය කළේ. එහෙම නැත්නම් කෑම එකක් සත 65-80 ගණන්වලට වගේ දුන්නෙ. පඩි ගත්තම නවාතැන් ගාස්තු ගෙවල, කඩේ ගාණත් ගෙවල ඉතිරිය අම්මට ගෙනත් දෙනවා. ගමන් ගාස්තු කියල ලොකු මුදලක් ගියේ නෑ. මොකද නවාතැනේ ඉඳන් පයින් ඇවිදගෙන තමයි වැඩට ගියේ. වෙනසකට තියෙන්නෙ පඩි ගත්තු දවස්වලට විශේෂ අයිස්ක්‍රීම් එකක් වගේ මොනවහරි දෙයක් කනවා. ඊට එහා වියදමක් තිබුණෙ නෑ. කොහොම හරි අපේ වියදමට රුපියල් 5 ක් විතර වියදම් වෙනවා.

ඒ කාලෙ අපේ දවසක වැටුප රුපියල් 3 යි සත 22 යි. අනෙක්වා අතිකාල දීමනා. ඒවායින් තමයි කීයක් හරි වැඩිපුර සල්ලි හම්බ කරන්නෙ. අතිකාල දීමනාව විදිහට පැයකට සත 85 යි ගෙව්වෙ. ඒ කාලෙ රෑ වැඩ මුරය පැය 8 ක් කරනවා. ඒ සඳහා ඒ අය අපිට කොන්ත්‍රාත් දෙනවා. රාත්‍රියේ හදිස්සියේ වැඩ කරන්න තිබුණොත් සිමෙන්ති, කළුගල් බාන්න, පස් කපන්න, කොන්ක්‍රීට් අනන්න වගේ බර වැඩ තමයි තිබුනෙ. දවල් වරුවෙත් ඒ වගේ බර වැඩ තමයි කළේ. ඒ කාලෙ ඒ භූමියේ තිබිච්ච විසාල උමං තනිකර කොන්ක්‍රීට්වලින් වටකරල හදන්න ඕන. දවසක් කළුගල් වගයක් පටවන කොට එක්කෙනෙක් දාපු කළුගලක් කැරකිලා ඇවිත් මගේ කකුලක් පැලිල ගියා. මැහුම් 7-8 ක් විතර දැම්මා. ඒ වගේ බරපතල වැඩ තමයි මුල ඉඳන් ලැබුනෙ. ඉතිං අඩු ගානෙ සතියකට රයවල් 3 ක් වත් ඔය විදිහට වැඩ කරන්න ඕන. ඒ කියන්නෙ පැය 24 ක්. ඊට අමතරව සෙනසුරාදා පැය 3 1/2 ක් වැඩ කරනවා. මාසෙකට ඒ වගේ සෙනසුරාද දවස් 4 ක් වෙනම වැඩ කරනවා. ඔය ටික කරගත්තොත්

තමයි කාල බීල යමක් ඉතුරු කර ගන්න පුළුවන් වෙන්නෙ. ඉතින් ඔය අතරෙ තමයි 71 කැරැල්ල නිසා වැඩ නැවැත්තුවෙ.

ඊට පස්සෙ ඉතින් ආදායම් මාර්ගයක් නැති නිසා ගොවිතැන් තමයි කරන්න ගත්තෙ. ඒවා කරන්න ගත්තෙත් වැඩියෙන්ම මට ඕනවට නෙවෙයි. මොකද ඒ කාලෙ ඉඳන්ම මගේ හිතේ දෙගෙඩියා සහගත අදහසක් තමයි තිබුණෙ. හුඟක් වෙලාවට පැවිදි වෙන්න ඕන කියල ඒ අදහසමයි ආවෙ. නමුත් ඊට පස්සෙ, එහෙම වුනොත් අනිත් අයට මොකද වෙන්නෙ ඒ අය කවුද බලා ගන්නෙ කියල එහෙම හිතෙනවා. විශේෂයෙන් අම්ම දුක් විඳිනවනෙ, අම්ම බලා ගන්නෙ කවුද කියන අදහස තමයි වැඩිපුර ආවෙ. ඊට පස්සෙ ඒ අදහස යටපත් වෙලා නැවතත් පැවිදි වෙන අදහස එනවා. ඔය විදිහෙ දෙපැත්තට වැනෙන අදහසක් තමයි ඒ කාලෙ තිබුණෙ.

ඒ දවස්වල අපේ අම්මයි තාත්තයි දෙන්නම හිටියා. ඒ අයගෙ එකම බලාපොරොත්තුව වුනෙත් මම කොහොමහරි රස්සාවක් කරන්න ඕන කියල. මම යමක් කමක් හරි හම්බ කරල දෙන නිසා ඉදිරි බලාපොරොත්තුත් මා කෙරෙහි තමයි තිබුණෙ. මොකද පවුලෙ අනිත් අය හිටියට ඒ අයගෙන් විශේෂ යමක් ලැබුණෙ නෑ. ඒ අයගෙ වැඩක් කරගන්නවට වඩා දෙයක් ඒ අයට තිබුණෙ නෑ. අයිය ගුවන් විදුලි කාර්මිකයෙක් වශයෙන් කටයුතු කළාට තමන්ට තේ එකක් බොනවට වඩා දෙයක් ඒකෙන් ලැබුණෙ නෑ. නංගි ක්‍රම සම්පාදන අමාත්‍යාංශයේ ලිපිකාරි-නියක් විදිහට වැඩ කළත් ඒකෙනුත් එයාගෙ වැඩක් කරගත්ත මිසක් ගෙදරට කන්න බොන්න දෙන්න හැකියාවක් තිබුණෙ නෑ. තමන්ගෙ වැඩ කටයුතු ටික විතරක් පහසු වුණා, එච්චරයි. ඒ කාලෙ ඉතින් අද වගේ ලේසියෙන් රස්සාවක් ගන්න පුළුවන්කමක් තිබුනෙ නෑ. මුළු පවුලටම යැපෙන්න ඇතිවෙන්න නම් කොහේ හරි ඈත පළාතකට ගිහින් ලොකු රස්සාවක් කරන්න ඕන. එහෙම නැත්නම් කුලී වැඩ තමයි තිබුනෙ. අද වගේ රජයේ රස්සාවක් එහෙම හොයාගන්න බොහොම අමාරුයි. ඉතින් ඒ දවස්වල කල්පනා කළා ගොවිතැන් කරල ජීවිතය ගැට ගහගන්න ඕන කියල.

අපේ ගේ පැත්තෙ තිබ්බ්ච වී තුන්ලාහක විතර කුඹුරක් සම්පූර්ණයෙන්ම වැඩ කරල අනෙක් අය ගන්නවට වඩා තුන් ගුණයක විතර අස්වැන්නක් ගන්න මට පුළුවන් වුනා. ඒ ගොවිතැන් කටයුතුත් ක්‍රමානුකූලව හොඳට පිහිටල තිබුණා. පැරණි ධර්මානුකූල ක්‍රමත් බොහොමයක් අනුගමනය කළා. විශේෂයෙන් "බනේන අග්ගිං ජලමානනාය" කියන ගාථාවෙන් තමයි සෙත් කරල වතුර ඉස්සෙ. ඊළඟට මුළු වත්ත පුරාම අක්කර 1 1/2 ක විතර කෙහෙල් පඳුරු හිටෙව්වා. පඳුරු 200 ක් විතර ඇති. ඒ කාලෙ සුමානෙකට කෙහෙල් කැන් 4-5 ක් කපන්න පුළුවන්. කොහොම හරි රස්සාව නැති වුණ පාඩුව ඒ වගේ දේවල්වලින් පියව ගත්තා. ඊට පස්සෙ මිරිස් කොටුවක් හිටවල ඒකෙනුත් මාසෙකට රාත්තල් 300 ක විතර ආදායමක් ගත්තා. ඒ කාලෙ රාත්තලක් සත 70 යි. ඒ කාලෙ හැටියට ඒකෙන් හොඳ ආදායමක් ලැබුණා. ඔය විදිහට මාස 6 ක් විතර ආදායම් අරගෙන, දවසක් කෘමීන්ට ඉහින දියරයකින් මැස්සෙක් මැරුණම තමයි සත්ව අනුකම්පාව නිසා ඒකත් නැවැත්තුවෙ. (මේ පිළිබඳ විස්තරයක් 3 වන කලාපයෙන් ඉදිරිපත් කළා) ඉතින් ඒ ගත්ත ආදායමෙන් ගෙදරට සම්පූර්ණයෙන්ම කන්න බොන්න දුන්නෙ මම. අනෙක් අය විශේෂ යමක් කළේ නෑ. ඒ වෙනකොට අයියත් විවාහ වෙලා හිටියෙ. නමුත් මම තමයි ඔක්කොටම කන්න බොන්න දුන්නෙ. ගෙදරට අවශ්‍ය ලුණු කැටේ පටන් සීනි තේ කොළ හැම එකක්ම මම තමයි ගෙනත් දුන්නෙ.

ඔහොම ඉඳල නැවතත් 1974 අවුරුද්දෙදි පූගොඩ පෙහෙකම්හලේ කම්කරුවෙක් විදිහට රස්සාව ලැබුණා. අර කලින් ඉංජිනේරු සංස්ථාවේ ඉඳෙද්දි කරපු බර වැඩම තමයි එහේදිත් ලැබුණෙ. එහෙම ඉඳල 1975 පෙහෙකම්හලේ යන්ත්‍ර ක්‍රියාකරව-න්නෙක් විදිහට බඳවගෙන 1985 වෙනකල් රස්සාව කළා. ඒ කියන්නෙ බලවේග යන්ත්‍රවලින් රෙදි වියන්න ඕන. මෝටර්වලින් වැඩ කරන යන්ත්‍ර 12 ක් තිබුණා. ඒ මුල් කාලෙත් ගන්න හැම සතයක්ම මම අතේ තියාගත්තෙ නෑ, අම්මට තමයි ගෙනත් දුන්නෙ. කන්න බොන්න ඉන්න හිටින්න මට පොඩි වියදමයි ගියේ. ඒ කාලෙ පූගොඩ පැත්තෙ තිබ්බ්ච ගම්මුලාදෑනි කෙනෙක් වගේ කවුරුත් ගරු කරන කෙනෙක්ගෙ පැරණි පාළු ගෙදරක මමයි තවත් ළමයෙකුයි එකට නැවතිලා හිටියෙ. ඒ කාලෙ ඉඳන්ම මම දහමට නැඹුරු නිසා, මට වඩාත් පහසුවෙන් බණ භාවනා කරන්න, දහම් පොත්පත් කියවන්න ගැළපෙන තැනක් තමයි ඒ විදිහට හොයා ගත්තෙ. මොකද ඒකෙ කවුරුවත් නැති නිසා ඒ වැඩවලට හරි පහසුයි. ඒ කාලෙ ඉතින් බණ භාවනා කටයුතුවලට වඩා දහම් පොත්පත් කියවන එක තමයි වැඩිපුර කළේ. සුදුසු අයත් එක්ක ධර්ම සාකච්ඡාත් කළා. ඒකටත් කැමති පිරිසක් මාත් එක්ක එකතු වුණා. දහමට කැමති අය මාව හොයාගෙන මම නැවතිලා හිටපු ගෙදරටත් ආවා. මොකද ඒ ගමේ අයටත් මම ගැන ආරංචි වෙලා තිබුණෙ. ඉතින් හුඟක් දවස්වලට පිරිස් ඇවිත් රෑ දහය එකොළහ විතර වෙනකල් ධර්ම සාකච්ඡා කරල යනවා. ඒ අය අහන ප්‍රශ්නවලටත් මම පුළුවන් විදිහට උත්තර දෙනවා.

ඉතින් මාත් එක්ක ඒ ගෙදර නැවතිලා හිටපු අනෙක් ළමය එහේ ටික කාලයක් ඉන්නකොට ඔහු එතැනට නොගැළපෙන විදිහට කටයුතු කරපු නිසා ඒ ගෙදර අය ඔහුට හොඳටම බැන්නා. බැන්නට පස්සෙ මම කිව්වා, බැනුම් අහන්න මම ඉන්නෙ නෑ, එක්කො තමුසෙ යනව, නැත්නම් මම යනව කියල. ඔහු යන්න ගියා. මම තනි වුණා. හැබැයි ඒ ගෙදර අය මාත් එක්ක බොහොම හොඳයි. ඔහොම ඉන්න කොට ඒ ගෙදර අයගෙ පොලිසියේ වැඩ කරන ඥාති වෙන නෝන කෙනෙකුයි මහත්තයෙකුයි ඒ ගෙදර නවතින්න ආවා. ඉතින් ඒ අය මට කිව්වා උයන්න ඕන නෑ අපි කෑම දෙන්නම් ඒකට ගැළපෙන කැමති ගාණක් මාසෙට දෙන්න කියල. මට මතක හැටියට සත 80 ක් වගේ තමයි කෑම වේලකට ගත්තෙ.

ඔහොම ඉඳෙද්දි 1975 අවුරුද්දෙ තාත්ත නැති වුනා. ඒ කාලෙ හරියටම ජේෂකර්ම සංස්ථාවට ගිහින් තුන් මාසයක් සම්පූර්ණ වුනාම පඩි කපාගෙන ඒ කපාගත්ත වැටුපෙන් මරණාධාර ගෙවනවා. හරියට තුන් මාසයකින් පඩි කපල තිබුණ නිසා තාත්තගෙ මරණයේ කටයුතු කරගන්න රු 750/- ක් ලැබුනා. ඒකෙන් අවසන් කටයුතු සියල්ලමත් කරල ඉතිරි වෙච්ච ගාණක් තිබිල ඒකත් අම්මට දුන්නා. ඉතිං කාගෙන්වත් වෙනත් වියදමක් ගියේ නෑ.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ඇසුරු කරන අරමුණුවලට අනුරූපීව ගති හට ගැනීම හා සත්ත්වයන්ට ඉන්ද්‍රියන් හයක් ලැබීමට හේතුව....

*(පසුගිය කලාපයෙන් - සත්ත්වයාගේ විවිධ ක්‍රියාකාරීත්වයන් නිසා විශ්වයේ ශක්තීන් ගොඩනැගෙන අයුරු...)*

යම් කිසි ගතියකින් නිකුත් කරන ශක්තිය මහා බලයක් වන නමුත් ඒක ඉතා හෙමින් ක්‍රියාත්මක වෙන්නත් පුළුවන්. සිතකින් පහල කරන ගතියේ ශක්තිය අනන්ත ආකාසයේ, විශ්වයේ විහිදිලා පවතිනවා. ඒක හෙමින් ක්‍රියාත්මක වුණත් විසාල විපර්යාස කරන්න පුළුවන්. මේ සා විසාල බලයක් පසෙක තියල කුඩා උපමාවක් අරගෙන බලමු. අඟල් හයක් ඝනකමට බිම කොන්ක්‍රීට් එකක් දැම්ම කියල හිතන්න. ඒක පුපුරවන්න නම් විසාල බලයක් යොදන්න ඕන. නමුත් ඒ අසලින් වල් මඤ්ඤොක්කා ගහක් හෙවණට හිටවල තිබුණ නම්, අවුරුද්දක් දෙකක් යන කොට කොන්ක්‍රීට් තට්ටුව පුපුරල ගිහින් තියෙන හැටි දකින්න පුළුවන්. මේකට හේතුව මොකක්ද? අතින් පයින් එබුවත් මිරිකිලා යන තරමේ ළපටි ගති තියෙන ඒ ගහේ මුලක් කොන්ක්‍රීට් තට්ටුවට යටින් ගමන් කිරීම. ඒ මුලේ පොළොව හාරගෙන යටින් යන අග කොටස පරීක්ෂා කරල බැලුවොත් පේන්නෙ, ඇඟිලි දෙකකින් මිරිකල පොඩි කරන්න පුළුවන් මුලක් බව. නමුත් බොහෝ හෙමින් වන ක්‍රියාවලියකදී ඒ විදිහට ක්‍රියා කරපු මුල ජය ගත්ත මිසක් පොළොව හෝ කොන්ක්‍රීට් තට්ටුව ජය ගෙන නෑ. මුලට ඉඩ දෙන්න සිද්ධ වුණා. ගතියේ ශක්තියත් මේ විදිහට බාහිර ගතියකින් වෙනස් නොවෙන තාක් කල්, යම් රටාවකට අනුව ඒකාකාරව ක්‍රියා කරන නිසා විශ්වය ඊට අනුකූලව හැඩ ගැහෙනවා.

ගතියක් වෙනස් වෙන්න ගතියක්ම හේතුවන බව කිව්වෙ ඇයි? යම් කෙනෙකුට තරහ ගන්වන අරමුණක් නිසා තරහ ගතියක් ඇති වුණා කියල හිතමු. එතකොට ඒ ගතියට අනුරූපව මුහුණ රෞද්‍ර වෙනවා, ඇස් රතු වෙලා පේනවා, සිරුර දාහයෙන් දැවෙනවා. දැන් මේ ගතිය නැති වෙන්න නම් ඇස, කන, නාසය, දිව, ශරීරය කියන පංචේන්ද්‍රියන්ගෙන් හෝ ධර්ම සට්ටනයෙන් මනේන්ද්‍රියෙන් හෝ අරමුණක් ගන්න ඕන. එසේ නොගත්ත නම් ඒ තරහ ගතිය නැති වෙයිද? නෑ. මේක අපි හැමෝම ලබල තියෙන අත්දැකීමක්. එබඳු තරහක් දැනුණ නම් ඒක නිවිල ගියේ හිතින් හෝ පසිඳුරන්ගෙන් ගත් වෙනත් අරමුණක් දිගේ සිත හැසිරවීමෙන් නෙවෙයිද



කියල කල්පනා කරල බලන්න. මේ නිසා අපි දැන ගන්න ඕන, යම් අරමුණක් ඇසුරු කළා නම් ඊට අනුරූපව ගති හට ගන්නා බවත්, නැවත අලුත් අරමුණක් නොගත්තොත් තිබිච්ච ගතිය දිගටම ශක්තිය මතු කරමින් ක්‍රියා කරන බවත්. අභිඤ්ඤා ලාභියෙක් සෘද්ධි ප්‍රාතිහාර්යකින් යම් බලවත් වැඩක් කරනව නම් ඊට අවශ්‍ය ගතිය, අනුකූල වූ අරමුණක් තදින් විසිරෙන්නෙ නැති වෙන්න දරාගෙන බලවත් චිත්තයක් හෙවත් සිත් රැහැනක් නිපදවල ඒකෙන් අනුරූප දේ නිපදවන්න ගතියක් ඇති කරන්න ඕන. එතකොට ගති ශක්තිය බලවත් වෙලා ක්‍රියාත්මක වෙනවා. විසාල ශක්තියක් ඒකෙන් නිපදවනවා. මේවාට සෘද්ධි ප්‍රාතිහාර්ය කියල කියනවා.

සත්ත්වයා හිත විසුරුවාගෙන හොයමින් පරීක්ෂණ කරමින් ජීවත් වෙනව කියන්නෙ මොකක්ද? දැන ගැනීමේ බලාපොරොත්තුව සිතේ තදින් ඇති කරගෙන සිටීම. දැනගන්න නම් ස්පර්ශ කරන්න ඕන. ස්පර්ශය නම් ඇස, කන, නාසය, දිව, ශරීරය, මන කියන ඉන්ද්‍රියන්ගෙන් බාහිර වූ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම කියන මේවා සට්ටනය කිරීම. ඒ නිසා ස්පර්ශ ඉන්ද්‍රියන් කෙරෙහිත් බාහිර වූ රූප, ශබ්ද... ආදිය කෙරෙහිත් තමන්ගෙ අවදානය නිතර යොමු කරමින් ඉන්නවා. මේවායින් ස්පර්ශ කරන්නෙ ලෝකය. (ක්ෂය වන/පහත් දේවල් ලොවනවට ලෝකය කියල කියනවා) ස්පර්ශ කරන්නෙ ආස්වාද බලාපොරොත්තුවෙන්. මේ සඳහා ඉන්ද්‍රියන් වෙන් වන ආකාරය මේ විදිහට දක්වන්න පුළුවන්. ලෝකය හැදිල තියෙන දේ මොනවද?

තද ගතිය (පඨවි), ද්‍රව ගතිය (ආපෝ), ආකර්ශණ ගතිය (ආකාස), වායු ගතිය (වායෝ) උෂ්ණ ගතිය හෙවත් ආලෝක ගතිය (තේජෝ), විඤ්ඤාණ. මේ මූලද්‍රව්‍ය (මුල් වූ හේතු) හයෙන් තමයි ලෝකය හටගෙන තියෙන්නෙ. ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස, විඤ්ඤාණ ධාතු කියල මේ මූලයන් හඳුන්වනවා. එතකොට ඕනම දෙයක් බිඳින්න පුළුවන් කුඩාම කොටස වන සුද්ධාෂ්ටකය ගත්තම ඒ හැම සුද්ධාෂ්ටකයකම ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ද, රස, ඕජා කියන අවිනිර්භෝග රූප කලාප අට සමාන වුනත්, ධාතු විදිහට ඝනීභවනය වෙනකොට ගති වෙන වෙනමයි පිහිටන්නෙ. මොකද එතකොට ☞

සුද්ධාෂ්ටකයේ ගතිවලින් කොටසක් ඔප් නැංවෙනවා. ඒ ඔප්නැංවෙන්නෙ සුද්ධාෂ්ටකවල භ්‍රමණ චක්‍ර නිසා. සුද්ධාෂ්ටක නිශ්චලව පවතින්නෙ නෑ. හැම වෙලේම ඒවාට අදාල භ්‍රමණ චක්‍රයකට අහුවෙලාමයි පිහිටන්නෙ. ඒ චක්‍රය යම් සේද සුද්ධාෂ්ටකයත් ඒ විදිහටම පිහිටනවා. ඒ භ්‍රමණ චක්‍ර වෙනස් කරන්න බෑ. ඒක කර්ම ශක්තියෙන් හෝ චිත්ත ශක්තියෙන් හටගන්න හැටියටමයි තියෙන්නෙ. එතකොට මේ සුද්ධාෂ්ටක භ්‍රමණය වෙවී එකින් එකට ඔප් නැංවෙන කොට තමයි පඨවි, ආපෝ, තේජෝ... ආදී වශයෙන් වෙනස් ධාතු හට ගන්නෙ. හැබැයි පඨවි ධාතුව ගත්තොත් ඒකෙ ආපෝ, තේජෝ, වායෝ ආදී අනිත් ගතිත් තියෙනවා. නමුත් වැඩිපුර ඔප් නැංවෙච්ච එක තමයි ප්‍රධාන ගතිය විදිහට ඇවිත් ඒ නමින් හඳුන්වන්නෙ. උදාහරණ විදිහට ජලය කියන්නෙ ආපෝ ධාතුව. හැබැයි ජලයේ පඨවි, තේජෝ, වායු කියන ගතිත් තියෙනවා. නමුත් වැඩිපුර ඔප් නැංවිලා තියෙන්නෙ ආපෝ ගතිය නිසා ඒ ස්වභාවය දිස් වෙනවා. ආපෝ ධාතුවෙන් හැම වෙලේම කරන්නෙ යමක් බඳල අලවල රඳවල දෙන එක. ඒ ගතිය තමයි ඒකෙ ස්වභාවය. සිමෙන්ති, වැලි, ගල් මිශ්‍රණයකට වතුර ටිකක් දාල කලවම් කළාම ඇලෙනවා. ඒ ඇලෙන ගතිය තමයි ආපෝ කියන්නෙ. ආපෝ ගතියෙන් පඨවි අංශු අලවනවා. ඒ අලවන ශක්තිය තියෙන්නෙ ආපෝ ධාතුවේ. ජලයට ආපෝ කියන්නෙ යමක් අලවන්න ආධාර දෙන නිසා.

යම් තාක් මේ මූලයන්ගේ ක්‍රියාකාරිත්වයක් පවතිනවද, එතෙක් හේතුඵල ධර්ම වශයෙන් පවතින ක්‍රියා කලාපයන් නිසා වන කර්ම, චිත්ත, ඍතු, ආහාර ක්‍රියා පරම්පරාවලට ඇලුම් කරමින් සැරි සැරීමට සත්ත්වයා කියල කියනවා. විඤ්ඤාණ ධාතුව, ආලෝකය ඇසුරු කරගෙන පිහිටන කොට රූපාවචර (රූපයන්ගේ හැසිරීම) නම් සැරිසැරීම වෙනවා. ඒ තමයි රූපාවචර බ්‍රහ්ම ලෝක. විඤ්ඤාණය පමණක් පවතින අරූප තලවල විඤ්ඤාණ ධාතුව ඇසුරු කරගෙන පවතිනවා. එතකොට අරූපාවචර බ්‍රහ්ම ලෝක. සියලු ධාතු ඇසුරු කළාම කාමාවචර (කාමයන්ගේ හැසිරීම) ලෝකවන දෙව්, මිනිස්, ප්‍රේත, යක්ෂ, සතර අපාය ඇසුරේ සැරිසරනවා. මේ සියලු ධාතුන්ගෙන් මිදුණු තැන තමයි නිවන. මේ අති සූක්ෂම ආලෝක ධාතුව තුළත් රූප කලාප තියෙන බවත්, ඊට හාත්පසින්ම වෙනස් වූ විඤ්ඤාණ ධාතුවත් බුදුරජාණන් වහන්සේගෙ දේශනාවෙන් වටහා ගන්නව මිසක්, ඒකෙ ස්වභාවය ශ්‍රාවක ඥානයකට විෂය වන්නක් නොවන බවත් දැනගන්න ඕන.

මේ ධාතු මූලයන් එකින් එක සියුම් වෙනවා. විඤ්ඤාණ ධාතුව හැර ඉතිරි සියල්ල රූප ධාතුවලට අයත්. ආකාස ධාතුව කියන්නෙ රූපත් ඉක්මවා යන එකක්. ඒක තමයි සියළු රූපයන්ගේ මූලය වෙන්නෙ. මේ රූප කලාප තුළ ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා කියන කොටස් අට කිසි විටෙකත් වෙන් කරන්න බැරිව එකකට එකක් බැඳිල පවතින බව බුදු වදනක්. **සත්ත්වයා කියන්නෙ මේවායේ ආස්වාදජනක වූ ප්‍රිය මධුර ස්වභාවයන්ට ඡන්ද රාගයෙන් බැඳිල අනන්ත සංසාරයේ පටන් සත්ත්ව නාමයෙන් පැවත එන ක්‍රියා රටාවක් බවත්, හේතුඵල රටාවක් විදිහට පැවැත්මක යෙදිල තියෙන බවත්, අනන්ත අප්‍රමාණ අතීතය බැලුවත් හැම සත්ත්වයෙක්ම නොසිටි කාලයක් නොදකින බවත්, හිටපු බවම** පේන බවත් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. අනන්ත අතීතය බැලුවත් සැරිසැරීමක් තිබුණු බව බුදු නුවණින් දැකල තියෙන ඒ අතීත ආදී මූල වෙනත් කෙනෙක් විසින් සොයන්න යෑම, මහා පෘථිවිය බුදු නුවණ නම් දූහුවිලි අංශුවකටවත් සම කරන්න බැරි ඒ වෙනත් කෙනෙකුගේ සාමාන්‍ය අභිඤ්ඤා බල දිව්‍යසකින් බලන්න සිතීම පවා මහත් විහිළුවක්. පර්යේෂණ මනසක් තියෙන සත්ත්වයෝ තමන්ගෙ නුවණේ තරම නොදන්න නිසාත්, පර්යේෂණ ආසාව නිසාත් ලෝක විෂය, සත්ත්ව විෂය, කර්ම විෂය, ධර්ම විෂය, චිත්ත විෂය කියන අචින්ත්‍ය විෂයන් හොයන බවත්, අවසානයේ අංශු මාත්‍රයක්වත් හොයල ඉවර කරගන්න බැරිව උමතුවට පත්වෙන බවත්, එහෙම නැත්නම් මිථ්‍යා මතයකට බහින බවත් බුද්ධ දේශනාවක්.

එහෙනම් අපි හොයන්න ඕන මේවා නෙවෙයි. හොයන්නෙ මොකටද කියන ප්‍රශ්නය ඉස්සෙල්ලම බලන්න ඕන. එතකොට පේන්නෙ, දැන ගැනීමේ බලාපොරොත්තුව සහ ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවය තියෙන බවත්, තමාත් එහි තදින් බැඳී සිටින බවත්. එහෙනම් තමන්ට කරන්න තියෙන්නෙ මුළාවට පත්වීම නෙවෙයි, දුක් ගිනි දාහ අනන්තව විඳගෙන එන, විඳගෙන යන මේ අසහනකාරී අනන්ත දුක ඇති සසර ගමන වටහාගෙන ඒ ගමන කෙළවර කරන්න උත්සාහ කිරීම. ලෝකයේ ආසාවෙන් බැඳුණු සත්ත්වයා මොකකට මොකක් අරගෙන මොකක් සොයමින් සැරිසරනවද කියන ප්‍රශ්නයට පිළිතුරු ගත්තම, තමන් කරගෙන යන නිසරු වැඩපිළිවෙළ ගැන තමන්ටම පිරිසිඳ (ප්‍රියභාවය සිඳ) දැන ගන්න පුළුවන් වෙනවා. මේ ලෝක ආස්වාදයට බැඳුනු සත්ත්වයෝ හය ආකාරයකින් ලෝකය පිළිබඳව ස්පර්ශ සොයමින් ප්‍රිය බව මධුර බව සොයමින් ඒ ආස්වාද අල්ල ගන්න බැරිව, ජලයයි කියල හිතල මිරිඟුව පසුපස යන මුවන් වගේ සංසාරය නමැති කාන්තාරයේ යන ගමන මේ විදිහට දැනගන්න ඕන. එහෙනම් සත්ත්වයන්ට ඉන්ද්‍රියන් හයක් ලැබීමට හේතුව විමසා බලමු.

ලෝකයේ ආස්වාද විඳීමට, ප්‍රිය බවට, මධුර බවට ඇලුනු සත්ත්වයා ස්පර්ශයන් සොයාගෙන ලෝකයේ සැරිසරන බව මුලදී පෙන්වුවා. දැන් අපි මෙහෙම හිතමු. යකඩයක් අරගෙන ලීයක් සමග ගැටෙන්න, ස්පර්ශ වෙන්න සැලැස්සුවොත් මොකක් වෙයිද? ලීය ගෙවෙනවා, යකඩය ඉතිරි වෙනවා. ඒ වගේම ලීයක් අරගෙන ගලක් සමග ස්පර්ශ වෙන්න සැලැස්සුවොත් ලීය ගෙවිල ගල ඉතිරි වෙනවා. මේ විදිහට කිසි විටෙක ස්පර්ශ සමතාව ලබන්න නම් ලීයට ලීයත්, ගලට ගලත්, යකඩයට යකඩයත් වගේ ඒ ස්පර්ශයන්ට සමතාවක් තිබිය යුතු කොටස් දෙකක් ස්පර්ශ වෙන්න ඕන. ඒ වගේම යම් ස්පර්ශයකින් ආස්වාදයක් ලබන්න නම් කර්කෂ භාවයේ පිහිටලත් බෑ. හරියාකාරව ගැළපීම තියෙන්න ඕන. ලෝහමය එන්ජිමක යකඩයක යකඩයක් ඇතිල්ලෙන විදිහට සවි කරල, ඒ දෙකේම තියෙන තද ගතිය නිසා එකට අතුල්ලනකොට (ඝර්ෂණය) ඇතිවන ගෙවීම වැළැක්වීමට සනත්වය ඇති තාපයට ඔරොත්තු දෙන තෙල් වර්ගයක් දමනවා අපි දැකල තියෙනවා. එතකොට තමයි යකඩයෙන් ගන්න ඕන නියම ප්‍රයෝජනය නියම විදිහට ගන්න පුළුවන් වෙන්නෙ. ඒ වගේම පඨවි ධාතුව කියල කියන තද ගතිය තුළින් ලැබෙන ආස්වාදය සඳහා තද ඉන්ද්‍රියක්ම අවශ්‍යයි. ඒ කියන්නෙ සනීභවන වෙච්ච දේක ස්පර්ශය ලබන්න නම් සනීභවන වෙච්ච ☞

ඉන්ද්‍රියක්ම ඕන. ඒ නිසා තද දෙයක ස්පර්ශ ආස්වාද ලබන්න තද ඉන්ද්‍රියක් විදිහට කය සකස් වෙලා තියෙනවා.

ලෝකයේ සනත්වයෙන් අඩු දෙවැනි කොටසට වැටෙන්නෙ ද්‍රව සහිත ද්‍රව්‍ය. ඒ සඳහා ද්‍රව සහිත (ආපෝ ගතිය) තරමක් මෘදු ඉන්ද්‍රියක් අවශ්‍යයි. ඒවායේ ස්පර්ශය සඳහා ඊට ගැළපෙන විදිහට දිව සකස් වෙලා තියෙනවා. ඒ තමයි රළු බවින් දෙවන ඉන්ද්‍රිය. හැබැයි මෙතනදි දිව කියල කියන්නෙ පිටට පේන මස් ලේවලින් හැදිච්ච ඝන කොටස නෙවෙයි. ඒකෙ පිහිටල තියෙන ඉතා සියුම් රසාංකුර. ද්‍රවයක ආස්වාදය ලබන්නෙ දිවෙන් රස විඳීමෙන්. වියළි හෝ ඝන දෙයක් ලැබුණොත් කෙළ සමග මිශ්‍ර කරල ද්‍රව බවට හරවල රස විඳිනවා.

ඊළඟට තියෙන්නෙ අංශු නමින් හඳුන්වන සනත්වයෙන් තුන්වැනියට අඩු කොටස. ඒක ද්‍රව ගතියටත් වඩා සියුම්. අවකාශය වැඩිපුර අරගෙන විහිදිලා යන සුවඳ වර්ග, ස්ප්‍රීත්තු වර්ග ආදිය මේ තෙවැනි කොටසට අයත් වෙනවා. **අංශු කියන්නෙ ඒ ඒ ද්‍රව්‍යවල තියෙන ස්වභාවය ඉක්මවන්නෙ නැතිව කඩන්න පුළුවන් කුඩාම කොටස. උදාහරණ විදිහට දොඩම් කියන වර්ගය ඉක්මවා ගියොත් දොඩම් සුවඳ නැතිවෙලා යනවා. එතකොට දොඩම් සුවඳ ගන්න පුළුවන් ඉතාම කුඩා කොටස තමයි දොඩම් අංශු. ඒ අංශු තිබුනොත් තමයි දොඩම් සුවඳ දැනෙන්නෙ.** ඒ සුවඳ දැනෙන්න නම් ඒ අංශු නාසය ළඟට ඇවිත් නාසයේ ස්පර්ශ වෙන්න ඕන. එතකොට අංශු එන්නෙ ආකාස ධාතුව හරහා. ආකාස කියන්නෙ ආකර්ෂණය කියන එක. එකින් එක අංශු ආකර්ෂණය වෙනවා, අන්න ඒ අංශු ගැලවිලා ඇවිත් තමයි අපේ නහයට ස්පර්ශ වෙලා ගඳ සුවඳ දැනෙන්නෙ. වායුවත් එක්ක සම්බන්ධ වෙලා තමයි ඒ අංශු එන්නෙ. එතකොට සුවඳ ආඝ්‍රාන වශයෙන් අරගෙන ඒවායේ ආස්වාදය නාසයෙන් විඳගන්නවා. ඒ නාසය තමයි සිරුරේ තෙවැනි මෘදු ඉන්ද්‍රිය. දිවට පොල් කෙන්දක් වගේ දෙයක් වැදුනම ඉවසන්න පුළුවන් වුනාට නාසය ඇතුලට එහෙම දෙයක් වැදුනොත් ඉවසන්න බෑ. මොකද මෘදු බවින් වැඩියි.

ඒ වගේම මෙතනදි ආකාසයයි, අවකාශයයි කියන්නෙ කාරණා 2 ක්. අවකාශය කියන්නෙ ඉඩ ප්‍රමාණයක්. ආකාසය කියන්නෙ කාන්දමක් වගේ බැඳිල රැඳිල තියෙන දැල් රටාවක්. මේ කියන ආකාස ධාතුවෙන් තමයි ආපෝ, තේජෝ, වායෝ, පඨවි කියන අනෙක් ධාතු හතර හදන්නෙත්. ඊටත් කලින් විඤ්ඤාණ ධාතුවෙන් තමයි මුල පටන් ගන්නෙ. ඊට පස්සෙ ආකාස ධාතුව හරහා පටිච්ච සමුප්පන්නව අනෙක් ධාතුත් නිෂ්පාදනය කරනවා. මුලින්ම මනස මුල් වෙලා විඤ්ඤාණ ධාතුවෙන් චිත්තජ/කර්මජ රූප නිපදවල තමයි ආකර්ෂණය කරල දෙන්නෙ.

හතරවනුව මෘදු ධාතු කොටස තමයි වායුව. වායු කම්පනය නිසා අපට හඬ ඇහෙනවා. හඬ ලබන්නෙ වායු කම්පනය වෙනකොට ඒ කම්පන තරංග ශ්‍රවණේන්ද්‍රියෙන් ස්පර්ශ කිරීමෙන්. ශ්‍රවණේන්ද්‍රිය තමයි නාසයට වඩා සියුම් ඉන්ද්‍රිය. එතනදිත් ඉන්ද්‍රිය කියන්නෙ පිටට පේන කන නෙවෙයි. ඒක ඇතුලෙ පිහිටල තියෙන ඉතාම සියුම් කොටසක්. ඒ කොටසේ යම් බාහිර දෙයක් ස්පර්ශ වුනොත් නාසයේ ස්පර්ශ වුනාටත් වඩා අමාරුයි. මොකද ඊටත් වඩා අති සියුම් නිසා. මීටත් කුඩා රූප ධාතුව මොකක්ද? වායුවේ කුඩා අංශුවට අද භාවිතා කරන්නෙ පරමාණුව කියල. ඊටත් වඩා කුඩා වෙන කොට ඒක ශක්ති නමින් හඳුන්වන රූප කලාපවලට වැටෙනවා. මේවා වාතයටත් වඩා සියුම් මෘදු බවින් පස්වන කොටස වන ආලෝක නමින් හඳුන්වනවා. මේ ආලෝක ස්පර්ශය ලබන්න සිරුරේ ඉතා සියුම්ව පිටට පේන මෘදු ඉන්ද්‍රියක් වශයෙන් ඇස පවතිනවා. ඒකෙන් තමයි රූප බලන්නෙ. හැබැයි මෙතනදිත් ඇස කියන්නෙ බාහිරට පේන මස් ලේ ඇහැ නෙවෙයි. ඒකෙ ඇතුලෙ තියෙන සියුම් කොටස. ඒ සියුම් කොටසෙ බාහිර යමක් වැදුනොත් නාසය, කන කියන ඉන්ද්‍රියන්වල වැදුනටත් වඩා අමාරුයි. මොකද මෘදු බවින් ඉතාමත්ම වැඩියි. පොඩි දෙයක් වැදුනත් ඇස්වලින් කඳුළු පනින්නෙ ඒ නිසා.

එතකොට ඇසට ගෝචර වන මේ ආලෝක කිරණ අතර සියුම් හා අති සියුම් විදිහට කොටස් දෙකක් තියෙනවා. සියුම් කොටස ඇසින් දකින කොට අති සියුම් කොටස දකින්නෙ මනසින්. ඒ තමයි ඉතාමත්ම සියුම් වන හයවැනි ඉන්ද්‍රිය. ලෝක ස්පර්ශයේදි දැඩි වූ සතර මහා භූත කෙරෙහි හිත බැඳෙන කොට අති සියුම් කොටස වන මනසින් දකින කොටස අන්ධ වෙනවා. නමුත් නොඇලෙන නොබැඳෙන ගතියෙදි ඒ කොටස වැඩිල නැවත පේන්න පටන් ගන්නවා. සත්ත්වයාගෙ සංසාර ගමනෙදි ඇහැට නොපෙනෙන දිව්‍ය, අමනුස්ස... ආදී සියුම් ශරීරත් මේ මනසින් දකින්න පුළුවන්. සිත ප්‍රභාස්වර බවෙහි පිහිටනවා කිව්වෙ ආලෝකයට සුදුසු බව ස්පර්ශ කරල මනේන්ද්‍රිය පිහිටීම. චතුර්ථ ධ්‍යානයෙදි පූර්ණ වූ ලෞකික ප්‍රභාස්වර බවෙහි හිත පිහිටනවා. සමහරු මේ දැහැනට නිවන කියලත් රැවටෙනවා.

එතකොට ශරීරය, දිව, නාසය කියන ඉන්ද්‍රියන් තුනෙන් යම් ආස්වාදයක් ලබන්න නම් ඒ ඉන්ද්‍රියන්ට ස්පර්ශවන ධාතු, ඉන්ද්‍රියන්ට ළං වෙන්න ඕන. නමුත් ඇසින් සහ කනින් ආස්වාද විඳින්න ඒ ස්පර්ශ වන ධාතු ළං වෙන්න අවශ්‍ය නෑ. රූප බලන්න, ශබ්ද අහන්න ළං වෙන්න ඕන නෑ. ඈත ඉඳන් බලන්න, අහන්න පුළුවන්. දුර පටන් කරන කම්පනයන්ගේ අග කෙලවර ඒ ඉන්ද්‍රියන්ට සම්බන්ධ වෙනවා. මනේන්ද්‍රියත් එහෙමයි. ළඟට ඇවිත් ධර්ම ගට්ටනය වීමක් වෙන්නෙ නෑ.

එතකොට කය, දිව, නාසය, කන, ඇස, මන කියන ඉන්ද්‍රියන් ගත්තම වැඩිම රළු බවින් යුත් කයේ ඉඳන් ක්‍රමයෙන් රළු බවින් අඩු වෙමින් මනස දක්වා යන ස්පර්ශ ආකාරයන් හයක් ලබනවා. එකම ඉන්ද්‍රියකින් ලෝකයේ තියෙන සියළු ස්පර්ශ ලබන්න බැරි නිසයි මේ විදිහට ඒ ඒ ස්පර්ශයන්ට ගැළපෙන විදිහට ඉන්ද්‍රියන් හයක් හැදිල තියෙන්නෙ. ඒ කියන්නෙ අති සියුම් ස්පර්ශයි, ඝනීභවන ස්පර්ශයි එකම ඉන්ද්‍රියකින් ලබන්න බෑ.

එතකොට ආදී බ්‍රහ්ම කල්පික මනුස්සයා ගත්තත් මේ කියන ඉන්ද්‍රියන් 6 තිබුණා. හැබැයි ඇස් දෙකයි, කන් දෙකයි, මනේන්ද්‍රියයි කියන ඉන්දියන් 3 න් විතරයි මුලින් ඒ අය ස්පර්ශ ගත්තෙ. අනෙක් ඉන්ද්‍රියන් 3 අනුශය විදිහට යටපත් වෙලා තිබුණෙ. අනුශය කෙලෙස් මතු වෙලා එනකොට තමයි ඒ ඉන්ද්‍රියන් 3 ත් පිටතට මතු වුනේ. සියුම් කයක් තිබුණට ලිංගේන්ද්‍රියක් තිබුණෙ නෑ. භූමි පටකවල සුවඳ එනකොට ඒකට අරමුණක් ගෝචර වෙලා ආඝ්‍රාණය කරල තමයි යටපත් වෙලා තිබිච්ච නාසය මතු වුනේ. පොළොවෙ සුවඳට තමයි හිත ඇදිල ☞

අරමුණක් ආවෙ. ඝානඤ්ච පටිච්ච ගන්ධේච උප්පජ්ජති ඝාන විඤ්ඤාණං කියන එකයි සිද්ධ වුනේ. ඒ වගේම කිරි සහිත පොළොවෙ රසයට හිත අරමුණු වෙලා තමයි යටපත් වෙලා තිබ්ච්ච දිව මතු වුනේ. එතෙක් ආකාසචාරීව හිටපු බ්‍රහ්ම කල්පික මනුස්සයා එතැන් පටන් පොළොව දෙසට ආකර්ශණය වෙන්න පටන් ගත්තා. කය ක්‍රමයෙන් ඝනීභවනය වෙන්න පටන් ගත්තා.

මේ විදිහට ලෝකයේ ස්පර්ශය හය ආකාරයකින් ලබන්න ඉන්ද්‍රියන් හයක් ලබන සත්ත්වයා කර්මජ තේජෝ ධාතුවේ ආධාර ලබමින් ජීවය පවත්වනවා. ඒක සත්වයාගේ කර්ම ශක්තියෙන් තමයි ජනිත වෙන්නෙ. අන්න ඒ කර්මජ තේජෝ ධාතුවෙන් තමයි සත්වයෙක්ගෙ ශරීරය නරක් නොවී පවත්වගන්නෙ. ශරීර උෂ්ණත්වය කියන්නෙ ඒකට. තුන් ලෝකෙ ඉන්න හැම සතෙකුගෙම කය පවත්වන්නෙ මේ කියන කර්මජ තේජෝ ධාතුවෙන්. ඒකෙන් මිදුනොත් එතනින් චුත වෙනවා, එහෙම නැත්නම් මැරෙනවා.

මේ විදිහට සත්වයා තේජෝ ධාතුවෙන් ජීවය පවත්වමින් කාම, රූප ලෝකවල ගමන් කරනවා. මේ රූප කලාප සම්බන්ධ නැති මනෝ ධාතුවට පත්වෙන කොට රූප ලෝකය සම්බන්ධ සියලු ආස්වාද අත්හැරල අති සූක්ෂම මනෝ ධාතුවේ අරූපීව පිහිටනවා. ඒකෙ ද්‍රව්‍යමය රූප වස්තු නෑ. පැවැත්ම තියෙන බව වැටහෙනවා. මේ තමයි අරූප ලෝකය. රූප මිනුම් සම්බන්ධ නැති නිසා රූප ලෝකවල හඬ අහන්නත්, රූප ලෝක දිහා බලන්නත් බෑ. මේ තමයි සත්ත්වයා සැරිසරන කාම, රූප, අරූප කියන තුන් ලෝකය. අනන්ත සංසාරයේ පටන් ලෝක සත්ත්වයා මේ තුන් භවයේම සැරිසරන නමුත් පුණ්‍ය ශක්තියෙන් ඉහළ අත්බැව්වල ඉපදෙමින් ඒ ශක්තිය කෙළවර වෙන කොට නැවත පහත තලවලටත්, පාපී ගති ඇති කරගෙන නැවත අපායටත් යනවා. අනන්තව අනාථව අසරණව, කරපු පින් පව්ම උරුම කරගෙන, කැමති සේ ඉන්න උත්සාහ කළත් එසේ නොහැකිව සංසාර ප්‍රවාහය නමැති මහා ජල කඳට අහුවෙච්ච පරඬලා පත් වගේ උඩ විසිවෙමින් යට කිමිදෙමින් අනන්ත දුක් කඳක් දරාගෙන සැරිසරනවා, ඇසුරු කරනවා, නැවත යන්න වෙනවා. කැමති සේ ඉන්න පුළුවන් නිත්‍ය (නිසි) වාසයක් කිසි තැනක නොලබා අනාථව සසර සැරිසරනවා.

දැන් මෙතනදි එක දෙයක් හිතන්න ඕන. **තද දේවල් ශක්තියෙන් බලයෙන් වැඩි බව මතුපිටින් පෙනුණත්, එකින් එක අනුපිළිවෙළින් ඉහත විස්තර කළ හය ආකාරයන්ගෙන් සූක්ෂම දේ බල වැඩියි. තද (පඨවි) දේවල්වලට කරන්න බැරි බරපතළ ක්‍රියාකාරී වැඩ කොටසක් ජලය (ආපෝ) විසින් සිද්ධ කරනවා.** වර්ෂාව ඇති වීම, අධි පීඩන ජල දහරාවලින් විදුලිය නිපදවීම ආදී දේවල් ජලය නිසා සිද්ධ කෙරෙනවා. ඒ ජලයෙන් ඝනීභවන වස්තු දිය කරනවා, කඩල බිඳල දානවා, විවිධත්වයට පත් කරනවා. මීට වඩා බලවත් දේවල් වාෂ්ප මගින්, වාෂ්ප වන ස්ප්‍රීත්තු මගින් කරන්න පුළුවන්. ජලය ඉහළට ගෙන ගිහින් වැස්ස ඇති කිරීම, වාෂ්ප බලයෙන් යන්ත්‍රසූත්‍ර ක්‍රියාකරවීම වගේ දේවල් වාෂ්ප වගේ අවකාශයේ ඉඩ ලබන කොටස් මගින් සිද්ධ කරනවා. මීටත් වඩා සියුම් වූ වායුව, වාෂ්ප බලයටත් වඩා වැඩි ක්‍රියාවක් සිද්ධ කරනවා. සුළි සුළං, වායු පීඩන ආදියෙන් කරන හොඳ නරක දෙකම වාෂ්ප බලයටත් වඩා අධික බල දරනවා. මීටත් වඩා සියුම් තේජෝ ධාතුව මේ සියල්ල වනසන්නත්, යහපතටත් බලය ගෙන එනවා. මීටත් වඩා සියුම් වූ ආලෝකය, කිරණ වර්ග මේ සියල්ල අභිබවා සිටිනවා. ලේසර් කිරණ ආදිය භාවිතා කරමින් අද වෙනකොට මහ විශාල යකඩ, කළුගල් පවා සිදුරු කරනවා. ඒකත් ආලෝක කොටසේ සූක්ෂමයක්.

දැන් මේ සියල්ලටම වඩා අති සූක්ෂම වූ මනෝ ධාතුව තමයි මේ සියල්ල හසුරුවන, පාලනය කරන මහා බලය. මනෝ ධාතුවේ බල ශක්තිය ලැබෙන ආකාරය ඉහත කියපු න්‍යායෙන් වටහාගන්න ඕන. **මනායතනය ප්‍රබල ස්පර්ශයන් ලබල ක්‍රියාකරන කොට අන් සියලු ලෝක ධාතු කොටස් පාලනයට යෝග්‍ය විදිහට කටයුතු කරනවා. ඒ නිසා චිත්ත ගති ශක්තිය තමයි මේ විශ්ව තලයේ ශක්ති මූලය, ශක්ති ප්‍රභවය.** ඒ ශක්තිය මතු කර ගන්නෙ සිත, කය, වචනය ඇලීම් ගැටීම්වලින් තොර කරගෙන ඍද්ධිමත් බවට පත් කරගෙන. බාහිර කාමාස්වාද සඳහා විසිරිලා ගිහින් මුළා ගති ඇති කෙනෙකුට තමන් තුළ ඒ ශක්තිය යටපත් වෙලා ඇත්නම්, ලැබීමට වාසනාව ඇති මේ අපූර්ව චිත්ත බලය ගැන සිතීම පවා උගහටයි.

මෙතනදි දැනගන්න ඕන තවත් කාරණයක් තමයි රාග, ද්වේශ, මෝහ ස්වභාව සහගත හෝ ඒ ස්වභාව නැති සිතකින් හෝ පමණක් මේ අභිඤ්ඤා බල ලබන්න බැරි බව. ඒ සඳහා යම් සිතක් ඇත්ද එයින්ම ඒ දේ කරන්න පුළුවන්. ''මෙච්චර භාවනා කරලත් එක ප්‍රතිඵලයක්වත් ගන්න බැරිවුණා'' මේ කෙනෙක් කියන හැටි. මේ කාරණය කියමින් ළතැවෙන්නෙ, මුළාවෙන්නෙ නැතිව තමන්ගෙ හිත කෙබඳුද කියල විමසන්න ඕන. තවත් කෙනෙක් ''මම සත්තු මරන්නෙ නෑ, සොරකම් කරන්නෙ නෑ'' මේ ආදී වශයෙන් කියනවා. ඒ වගේම ''මම අවුරුදු දහයක් විතර වෙනවා භාවනා කරන්න පටන් අරන්'' කියල මෙහෙමත් කියන්න පුළුවන්. ''මට නම් භාවනා කරන්න කියල දෙන්න ඕන නෑ, මම පාලි සංස්කෘත දන්නවා, හොඳට පොත් කියවල තියෙනවා''. තවත් කෙනෙක් මෙහෙමත් කියන්න පුළුවන්. නමුත් සෙවිය යුත්තේ දැහැන් සිත කෙබඳුද, මට එහෙම එකක්ද තියෙන්නෙ, නැත්නම් ළාමක හිතක්ද තියෙන්නෙ කියන කාරණය. එතකොට තේරෙනවා තමන් විසින් කළ යුතු කොටස. දිවැස්, දිවකන් ලැබෙන්නෙ චතුර්ථ ධ්‍යාන සිතකින් දිවැස් යොමුකරන මනසිකාරය නැගුණ විට. යම් තරමකට නැගුණ නම් ඒ තරමට පේනවා, ඇහෙනවා. හැබැයි තෘතීය ධ්‍යානයට සමවදින්න පුළුවන් වුණත් අංශු මාත්‍රයකවත් දිවැස් ලැබෙන්නෙ නෑ. ඒ දැහැන් සිතෙන් ලැබෙන්නෙ කායික, මානසික සුඛය විතරයි. ඒ වගේම චතුර්ථ ධ්‍යානයෙදී උපේක්ෂාව මිසක් සුඛය ලබන්න බෑ. හරියට කැලණිය බලන්න අවශ්‍ය නම් කැලණි යන්නම ඕන වගෙයි. කොළඹට ළඟයි කියල කැලණිය පේන්නෙ නෑ. ඒ වගේ කැලණිය පහුකරල කොළඹ ගියාම කොළඹ පේනවා, කැලණිය පේන්නෙ නෑ. මේ විදිහට යම් තැනකට ගියාම එතැන තියෙන දේ පේනව වගේ, හිතෙන් යමක් කරන්න උවමනා නම් එතැනට හිත පමුණුවා ගන්න ඕන. මේ ක්‍රමයට දැන ගත්තම ප්‍රතිඵල ලබා ගන්න ලේසියි, සාර්ථක වෙනවා.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# ශූන්‍යාගාර භාවනාව

සම්මා දිට්ඨී, සම්මා සංකප්ප, සම්මා වාචා, සම්මා කම්මන්ත, සම්මා ආජීව, සම්මා වායාම, සම්මා සති කියන මාර්ග හංග හත වැඩීමේ ඵලය සම්මා සමාධියයි කියන කාරණය 54 වෙනි හෙළ බොදු පියුම කලාපයෙන් පැහැදිලි කළා. මේ කරුණ තවදුරටත් අංගුත්තර නිකායේ 4 වෙනි කාණ්ඩයේ 343 පිටුවේ එන සමාධි පරික්ඛාර සූත්‍රයෙනුත් තහවුරු වෙනවා. "සමාධි පරික්ඛාර හතකි. සම්මා දිට්ඨී ..... සම්මා සති. මේ ආර්ය සම්මා සමාධියට සපරික්ඛාර යැයි ද කියනු ලැබේ" සපරික්ඛාර කියන්නෙ පිරිකර සහිත කියන එක. ඒ කියන්නෙ උදව් උපකාර, උපනිශ්‍රය වන දේ. ඕනෑම දේකට උදව් උපකාරවන, උපනිශ්‍රයවන දේවල් තියෙනවා. ඒවාට කියන්නෙ පරිෂ්කාර / පිරිකර කියල. උදාහරණ විදිහට සීලයට වත පරිෂ්කාරයි.

තණ්හා නිරෝධ කිරීමෙන් නිවන් දකීමේ ප්‍රායෝගික පුහුණුව කෙසේ විය යුතුද කියන කාරණය විමසා බලමු. අපි එදිනෙදා ජීවිතයේ යම් යම් කටයුතුවල යෙදිල ඉන්නවා. ටික වෙලාවකදි, ඉස්සර ආසාවෙන් රස විඳපු ගීතයක් හිත ඇතුළෙ ගායනා කරන බව දැනෙනවා. ඒ කියන්නෙ අතීත අරමුණක් මනසට ස්පර්ශ වෙලා, ඒ අරමුණ කෙරේ කාමරාගයක් ඇති වෙලා. දැන් හිතේ කාමරාගයක් ඇති බව දැන ගන්නවා. දැන ගන්නෙ සම්මා සතියෙන් කටයුතු කරන නිසා. කාමරාගය නුවණ දුබල කරන, ලාමක වූ, උල් වගේ විපාක වේදනා ගෙන දෙන ආදීනවයන් ඇති අකුසලයක්. මේ බව දැනගන්නෙ සද්ධර්ම ශ්‍රවණයෙන් දැනගත් දහම සිතේ දරාගෙන නිතර විමස විමසා බැලීමෙන්. මේ කාමරාගයට හේතු වුනේ ශබ්ද රූපයන්ගේ යථා ස්වභාවය නොදන්නා, නොදක්නා අවිද්‍යාව. සද්ධර්ම ශ්‍රවණයෙන් සිවු අරිසස් දැක්කත්, අවිද්‍යාව සහමුලින් දුරුවෙන්නෙ අරිහත්වයෙන්. ඒ නිසා මතු දුක් විපාක ගෙන දෙන කාමරාගය හිතෙන් බැහැර කරන්න ඕන. බැහැර කරන්නෙ කොහොමද?

මේ ගීතය කියන්නෙ ශබ්ද රූපයක්. ඒක මොහොතින් මොහොත ස්පර්ශ වෙවී, ගෙවී ගෙවී, වැනසිලා යන ශබ්ද මාත්‍ර වැලක්. මේ ශබ්ද මාත්‍ර වැල එකතු කරල මනසින් සකස් කරල දුන්න සංඛතයක්. ගීතය ඇහුන කනත් සංඛතයක්. සංඛතවල ස්වභාවය කැමති සේ නොපැවතී, විපරිනාමයට පත්වීම, දිර දිරා වැනසිලා යාම. මේ කනත්, ගීතමය ශබ්දයත් ස්පර්ශ වීමෙන් හටගත්ත ආස්වාද සැප වේදනාවත් ගෙවිල වැනසිලා යනවා. ඒ ආස්වාදය කැමැත්ත ඉෂ්ට කරන්නෙ නෑ. ඒ නිසා දුකයි. ඒ වගේම ශබ්ද කාමයට ඇලීමෙන් මතු දුක් විපාක විඳින්න සිද්ධ වෙනවා. ධර්ම මාර්ගය පූර්ණ කරගන්න තියෙන කෙටි ජීවිත කාලය ගෙවිල යනවා. අතීතයේ මේ ගීතය අහල සතුටු වුනාට හිත පිරිල නෑ. හිත පිරුණ නම් නැවත අහන්න ඕන වෙන්නෙ නෑ. මේ විදිහට ධර්මය මෙනෙහි කරන කොට ගීතය පිළිබඳ කාමරාගය දුරු වෙනවා. දුරු වුනා කියල තමන්ටම දැනෙනවා. එහෙම දැනගත්තා වූ ඥානයත් කැමති සේ නෑ. ගීතය ස්පර්ශ වෙච්ච හේතුවෙන් හටගත් කාමරාගය දුරු කරගන්න ඕන කියන අදහසින් ධර්මය මෙනෙහි කළ හේතුවේ ඵලය තමයි මේ දැනගැනීමේ ඥානය. ඒ හේතුව නැති වුනාම ඒ ඵලයත් නැති වෙනවා. වෙනත් ස්පර්ශයක් ඇති වුනාම ඒකත් නුවණින් දැනගෙන, සුදුසු විදිහට නැවතත් ධර්මය මෙනෙහි කරන්න ඕන.



මේ විදිහට ඒ අරමුණෙන් මිදිල කටයුතු කරගෙන යන කොට වැඩි වෙලාවක් යන්න කලින් තවත් අරමුණක් එනවා. ඒකත් හිතේ රැඳිල තිබුණ අතීත නාම රූප සටහනක්. පෙර දවසක කළ සාකච්ඡාවක්, සංවාදයක් ... දැන් හිතේ යනවා. මේ සංවාදයට අදාල පුද්ගල රූප කිසිවක් දැන් ඒ ආකාරයෙන් ඇත්තෙ නෑ. ඒවා විපරිනාමයට පත්වෙලා. තමන්ගෙත් ඒ අයගෙත් මානසික ස්වභාවයන් වෙනස් වෙලා. ඒ ශබ්ද රූපත් ගෙවිල වැනසිලා ගිහින්. ඒ කතා හෝ ක්‍රියා කිසිවක් දැන් වෙනස් කරන්න බැරි නාම ගෝත්‍ර බවට පත්වෙලා. ඒවා සිහි කිරීමෙන් ඇලීම හෝ ගැටීම මුල් වෙලා නැවතත් අකුසල් ගොඩනැගෙන්න පුළුවන්. නැත්නම් මුලා සහගත අසාර ආස්වාදයක් විඳිනව වෙන්න පුළුවන්. ඒවා නිවනට බාධා කරන, ධර්ම මාර්ගය පිරීමට බාධා කරන මනසිකාරයන් කියල වටහ ගන්නවා. මේ අතීත සංවාදයෙන් වෙන්විය යුතුයි කියල දැන ගන්නවා. මේ දැනගැනීම ඇතිවුනේ සද්ධර්මය ශ්‍රවණය කරල දරා ගැනීම හේතුවෙන්. දැන් නාම රූපයන්ගේ විපරිනාමය සිහි කරනවා. මේ සංවාදය දිගේ යෑමෙන් කෙලෙස් වැඩෙන බව සිහි කරනවා. කෙලෙස් සංසිඳ වූ සාස්තෘන් වහන්සේ සිහි කරනවා. මේ විදිහට සිහි කරගෙන යනකොට සංවාදය නවතිනවා. දැන් සංවාදය නැවතුනා කියල දැන ගන්නවා.

සම්මා දිට්ඨියට පත්වෙලා නැත්නම් මෙහෙම සිහි වෙන්නෙ නෑ. එතකොට හිතේ සංවාදය දිගින් දිගටම යනවා. තරහව, ක්‍රෝධය, මානය, ඊර්ෂ්‍යාව, පළිගැනීම වගේ

කෙලෙස් වැඩෙනවා. දැනීමක් නැතිවම අකුසල් රැස් කරනවා. මේ විදිහට නුවණින් මෙනෙහි කරන්නෙ නැති අය අහනවා, එහෙනම් අපි අකුසල්මද කරල තියෙන්නෙ කියල. සිවු අරිසස් නොදන්නකම නිසා, කුසල් මාත්‍රයකට අකුසල් කන්දක් විතර රැස්කරල තියෙනවා කියන කාරණය වැටහෙන්නෙ සත් දහම අවබෝධ වුන දවසට. මේ තරම් දිග සසර ගමනක් ඇවිත් තියෙන්නෙ අවිද්‍යාවයි තණ්හාවයි නිසා. සම්මා සතිය කියන්නෙ මේ "සං" කියන ගොඩනැගීමේ වැඩපිළිවෙලින් මිදීමේ (වෙන්වීමේ) සිහිය. යහපත් සිහිය කිව්වට මේ අර්ථය වැටහෙන්නෙ නෑ. යහපත් සිහියෙන් කරන යහපත් දේවල් හැම එකකින්ම නිවන් දකින්න බෑ. ඒවායින් යහපත් ප්‍රතිඵල ලැබෙන්න පුළුවන්, සුගතියට හේතු වෙන්න පුළුවන්, නරක නපුරු දුර්විපාකවලින් වැලකෙන්න පුළුවන්. හැබැයි නිවන් දකින්න බෑ.

කෑම කන්න පටන් ගත්තා. කැමති කෑම, රස කෑම, පෝෂණීය කෑම ආදිය තියෙනවා. පිළිවෙලට ටික ටික කෑම ඉවර වෙනවා. පිඟානෙ අයිනක අල කෑල්ලක්, බැදපු හාල් මැස්සෙක්, කජු මද කෑල්ලක් වගේ පුංචි දෙයක් ඉතුරු කරගෙන තියාගෙන ඉන්නවා. ඒක අන්තිමට කන්නයි හිතාගෙන ඉන්නෙ. මේ ආහාරය ජීවිතය පවත්වා ගෙන යාම පිණිසය කියල හිතා ගත්තට, අන්තිමට කන්න ඉතුරු කරගත්ත ටික රස පිණිස ගත්ත ආහාරයක් වෙනවා. සම්මා සතියෙන් නොසිටියොත් මේ වගේ පුංචි වැරදි සිද්ධ වෙන්න පුළුවන්. දැන් ඒක විසි කළාට හරියන්නෙත් නෑ. ඒ ගැන නුවණින් මෙනෙහි කරන්න ඕන. මේ ආහාරයේ මේ රසය, උයන්න පෙර තිබිච්ච එකකුත් නෙවෙයි. දිවට තියල කෙළ ටිකක් තැවරුනාට පස්සෙ ඉතුරු වෙන දෙයකුත් නෙවෙයි. කෑම ගැනීමේ ප්‍රියතාවය ඇතිකරන්න සකස් වෙච්ච දෙයක්, සංඛතයක්, විපරිනාමයට පත්වෙන දෙයක්, වැය වෙන දෙයක්. මේ රසවත් ආහාර ගන්න බැරි රෝගී තත්වයක් ඇති වුනොත් අසහනයට පත් වෙනවා. එහෙම දෙයක් තමයි මේ ආහාරය. කෑමට ගන්න ටිකක් ප්‍රමාද වුනොත් දුගඳ හමන, අප්‍රිය විපරිනාමයට පත්වෙන දෙයක්. කැමැත්තෙන් බැඳුනොත් බොහෝ දීර්ඝ කාලයක් අනාත සසර ගමනක දුක් විඳින්න සලස්වන මර උගුලක්. තමන්ගෙම ළදරු වියේ දිව මත ඒ ආහාරය තිව්ව නම්, රසාස්වාදය විඳීම කෙසේ වෙතත් දැවිල්ලෙන් අඬාවි. එහෙනම් ඒ රසාස්වාදය තිබුණෙ ඒ ආහාරය තුළ නෙවෙයි. තමන්ගෙම මනසෙ තිබුන අවිද්‍යාව නිසා කැමැත්තෙන් බැඳුන රස රූපයක්.

මේ විදිහට අභ්‍යන්තර වශයෙනුත්, බාහිර වශයෙනුත් රස රූපය පිළිබඳව නුවණින් විමසා බලන කොට රස පිළිබඳ කාමරාගය, රස රාගය දුරු වෙනවා. දුරු වුනා කියල තමන්ටම වැටහෙනවා. දැන් ඒක විසි කළත් එකයි, කෑවත් ඒකෙ අමුතු රසාස්වාදයක් නෑ. ගහල බෑණල දුන්න රස කැවිල්ලක් වගෙයි. රසාස්වාදයක් තියෙනව කියල හිතේ තිබුණ බලාපොරොත්තුව බිඳිල ගියා.

තවත් උදාහරණයක් ගත්තොත්, තමන්ගෙ ළමා කාලෙදි ඇසුරු කරපු යම් ඥාති කෙනෙක් ඉන්නවා. ඔහු රැකියාව කරන අතරෙ යම් හේතුවක් නිසා වැඩ තහනමකට ලක් වෙලා. දැන් ඒ අයත් වැඩිහිටි වෙලා. තමනුත් වැඩිහිටි වෙලා. ඉස්සර වගේ ඇසුරකුත් නෑ. දැන් මේ පුද්ගලය හීනයක් දකිනවා. අර ඥාතියා වැඩ කරපු ආයතනය ඇතුළෙ තමනුත් රාජකාරි කටයුත්තකට ගිහින් ඉන්නවා. කාර්යාලය ඇතුළෙ කවුරුවත් පේන්න නෑ. හිමිහිට අර ඥාතියගෙ පුද්ගලික ලිපි ගොනුවෙන් වැඩ තහනමට අදාල ලිපි ටික අරගෙන වටපිට බලනවා. ඒත් එක්කම එතැන ප්‍රධාන නිලධාරියා ඇතුළට එනවා. දැන් මොකද වෙන්නෙ? හීනෙන් අවදි වෙනවා.

**සමහර අවස්ථාවලදි අහන්න ලැබෙනවා හීනෙන් කරන, කියන, හිතන දේවල්වලට විපාක නෑ කියල. ඇත්තටම මේ හීනෙන් ඇහැ ඇරෙන මොහොතෙදි ලජ්ජා බය පිළිබඳ විපිළිසර බවක්, හීන් දහඩිය දැමීමක්, ශරීරය උනුසුම් වීමක් දැනෙන්නෙ නැත්ද? හීනයක් තමයි දැක්කෙ. නමුත් බය ලැජ්ජාව පිළිබඳ දැනීමක් තියෙනවා.** ප්‍රවෘත්ති විපාකයක් හෝ නැත්නම්, ඒ වගේ ශාරීරික මානසික විපර්යාසයක් ඇති වෙනවද? අපි තේරුම් ගන්න ඕන, ඥාතියා පිළිබඳ ඇලීම් සහගත සිතක් අනුෂය වශයෙන් තිබුණනම් එහෙම වෙනව කියල. සමහරවිට හීනෙන් හොරකම් කරන අවස්ථාවක් ගැන මතක සටහන යලි යලිත් ආවර්ජනය කරල මතක් කරගෙන ඒකෙන් හැබෑ ලෝකෙ අකුසල් රැස්කරගන්න වැඩ කරන්නත් පුළුවන්. ඒ වගේම, මම නම් හොරකම් කරන්නෙ නෑ කියල හිතාගෙන හිටියට, හොරකම් කරන්න ලැජ්ජා වෙනව බය වෙනව විතරයි. එහෙම නැතිව රහසින්වත් පව් නොකරන තැනට තවම පත් වෙලා නෑ. මේ විදිහට අපේ මනස තුළට එබිල බලන කොට ඒකෙ යථා තත්වය පේනවා. මේ දැන ගැනීම අවබෝධ කර ගත්තෙ සත් ධර්මය ශ්‍රවණය කරල දරාගෙන මනා සිහි නුවණින් කරන, කියන, හිතන දේ විමර්ශනය කරල බැලුව නිසා, විදර්ශනා කරපු නිසා.

අනාදියේ පටන් ඔහු මගේ ඥාතියෙක්ද? අනාගතයෙත් ඔහු මගේ ඥාතියෙක්ද? විපරිනාමයට පත්වෙලා වැනසිලා යන පංචස්කන්ධයක්, අවිද්‍යාවෙන් තෘෂ්ණාවෙන් හටගත් සංඛතයක් ''මගේ ඥාතියා'' කියල ගත්තා. "මම" කියල ගන්න, "මගේ" කියල ගන්න සුදුසු නොවන අතීත රූප, වේදනා, සංඥා, සංඛාර ස්කන්ධයන් "මගේ ඥාතියා" කියන හැඟීමෙන් ගත්තු නිසා හොරකම් කිරීමේ විඥ්ඤාණයක් ගොඩනැගුවා. ඒ හේතුවෙන් මතු සසර දුක් විඳින්න සිද්ධ වන පාප සංඛාර ගොඩනැගුවා. ඒ නිසා කාම ලෝක අනාථයි, රූප ලෝක අනාථයි, අරූප ලෝක අනාථයි, සියලු ලෝක අනාථයි... කියල නුවණින් මෙනෙහි කරන්න ඕන. ධර්මය සිහි කරන කොට අසාර ලෝකය පිළිබඳ ඇලීම දුරු වෙනවා.

මේ විදිහට හිතට එන විවිධාකාර සිතිවිලි, ක්‍රියා, වදන් මෙනෙහි කර කර රාග, ද්වේශ, මෝහ දුරු කරගන්න කටයුතු කළොත් අවසානයේ වෙන්නෙ මොකක්ද? හිත ශූන්‍යාගාරයක් වෙනවා. අං.නි. 6 වෙනි කාණ්ඩයේ 237 වෙනි පිටුවේ <u>ආකංඛෙය්‍ය සූත්‍ර දේශනාවේ</u> මේ විදිහට සඳහන් වෙනවා. "මහණෙනි, සිල් සපන්ව (සම්පන්නව) ප්‍රාතිමෝක්ෂ සීලයෙන් සමන්වාගතව වාසය කරව්. ආචාර ගෝචර සම්පන්න වූවාහු අනුමාත්‍ර වරදෙහි (ඉතාම සුළු වරදෙහි) භය දක්නා සුල්ලහු (දක්නා සුළු වූ) ප්‍රාතිමෝක්ෂ සංවරයෙන් සංවෘත වූවාහු වාසය කරව්. සමාදන් කොටගෙන සික්ෂා පදයන්හි හික්මෙව්."

මහණෙනි, ඉදින් මහණ සබ්‍රම්සරුණට (සබ්‍රහ්මචාරීන්ට) ප්‍රිය හා මනාප, ගුරු හා භාවනීය

(සම්භාවනීය) වෙම්ව'යි කැමති වේ නම්, අධ්‍යාත්ම චිත්ත සමථයෙහි යෙදුනේ, නොහළ ධ්‍යාන ඇතියේ විදර්ශනායෙන් සමන්වාගත වූයේ, ශූන්‍යාගාර භාවනාව වඩනුයේ, සීලයන්හිම පරිපූරකාරී වන්නේය."

බුද්ධ දේශනාව සර්වාකාරයෙන් පරිපූර්ණයි. ඒ නිසා අනුගමනය කරද්දි ඒ දේශනාව අනුපිළිවෙලින් පිළිපැදිය යුතු වෙනවා. ඒක භාවනාව සාර්ථක කරගන්න උපකාර වෙනවා. මුලින් කරන්න තියෙන්නෙ සිල් සපත් වීම. සමාදන් කරල සික්‍ෂා පදවල හික්මීම තියෙන්නෙ අගට. එහෙනම් මේ දෙක කාරණා දෙකක් කියන එක මුලින්ම තේරුම් ගන්න ඕන. සිල් පද කියෙව්වට සිල් සපත් වෙන්නෙ නෑ. අබුද්ධෝත්පාද කාලවලත් සිල් පද කියවල රකින පෙහෙවස් සමාදානයක් තියෙනවා. නමුත් අද පාණාතිපාතා වේරමණී කියන්නෙ "සතුන් මැරීමෙන් වෙන්වෙමි" කියන අර්ථයෙන්. ඒක සුචරිතයේ පිහිටීමක්. මේ සික්‍ෂා පදයේ නියම අර්ථය තෝරල දෙන්නෙ බුදු කෙනෙක් ලෝකයට පහළ වෙලා. සිල් සපත් වුනා නම් නොකැඩෙන, නොබිඳෙන, සිදුරු නොවෙන පහාන සීලං, වේරමණී සීලං, චේතනා සීලං, සංවර සීලං, අවිතික්කම සීලං කියන උපාසක සීලයේ (අරියකාන්ත සීලයේ) පිහිටන්න ඕන.

අං.නි.5 වෙනි කාණ්ඩයේ 240 පිටුවේ එන <u>ව්‍යග්ගපජ්ජ සූත්‍රයේ</u> උපාසක සීල සම්පදාව දේශනා කරල තියෙන්නෙ, ඉධ ව්‍යග්ගපජ්ජ කුලපුත්තෝ පාණාතිපාතා පටිවිරතෝ හෝති, අදින්නාදානා පටිවිරතෝ හෝති..... සුරාමේරය මජ්ජපමා දට්ඨානා පටිවිරතෝ හෝති, අයං වුච්චති ව්‍යග්ගපජ්ජ සීල සම්පදා කියල. මේ සිල් පදවල අරුත් අද පැහැදිලි කරන්නෙ, "ප්‍රාණ ඝාතයෙන් වැලකී ඉඳිමි.... " ආදී වශයෙන්. පාණාතිපාතා වේරමණී ...කියන එකටත් අරුත් පැහැදිලි කරන්නෙ "ප්‍රාණ ඝාතයෙන් වැලකී ඉඳිමි" කියල. මේ දෙකටම එකම තේරුම දුන්නට, බුද්ධ දේශනාවෙ බුදු හාමුදුරුවෝ අදහස් කරපු තේරුම එකක් වෙන්න බෑ කියන පටලැවිල්ලක් තියෙනවා. සුදුවත් අඳින ගිහි උපාසකයගෙ සීලය හැටියට, අං.නි.5 වෙනි කාණ්ඩයේ 120 පිටුවේ එන <u>මහානාම සූත්‍රය</u>, 122 පිටුවේ එන <u>ජීවක සූත්‍රය</u> වගේ සූත්‍ර ගණනාවකම දේශනා කරල තියෙන්නෙ, පාණාතිපාතා පටිවිරතෝ හෝති... ආදී වශයෙන්. පෙහෙවස් සමාදානය ගැන සඳහන් වෙන සූත්‍ර දේශනා ගණනාවක තියෙන්නෙ පාණාතිපාතා වේරමණී ... ආදී වශයෙන්. ඒ නිසා මේ පද දෙක අර්ථ දෙකකින් දේශනා කරපු බව පැහැදිලියි. පද නිරුක්ති බැලුවම පටලැවිල්ල නිරාකරණය වෙනවා.

පටි + විරති කියන පද දෙකේ තේරුම තමයි බැඳෙනවා+ නොකැමැත්තෙන් කියන එක. තව විදිහකට කිව්වොත් කැමැත්තෙන් බැඳෙන්නෙ නෑ කියන එක. ඒ කියන්නෙ ප්‍රාණ ඝාතය සිද්ධ වෙන්න පුළුවන්. නමුත් කැමැත්තෙන් නෙවෙයි. ක්‍ෂණික කෝපය නිසා, දිගු කාලයක් පුරුදු කරගෙන ආව දෙයක් එකපාරටම අතහැරගන්න බැරිකම නිසා, යම් කටයුත්තක් කරන කොට අකමැත්තෙන්, කරන්න දෙයක් නැති කමට සත්තු මරන්න පුළුවන්. ඒවා පටි විරති හැටියටයි ගැනෙන්නෙ. වේ + රමණී පද දෙකේ අර්ථය, වෙන් වෙන + ආස්වාද විඳීම් සහගත මනසකින් කියල ගන්න පුළුවන්. මේ අර්ථ දෙක එකතු කළාම වේරමණී කියන්නෙ රමණයෙන් වෙන් වෙනවා, සමුච්ඡේද ප්‍රහාණය වෙනවා. සම්පූර්ණයෙන් යථාර්ථය දක්කමයි රමණයෙන් වෙන් වෙන්න පුළුවන් වෙන්නෙ. ඒක ආයාසයෙන් කරන දෙයක් නෙවෙයි. ඒකට උත්සාහයක් වීර්යක් ඕන නෑ, ඒ තමයි සමුච්ඡේද ප්‍රහාණයේ ස්වභාවය.

එතකොට වේරමණී කියන කොටස සෝවාන් වෙච්ච කෙනාටත් ඒ මට්ටමින් පිහිටනවා. උදාහරණ විදිහට සෝවාන් කෙනා සතර අපාගත වෙන්න තියෙන පව්වලින් වේරමණී වෙනවා, සතර අපාගතවන මට්ටමේ රාග ද්වේශ මෝහයන් රමණය කිරීමෙන් වෙන් වෙනවා. ඒක තමයි පහාන සීලං, වේරමණී සීලං.... ආදී වශයෙන් කියන්නෙ. එහෙම ගිහින් සියළු පාපයන් රමණය කිරීමෙන් පූර්ණ වශයෙන් වෙන් වෙන්නෙ අරිහතුන් වහන්සේ. නමුත් ඒ තත්වයට එන්න එකපාරටම බැරි නිසා ක්‍රමයෙන් හික්මිලා යන සික්ෂා පදයක් තියෙන්න ඕන. එතකොට කෙනෙක් සිල් වතක් සමාදන් වෙන කොට ඒ සික්ෂා පදය තේරුම් අරගෙන, යම් කිසි අධිෂ්ඨාන කර ගත්තු කාලයක් ඇතුළත ඒ සික්ෂා පදයෙන් කියවෙන දේ අනුගමනය කරමින්, එතැනට පත් වෙන්න උත්සාහ කිරීමක් තමයි කරන්නෙ. ඒක ආයාසයෙන් උත්සාහයෙන් රකින්න ඕන. නමුත් ඒ තත්වයට පත් වුනාට පස්සෙ නිරායාසයි. ඒ කියන්නෙ වෙනම උත්සාහයෙන් රකින්න දෙයක් නෑ. ඉබේම රැකෙනවා.

ඒ වගේම අං.නි. 3 වෙනි කාණ්ඩයේ 344 වෙනි පිටුවේ සඳහන් වෙන <u>ගිහි සූත්‍රයේ,</u> පාණාතිපාතා පටිවිරතෝ හෝති... ආදී පංච සික්ෂාවන්හි සංවෘත ක්‍රියා ඇති (ප්‍රාණඝාත ආදියට කැමැත්තෙන් නොවැටෙන්න තරම් මනස වැඩුනු, හික්මුණු), සුදුවත් අඳින ගිහි උපාසකයෙකු, ඉහාත්ම සුබ විහරණ ඇති, විශුද්ධ චිත්තය ඇසුරු කළ, සතර ධර්මයන් කැමති සේ ලබන, නිදුකින් ලබන, විපුල කොට ලබන බවත්, නිරය, තිරිසන්, ප්‍රේත, විනිපාතික අසුර කියන දුගතීන් ක්‍ෂය කළා කියල තමාම දැනගන්න බවත් පෙන්වා තියෙනවා. එතකොට පාණාතිපාතා පටිවිරතෝ හෝති ... ආදී වශයෙන් කියන්නෙ සෝතාපන්නයාගේ සීල සම්පන්න බව. ප්‍රාතිමෝක්‍ෂ සීලය කිව්වෙ, නිවනට පමුණුවන සීලය කියන එක. නිවන අරමුණු කරගෙන කටයුතු කරන සෝතාපන්න උපාසකයා කුඩා (අනුමාත්‍ර) වරදක් පවා මනා සිහි නුවණින් දකිනවා. ඒ වරදෙ ආදීනවය, භයානක විපාක දකිනවා. ඒ නිසා මුලින් සඳහන් කළා වගේ හිත, කය, වචනය පිරිසිදු කර ගන්න රාග, ද්වේශ, මෝහ මූලිකව ගොඩනගන සංඛාරවලින් හිත හිස් කරගන්න ධර්ම මාර්ගය උපකාර කර ගන්නවා. පොහොය දින වෙන් කරගෙන, සමාදන් වෙන වේරමණී ...කියන සිල් පද සමාදානයත් ඒකට උපකාර වෙනවා. මේ විදිහට හිත ශූන්‍යාගාරයක් කරගන්න කළ යුතු භාවනාවක් බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒක තමයි මුලින් සඳහන් කළ ආකංඛෙය්‍ය සූත්‍රයේ සඳහන් වෙන්නෙ.

මහණෙනි, ඉදින් මහණ ''සබ්‍රම්සරුණට ප්‍රිය හා මනාප හා ගුරු හා භාවණීය වෙම්ව''යි කැමති වේ නම් අධ්‍යාත්ම චිත්ත සමථයෙහි යෙදුනේ, නොහළ ධ්‍යාන ඇතියේ, විදර්ශනායෙන් සමන්වාගත වූයේ ශූන්‍යාගාර භාවනාව වඩනුයේ සීලයන්හිම පරිපූරකාරී වන්නේය...

මේ සූත්‍ර දේශනාවේ, සිවුපසය පරිහරණය කිරීම, මියගිය ඥාති හිත මිත්‍රාදීන්ට පිං පැමිණවීම, ☞

නොඇලීම මිදීම පුහුණු කිරීම, භය තැති ගැනීම් ආදී අරමුණු ගෝචර වුනාම කටයුතු කළ යුතු ආකාරය... වගේ කරුණු 10 ක් දේශනා කරල තියෙනවා. ඒ හැම කරුණක් පිළිබඳවම දේශනාව අවසානයේ ''ශූන්‍යාගාර භාවනාව වඩනුයේ සීලයන්හිම පරිපූරකාරී වන්නේය...'' කියන කරුණයි පෙන්වා දීල තියෙන්නෙ.

ඒ වගේම මේ හැම කරුණකින්ම පෙන්වා දෙන්නෙ ''ආචාර ගෝචර සම්පන්න ''කියන කාරණය. පෙර පුරුදු කරගෙන ආවා වූ යම් චරියාවන් අරමුණු වශයෙන් ගෝචර වීම තමයි ආ+චාර ගෝචර කියන්නෙ. ඒ ඒ අරමුණු එනකොට මනා සිහියෙන් ඉඳල කුඩා වරදෙහි පවා විපාක සිහි කරන්න ඕන. වරද කිරීමෙන් ලබන ආස්වාදයේ අසාරත්වය මෙනෙහි කරන්න ඕන. එතකොට සංවර වීම තුන් ආකාරයි. "කායේන සංවරෝ සාධු, සාධු වාචාය සංවරෝ, මනසා සංවරෝ සාධු, සාධු සබ්බත්ථ සංවරෝ" කය, වචනය සංවර කරගන්න කොට හිතත් සංවර වෙනවා. ''සංවරට්ඨේන සීලං...'' සංවර වෙනව කියන්නෙ හිතේ රාග, ද්වේශ, මෝහ මූලිකව අකුසල් ගොඩනැගී ඒම දුරු කිරීම. මුලින් පෙන්වා දුන්න වගේ කාමරාගයක් ආවම මනා සිහි නුවණින් ඒක දැනගෙන දුරු කරගන්නවා. ඒක තමයි විදර්ශනා කරනව කියන්නෙ. කෙලෙස් නැගෙනකොට ඒ ඒ මොහොතේ විදර්ශනා කිරීමෙන් තමයි ඒ කෙලෙස් ප්‍රහීන කරන්නෙ. ගහක ලියලන අතු රිකිලි දවා හරින කොට ගහ මැරෙනව වගේ, ගොඩනැගෙන ගොඩනැගෙන කෙලෙස් දවා හරින කොට රාග මූල, ද්වේශ මූල, මෝහ මූල මැරෙනවා. මේ විදිහට කෙලෙස් දවා හරින්න නම්, මුලදි විස්තර කළා වගේ ඒ ඒ අරමුණු දිහා විශේෂයෙන් දර්ශනය කරන්න ඕන, විදර්ශනා කරන්න ඕන, විදල බලන්න ඕන. මේ වගේ කරගෙන යන වැඩපිළිවෙල බුදුන් වහන්සේ අර්ථ දක්වල තියෙන්නෙ ශූන්‍යාගාර භාවනාව වඩනව කියල.

අපි සමාජයේ කතා කරනකොට සමහර වෙලාවට ''සංසාරගත බැඳීමක්...'' කියනවා. එතැනදි අදහස එන්නෙ, පෙර සසරෙදි බැඳී හිටිය කියල. දැන් බැඳීමක් ඇතිවුනේ ඒ කාරණය මුල් කරගෙන. නමුත් දැන් ආපසු ඒ සසර සබඳකම තිබුණ තැනට යන්න පුළුවන් කමක් නෑ. ශූන්‍යාගාර ගතෝවා...කිව්වමත්, ශූන්‍යාගාරයක ස්වභාවය මුල් කරගත්... කියල තේරුම් ගන්න ඕන. මේ උදාහරණවලින් පෙන්වා දෙන **අරඤ්ඤගතෝවා, රුක්ඛමූලගතෝවා, ශුඤ්ඤාගාරගතෝවා** කිව්වම **අරණකට, රුක් මුලකට, හිස් ගෙයකට ගියේ කියන අර්ථය මතු පිටින් පෙනුනට, අරණක් වගේ (රණකාමී නොවන, නොගැටෙන), රුක් මුලක් වගේ (ගසක කොළ, අතු, කඳ ආදිය කම්පනයෙන් සැලුනත් මුල නොසැලෙන්නා සේ නොසැලෙන අධිෂ්ඨානයෙන්), හිස් ගෙයක් හෙවත් ශූන්‍යාගාරයක් වගේ මේ හිත නමැති ගෙය රාග, ද්වේශ, මෝහ මූලික ආස්වාද විඳීම්වලින් හිස් කරගන්න කියන පරමාර්ථ අර්ථය ගන්න ඕන.** ආකංඛෙය්‍ය සූත්‍ර දේශනාවෙන් මේ කාරණය මනාව පැහැදිලි වෙනවා. නමුත් මෙහෙම පැහැදිලි කරන කොට සමහරු කියනවා ධර්මය විකෘති කරනව කියල. නමුත් විමසුම් නුවණින් ඒ ගැන මෙනෙහි කිරීම තමන්ට හිත සුව පිණිස වෙනවා කියන බුද්ධ දේශනාවත් නිවන් දකින්න වැදගත් වෙනවා. ඒ නිසා බොහෝ විට බුදුන් වහන්සේ දේශනා සඳහා උපමා උපමේයන් යොදාගෙන ඇති ආකාරයත් විමසුම් නුවණින් තෝරා බේරා ගන්න ඕන.

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී**
**කඩවත**

# පහන් පූජාව ගැන වැඩිදුර පැහැදිලි කිරීම්...

"හිස මුල් කරගත් රෝගාබාධවලට හා නැණ නුවණ වැඩීමට පහන් දහසක පූජාවෙන් ප්‍රතිකර්මයක්" යන මාතෘකාව යටතේ පසුගිය කලාපයේ පළ වූ විග්‍රහය සම්බන්ධයෙන් කෙරෙන තවත් කෙටි පැහැදිලි කිරීමක් තමයි මේ. පහන් 1000 ක් පත්තු කරන කොට ඒ සඳහා අලුතින්ම පහන් ගන්න ඕනද කියල කෙනෙකුට ගැටළුවක් මතු වෙන්න පුළුවන්. පහන් 1000 ක පහන් ගෙයක් හෝ පහන් වැටක් ඒ පූජනීය ස්ථානයේ දැනටමත් තියේනම් අලුතින් පහන් ගන්න අවශ්‍ය නෑ. ඒ තියෙන පහන්වලින් පහන් 1000 ක් හෝ ඊට වැඩි ගණනක් පත්තු කරන්න පුළුවන්. මෙතනදි පහන් 1000 ක් කිව්වම අලුතින් පහන් සිළු 1000 ක් තමයි අදහස් කරන්නෙ. ඒ කියන්නෙ තියෙන පහන්වලට පහන් තිර 1000 ක් සහ අලුතින් තෙල් දාල පත්තු කිරීම.

ඒ වගේම කැමති නම් පහන් පූජාවට පෙර පහන් වැටක් හදල පත්තු කරන්න හෝ තියෙන පහන් වැටක් පත්තු කරන්න හෝ භාරයක් වෙන්නත් පුළුවන් කියන කාරණය කෙනෙකුට නොතේරෙන්න පුළුවන්. ඒ කියන්නෙ තමන්ට තියෙන රෝගයකට හෝ යම් කිසි ගැටළුවකට හෝ මොනවහරි කාරණයකට විසඳුම් බලාපොරොත්තුවෙන්, ඒ වගේම යම් කිසි කර්ම දෝසවල බලපෑමක් තියේනම් ඒ දෝස කැපෙන්නත් එක්ක වෙලපහින් ඒ කාරණය කියල, ඉදිරියේදි මේ වගේ පහන් පූජාවක් කරන බවට අධිෂ්ඨාන කරල ඒ පූජනීය ස්ථානයේ හෝ වෙනත් පූජනීය ස්ථානයක පඬුරක් ගැට ගහල භාර වෙලා, ඊට පස්සෙ ඒ පිංකම සිද්ධ කරල අනුමෝදනාව කරන්න පුළුවන්. එහෙම නැත්නම් භාරයක් නොවී සාමාන්‍ය විදිහට පහන් පත්තු කරල ඒ කාරණාව කියල අනුමෝදනාවක් කර ගන්න පුළුවන්.

ඊළඟ කාරණය තමයි, පහන් පත්තු කරන කොට හිත වෙනත් බාහිර අරමුණුවලට යොමු නොකර, නව අරහාදී බුදු ගුණ සජ්ජායනා කරමින් ඒ කටයුත්ත සිද්ධ කරන්න පුළුවන් නම් නැගෙන ශක්තිය තවත් බලවත්. යම් කිසි ආකාරයකට ඒ ගුණවලින් කියවෙන අර්ථයන් දැනගෙන ශබ්ද නගා හෝ සිතින් හෝ නව අරහාදී බුදු ගුණ සජ්ජායනා කරන කොට හිතේ තියෙන විපිලිසර බව දුරුවෙලා, තමන් තුළත් ඒ මොහොතේ ගුණ වැඩීමක් සිද්ධ වන නිසා ඒ කාරණය බොහොම වැදගත්.

# සාසනික පැවිද්ද... 8

## ගුරු ගෞරවය

ආචාර්ය උපාද්ධ්‍යායන්ට වගේම සබ්‍රහ්මචාරී වහන්සේලාට ගරු කරන බව පැවිද්දෙකු තුළ තිබිය යුතු ගුණයක්. ඒ අයගෙ අනුග්‍රහයකින් තොරව පැවිද්දෙකුට දියුණු වෙන්න බෑ. යම් භික්ෂුවක් යම් පමණට ගුරුවරුන්ට ගරු කරනව නම්, ඒ තරමට ඒ භික්ෂුවට සබ්‍රහ්මචාරීන් අනුකම්පා කරනවා. ඒ භික්ෂුවට ධර්මාමිස දෙකෙන්ම සංග්‍රහ ලැබෙනවා. ගරු කළ යුත්තන්ට ගරු නොකරන උඩඟු පැවිද්දා සබ්‍රහ්මචාරීන්ගේ පිළිකුලට ලක්වෙන අතරම ඔහුගේ වැඩවලට උදව් කරන්න, සහභාගිවෙන්න උන් වහන්සේලාට හිතක් නැතිව යනවා. එයින් සිද්ධ වෙන්නෙ ඒ පැවිද්දාට සාසනයෙන් බැහැර වෙන්න.

මව්පිය ගුණය වගේම ගුරුවරුන්ගේ ගුණයත් අප්‍රමා-ණයි. ඒ නිසා සත්පුරුෂයෝ තමන් කොච්චර උසස් තත්වයට පත් වෙලා හිටියත් ගුරුවරුන්ට යුතුකම් ඉටු කරනවා. සැරියුත් හාමුදුරුවො මේ සාසනයේ තථාගතයන් වහන්සේට පමණක් දෙවෙනි මහෝත්තමයෙක්. උන්වහන්සේ තථාගතයන් වහන්සේට උපස්ථාන කරල ඉන්පසු තමන්ට පළමුවෙන්ම බුදු සසුන හඳුන්වා දුන් ගුරුවරයා වන අස්සජී හාමුදුරුවන්ට උපස්ථාන කරන්න ගියා. අස්සජී හිමියන් විහාරයේ නැති දවස්වල උන්වහන්සේ වාසය කරන දිසාවට පසඟ පිහිටුවල වඳිනවා. ඒ ආකාරයට සැරියුත් හාමුදුරුවො ගුරු ගෞරවය දක්වුවා. ථේර ගාථා පාලියේ මේ විදිහට සඳහන් වෙනවා.

යස්ස සබ්‍රහ්මචාරීසු
ගාරවෝනුපලබ්භති
පරිහායති සද්ධම්මෝ
මච්ඡෝ අප්පෝදකේ යථා

යම් භික්ෂුවක් ගුරුවරුන්ට, සබ්‍රහ්මචාරීන්ට ගරු නොකරයිද, ඔහු සිඳීගෙන යන වතුර ස්වල්පයක් ඇති තැනක වාසය කරන මාළුවකු මෙන් සද්ධර්මයෙන් පිරිහේ. එසේම කුණු වූ දිරූ බීජ කුඹුරෙහි නොවැඩෙන්නා සේ බුදු සසුනෙහි වැඩීමට, දියුණුවට පත් නොවේ.

යස්ස සබ්‍රහ්මචාරීසු
ගාරවෝ නූපලබ්භති
ආරකා හෝති නිබ්බාණං
ධම්ම රාජස්ස සාසනේ

යම් භික්ෂුවක් ආචාර්ය, උපාද්ධ්‍යයොදී සබ්‍රහ්මචාරීන්ට ගරු නොකරයි නම් ඔහු නිවනින්ද දුරස් වූ කෙනෙක් වෙන බව ඉහත ගාථාවෙන් විස්තර වෙනවා.



## නිවාත ගුණය

මම උසස් කෙනෙක්, අනිත් අය මට ගරු කළ යුතුයි, මම අනිත් අයට යටත් විය යුතු නෑ, ගරු කරන්න අවශ්‍ය නෑ කියල ඇතිවන මානය අත්හැරල අන්‍යයන්ට අනුකූලව වාසය කිරීම තමයි නිවාත ගුණය කියන්නෙ. මේක ගිහි පැවිදි හැම දෙනාම ඇති කරගත යුතු ගුණයක්. නිවාත ගුණය ගැන ආදර්ශයට ගත යුතු උත්තම චරිතය තමයි සැරියුත් මහරහතන් වහන්සේ.

එක අවස්ථාවක සැරියුත් හාමුදුරුවො සැවැත් නුවර වස් වසල පවාරණය කරල චාරිකාවෙ වඩින්න තථාගතයන් වහන්සේගෙන් අවසර අරගෙන භික්ෂූන් වහන්සේලා සමග වඩිනකොට සිවුරු කොනක් එක භික්ෂුවකගේ ශරීරයේ වැදුනා. සැරියුත් හාමුදුරුවො බොහෝ භික්ෂූන් වහන්සේලා පිරිවරාගෙන යෑම ගැන මේ භික්ෂුවට තද ඊර්ෂ්‍යාවක් ඇති වෙලා තිබුණු නිසා, සැරියුත් හාමුදුරුවන්ගෙ මේ ගමනට බාධා කරන්න හිතාගෙන බුදුන් වහන්සේ ළඟට ගිහින්, ස්වාමීනි සැරියුත් හිමියන් මගේ ඇඟේ හැප්පිලා කිසිම සැලකිල්ලක් නැතිව මගෙන් සමාව නොගෙන ගියා කිව්වා. බුදුන් වහන්සේ ඒ වෙලාවෙ සැරියුත් හාමුදුරුවන්ට එන්න කියල භික්ෂුවක් අත පණිවිඩයක් යැව්වා. මේ කාරණය දැනගත් මුගලන් හාමුදුරුවොයි, ආනන්ද හාමුදුරුවොයි විහාරයෙන් විහාරයට වැඩල, අද සැරියුත් හාමුදුරුවන්ගෙ සීහ නාදය අහන්න එන්නයි කියල භික්ෂූන්ට දැන්වුවා. බොහෝ භික්ෂූන් වහන්සේලා විහාරයට එක්රැස් වුනා. සැරියුත් හාමුදුරුවො බුදුන් වහන්සේ වෙතට ඇවිත් වැඳල එකත්පසව වාඩි වුනා.

ඒ අවස්ථාවෙදි තථාගතයන් වහන්සේ, සාරිපුත්‍රය ඔබ එක භික්ෂුවකගේ ඇඟේ හැප්පිලා කමාකර නොගෙන චාරිකාවේ ගිය බව ඇත්තද කියල ඇහුවා. ස්වාමීනි, යම් කෙනෙකුට කායගතා සතිය නැත්නම් ඔහු භික්ෂුවකගේ ඇඟේ හැප්පිලා කමාකර නොගෙන චාරිකාවේ යන්න පුළුවන් බව මතක් කරමින් මේ විදිහට විග්‍රහයක් කළා.

ස්වාමීනි මේ මහ පොළවට පිරිසිදු දේ, අපිරිසිදු දේ දමනවා. කෙළ, සොටු, මළ මුත්‍ර, ලේ, සැරව වගේ අපවිත්‍ර දේ දැම්මත් එයින් පොළවට අපහසුවක් නෑ. පොළව ලැජ්ජාවට, පිළිකුලට පත් වෙන්නෙ නෑ. ස්වාමීනි මමත් කවරෙකු සමගවත් වෛරයක්, ක්‍රෝධයක් නැතිව පොළව සේ වාසය කරනවා.

ස්වාමීනි මේ ජලයෙහි පිරිසිදු දේ අපිරිසිදු දේ සෝදනවා. මළ, මුත්‍ර, කෙළ, සොටු, සැරව සෝදනවා. නමුත් ජලයට කිසි අපහසුවක්, ලැජ්ජාවක්, පිළිකුලක් නෑ. ස්වාමීනි මමත් කවරෙකු සමගවත් වෛරයක් ක්‍රෝධයක් නැතිව ජලය හා සමානව වාසය ☞

කරනවා. සබ්‍රහ්මචාරීන් වහන්සේ නමකගේ ඇඟේ හැප්පිලා කමාකර නොගෙන යනව නම් එහෙම කරන්නෙ කායගතාසතිය නැත්තෙක්.

මේ විදිහට සැරියුත් හාමුදුරුවො උදාහරණ ගණනාවකින් කරුණු පැහැදිලි කළාම, මේ කතාව අහගෙන හිටපු චෝදනා කළ භික්ෂුව මහත් සංවේගයටත් බියටත් පත් වෙලා තථාගතයන් වහන්සේගෙ පාමුල වැඳ වැටිල තමන් කළ වරදට සමාව ඉල්ලා සිටියා. ඒ මොහොතෙදි බුදුන් වහන්සේ සැරියුත් හිමියන් අමතල, සාරිපුත්‍රය මේ හිස් පුරුෂයාගේ හිස මෙහිදිම සත් කඩකට පැලිල යනවා, ඒ නිසා කමාව දෙන්නයි කියල වදාළා. සැරියුත් හාමුදුරුවො ඒ භික්ෂුවට අනුකම්පා කරල සමාව දුන්නා.

## ඉවසීම

පැවිදි වෙච්ච අය පුරුදු කරගත යුතු තවත් අත්‍යවශ්‍ය ගුණයක් තමයි ඉවසීම. "ඛන්තී බලං බලානිකං" - ඉවසීම මහා බලයක්. ඒක පැවිද්දන්ට විශේෂයෙන්ම අවශ්‍ය ධර්මයක්. බොහෝ කාලයක් මහණ දම් පුරන්න, මහණකමට ඔරොත්තු දෙන පුද්ගලයෙක් බවට පත්වෙන්න ඉවසීම අත්‍යවශ්‍ය කාරණයක්. සීත, උෂ්ණ, සා පිපාසය, මැසි මදුරු පීඩා, අනුන් කියන ඇනුම් පද, නින්දා අපහාස, තර්ජන, විවේචන, විහිළු තහළු... ආදී දේවල් ඉවසන්න පුරුදු වෙන්න ඕන. ඒ වගේම තමන්ගෙ බඩු මුට්ටුවලට හානි කිරීම, සොර සතුරන් ගැනීම, තමන්ට ලැබෙන ලාභ වැළැක්වීම, භේද භින්න කිරීම, තමන්ගෙ ගුරුවරුන්ට වෙනත් අය විසින් වරද කිරීම, ගෝලබාලයන්ගෙ අකීකරුකම්... ආදිය ඉවසන්න පුරුදු වෙන්න ඕන.

පෙර ලංකාවේ මිහින්තලේ පියංගු කියන ගුහාවේ වාසය කරපු ලෝමස නාග කියන හාමුදුරුවො, හිම වැටෙන අධි සීතල අවස්ථාවක ලෝකාන්තරික නිරය සිහි කරගෙන එළිමහනේ කර්මස්ථාන වඩපු බව සඳහන් වෙනවා. ග්‍රීස්ම ඍතුවේ මේ හිමියන් සක්මන් මළුවෙන් පිටතට ඇවිත් වාඩි වෙලා කමටහන් වඩමින් ඉන්නකොට, හිරු එළිය වැටිල උන්වහන්සේගෙ ශරීරයෙන් දහඩිය වැගිරෙන බව දකපු අතවැසියෙක්, ස්වාමීනි ඔතන උෂ්ණයි මෙහෙට ඇවිත් වැඩ සිටින්න කිව්වම, ඇවැත්නි මම මෙහි වාඩි වුනේ උෂ්ණය නිසාමයි කියල අවීචි මහා නිරයේ උෂ්ණය සිහි කරල භාවනා කරපු බව සඳහන් වෙනවා. උන්වහන්සේ සීතල නිසාවත් උෂ්ණය නිසාවත් තමන් කරපු භාවනාව නැවැත්තුවෙ නෑ.

මෙතනදි ඒවං උපසංහරති කියල එහෙම උපමා සංසන්දනය කරල බලන ක්‍රමයකුත් තියෙනවා. ඒක ශරීරයට දුක් දෙන අත්තකිලමතානු යෝගය නෙවෙයි. ඒක අත්‍යවශ්‍යයෙන්ම කරන්න කියලත් නෑ. එහෙම අවස්ථාවක් යෙදුනොත් ඒ විදිහටත් හිතල කරල බලන්න පුළුවන්. අකම්පය භාවය, ඉවසීම ඇතිකරගන්න ඒක වැදගත් වෙනවා.

ඒ වගේම තවත් භික්ෂූන් වහන්සේලා 30 නමක් පමණ වස් වසල පොහොය දිනයේ අරියවංශ දේශනාව කළා. එක පිණ්ඩපාතික හිමි නමක් ඒ අරියවංශ දේශනාව අහමින් ඉන්නකොට සර්පයෙක් දෂ්ට කරල තියෙනවා. මේ හිමියන් වේදනාව ඉවසගෙන බණ අහල අනාගාමී ඵලයට පත් වූ බව සඳහන් වෙනවා.

ඒ වගේම සිතුල්පව්වේ වාසය කරපු එක් යෝගාවචර හිමි නමකට රාත්‍රියේ භාවනා කරමින් ඉන්නකොට කුස තුළ වාත අමාරුවක් හැදිල වේදනාව ඉවසගන්න බැරිව ඒ මේ අත කැරකෙමින් පෙරලෙමින් හිටියා. ඒක බලාගෙන හිටපු එක පිණ්ඩපාතික හිමි නමක්, ඇවැත්නි පැවිද්දා ඉවසන කෙනෙක් නේද කියල ඇහුවා. වාතාබාධය තියෙන හිමියන්, එසේය එසේය ස්වාමීනි කියල වේදනාව ඉවසමින් නිශ්චලව වැතිරිලා ඉන්නකොට වාතය උත්සන්න වෙලා කුස පුපුරල ගියා. උන්වහන්සේ ඉවසීමෙන් වේදනාව යටපත් කරගෙන විදසුන් වඩල අනාගාමී තත්වයට පත්වෙලා අපවත් වුනා.

ඊළඟට කාකචූපම සූත්‍රයේ ඉවසීම පිළිබඳ මේ ආකාර දේශනාවක් සඳහන් වෙනවා.

**සොරුන් විසින් තමන්ගේ ශරීර අවයවයන් හරස් කියතකින් කපන කොට ඒ සොරු කෙරෙහි කෝප සිත් පහළ කරයි නම්, ඒ දුක් වේදනාව නොඉවසයි නම් ඒ භික්ෂුව මාගේ අනුසාසනාව කරන කෙනෙක් නොවේ. එබඳු මොහොතකදි පවා සිත වෙනස් නොවී තබාගත හැකිනම් එය ශ්‍රේෂ්ඨය. නපුරු වචන කීමෙන් වැළකිලා ද්වේශයෙන් තොරව ඒ සොරුන් කෙරෙහි මෛත්‍රී සහගත සිතින් වාසය කළ යුතු බව** ඒ සූත්‍ර දේශනාවේ සඳහන් වෙනවා. භික්ෂුවගේ ඉවසීම කොච්චර තියෙන්න ඕනද කියල මෙයින් පැහැදිලි වෙනවා.

සුනාපරන්තයට වැඩිය පුණ්ණ හිමිගේ කතාවත් භික්ෂූන්ට ඉතා ආදර්ශවත්. පුණ්ණ හිමි දිනක් බුදුන් වහන්සේ වෙතට ඇවිත්, මහණ දම් පුරන්න කෙටියෙන් අවවාදයක් කරන්න කියල ඉල්ලා හිටියම පුණ්ණ හිමිට ධර්මාවවාද කළා. පුණ්ණ ඔබ දැන් විවේකීව ඉන්න යන්නෙ කොහාටදැයි ඇහුවම සුනාපරන්තයට යන බව දැන්වුවා.

ඒ අවස්ථාවෙදි තථාගතයන් වහන්සේ, පුණ්ණ සුනාපරන්තයේ වාසය කරන මිනිසුන් ඉතා දුෂ්ටයි, නපුරුයි, ඔබට නොයෙක් දේ කියමින් බනින්න පුළුවන් කියල කිව්වම, ස්වාමීනි ඒ මිනිස්සු මට බැන්නට, තර්ජනය කළාට මට අතින් පයින් ගහන එකක් නැහැනෙ කියල පුණ්ණ හිමි උත්තර දුන්නා.

හොඳයි ඒ අය ඔබට අතින් පයින් පහර දුන්නොත් මොකද හිතන්නෙ කියල ඇහුවම, ස්වාමීනි ඒ මිනිස්සු අතින් පයින් පහර දුන්නත් ගල්, පොලු ආදියෙන් පහර දෙන එකක් නැහැනෙ, ඒ නිසා ඒ මිනිස්සු හොඳයි කිව්වා.

පුණ්ණ ඔබට ඒ අය ගල් පොලු ආදියෙන් පහර දුන්නොත් මොකද හිතන්නෙ කියල ඇහුවම, ස්වාමීනි ගල් පොලු ආදියෙන් පහර දුන්නත් අවි ආයුධවලින් පහරදෙන එකක් නැහැනෙ, ඒ නිසා ඒ මිනිස්සු යහපත් අය කියල උත්තර දුන්නා.

හොඳයි ඔබට ඒ අය අවි ආයුධවලින් පහර දුන්නොත් මොකද හිතන්නෙ කියල ඇහුවම, ස්වාමීනි ඒ මිනිස්සු අවි ආයුධවලින් පහර දුන්නත් මගේ ජීවිතය නැති කරන එකක් නැහැනෙ කියල උත්තර දුන්නා. පුණ්ණ ඒ අය ඔබේ ජීවිතය විනාස කළොත් මොකද හිතන්නෙ කියල ඇහුවම, ස්වාමීනි මේ සාසනයේ ඉන්න ඇතැම් භික්ෂූන් ශරීරය ගැන කළකිරිල දිවි තොර කර ගන්න නොයෙක් උපක්‍රම සොයනවා, මට ඒ කිසිම උපක්‍රමයක් සොයන්නෙ නැතිවම ඒ දේ සිද්ධ වුනා කියල හිතනව කියල උත්තර දුන්නා.

මේ අවස්ථාවේදී බුදුන් වහන්සේ පුණ්ණ හිමියන්ට සාධුකාර දීල, මේ තරම් ඉවසීමක් තියෙන ඔබට සුනාපරන්තයේ වාසය කරන්න පුළුවන් කියල යන්න අවසර දුන්නා. පුණ්ණ හිමියන් සුනාපරන්තයට වැඩල වස් කාලය තුළ උපාසක උපාසිකාවන් දහසක් ඇතිකර ගෙන උන්වහන්සේත් අරිහත්වයට පත්වෙලා පිරිනිවන් පෑවා.

ඉවසීම ගැන සඳහන් වෙන තවත් අටුවා කතාවක් තමයි දීඝ භාණක අභය තෙරුන්ගේ කතාව. උන්වහන්සේ මාගම කියන ගමේදි අරියවංශ ප්‍රතිපදාව පිළිබඳ ධර්ම දේශනාවක් කළා. ඒ ගමේ සියළු දෙනාම වගේ ඒ දේශනාව අහන්න ඇවිත් හිටියා. දේශනාව කෙළවර උන්වහන්සේට බොහෝ පූජා සත්කාර ලැබුනා. මේක දැකපු එක තෙර නමක් ඒක ඉවසගන්න බැරිව, දීඝභාණකයා අරියවංශය දෙසනවා කියල මුළු රැයක්ම මහා කෝලාහලයක් කළා... ආදී වශයෙන් අභය හිමියන්ට දොස් කියන්න පටන් ගත්තා. පසු දින ඒ දෙනමම තමන්ගෙ විහාරවලට යන්න ගව්වක් පමණ දුර එකම මාර්ගයේ ගමන් කළා. ඊර්ෂ්‍යාකාර තෙරුන් මග දිගටම අභය තෙරුන්ට බැන බැන ගියා. ඒ දෙනම මාර්ගයෙන් වෙන්වෙන තැනදි අභය හිමි තමන්ට බැනපු තෙරුන්ට වැඳල ආරාමයට ගියා.

අභය හිමියන් විහාරයට ගිහින් වැඩ ඉන්න කොට අතවැසි භික්ෂුවක් අභය තෙරුන්ට බැනපු කාරණය දැනගෙන, ස්වාමීනි ගව්වක් පමණ දුර ඔබ වහන්සේට බැන බැන එනකොට ඒ භික්ෂුවට කිසිවක් ප්‍රකාශ කළේ නැත්ද කියල ඇහුවා. එතකොට අභය හිමි, ඉවසීම කියන්නෙ මට අයිති දෙයක් කියල, මගේ එක් පියවරක්වත් කමටහනින් බැහැර නොවුන බව කියා සිටියා. මේ කතාව පැවිද්දන්ට කොච්චර ආදර්ශ සම්පන්නද? මේ කාරණය ධම්ම පදයේ යමක වග්ගයේ එන ගාථාවකත් මේ විදිහට සඳහන් වෙනවා.

අක්කොච්ඡිමං අවධිමං
අජිනිමං අහාසි මේ
යේච තං උපනයිහන්ති
වේරං තේසං න සම්මති

අභවලා මට බැන්නා, පහර දුන්නා, මා සතු දේ පැහැර ගත්තා, මා පරාජයට පත් කළා. මේ විදිහට නැවත නැවතත් සිතමින් වෛරය ඇතිකර ගන්නවනම් ඔහුගේ වෛරය නොසන්සිඳෙන බව මේ දේශනයෙන් පැහැදිලි වෙනවා.

## පැවිද්දේ පරමාර්ථය

සාසනයේ පැවිදි වෙන අයගෙ ප්‍රධාන බලාපොරොත්තුව විදිහට තියෙන්න ඕන සසර දුක් නිමා කරල නිවන් අවබෝධ කර ගැනීම. පැවිදි වෙන කොට මුලින්ම ඉල්ලා සිටින වාක්‍යයෙනුත් කියන්නෙ සියළු දුක් නැති කරල නිවන් අවබෝධ කර ගන්න මාව පැවිදි කරගන්න කියල.

"යේහි කේචි භික්ඛවේ අතීතමද්ධානං කුල පුත්තා සම්මා අගාරස්මා අනාගාරියං පබ්බජිංසු සබ්බේ තේ චතුන්නං අරිය සච්චං යථාභූතං අභිසමාය" අතීතයේ යම් කුල පුත්‍රයෙක් ගිහි ගෙයින් නික්ම පැවිදි



වුනා නම් ඒ සියළු දෙනා පැවිදි වුනේ සිවුසස් දහම් අවබෝධ කර ගැනීම පිණිසමයි.

"යේහි කේචි භික්ඛවේ අනාගතමද්ධානං කුල පුත්තා සම්මා අගාරස්මා අනාගාරියං පබ්බජිස්සන්ති සබ්බේ තේ චතුන්නං අරිය සච්චානං යථාභූතං අභිසමාය" අනාගතයේ යම් කෙනෙක් ගිහි ගෙයින් නික්ම පැවිදි වන්නේ නම් ඒ අයත් සිවුසස් දහම් අවබෝධය පිණිසම පැවිදි වන්නේය.

"යේහි කේචි භික්ඛවේ ඒතරහි කුල පුත්තා සම්මා අගාරස්මා අනාගාරියං පබ්බජන්ති සබ්බේ තේ චතුන්නං අරිය සච්චං යථාභූතං අභිසමාය" වර්තමානයේ යම් කුල පුත්‍රයෙක් ගිහි ගෙයින් නික්ම පැවිදි වෙයි නම් ඒ සියළු දෙනා පැවිදි විය යුත්තේ සිවු අරිසස් අවබෝධ කර ගැනීම පිණිසමය. මෙයින් පැවිද්දේ පරමාර්ථය මොකක්ද කියල වටහගන්න පුළුවන්.

යේ තේ භික්ඛවේ භික්ඛූ, නවා අචිර පබ්බජිතා අධුනාගතා... ආදී වශයෙන් සතිපට්ඨාන සංයුක්තයේ තථාගතයන් වහන්සේ විසින් පැහැදිලි කරල තියෙන්නෙ, මේ සාසනයේ අලුත පැවිද්දට පත්වෙන භික්ෂුව සතර සතිපට්ඨානය වැඩීමේ යොදවන්න, එහි පිහිටුවන්න කියන කාරණය.

තථාගතයන් වහන්සේ වෙන කිසිවක් සඳහන් නොකර අලුත පැවිදි වන අයට සතිපට්ඨාන භාවනාවේ යෙදෙන්න කියල පැහැදිලි කරල තියෙන්නෙ පැවිද්දා විසින් කළ යුතු ප්‍රධානම කාරණය විදර්ශනා වැඩීම නිසා.

"සපත්තභාරෝ දේති දේති පක්ඛී සකුණෝ විය" පැවිද්දා පියාපත් බර ඇති පක්ෂියෙක් වගෙයි. පක්ෂියෙකුට බරක් විදිහට තියෙන්නෙ පියාපත් විතරයි. කුරුල්ලෙකුට කොහේවත් අල්ල ගත්ත අයිතිවාසිකම් වගේ දේ නෑ. කැමති කැමති තැනකට ගිහින් අවශ්‍ය ආහාරයක් සොයා කමින් නිදහසේ ජීවත් වෙනවා. නියම පැවිද්දෙකුගේ ස්වභාවයත් ඒ වගේ. තුන් සිවුරේ බර විතරක් තියෙන, කැමති තැනකට ගිහින් කිසි අයිතිවාසිකමක් නැතිව වාසය කරන උතුම් නිදහස් ජීවිතයක්. මේ බව තථාගතයන් වහන්සේ මේ විදිහට පැහැදිලි කරල තියෙනවා.

"මම විහාරෝ පරිවේණං උපට්ඨාකා නිස්සෝ සංසෝ වා බන්ධෝ වා න හෝති සෝජියා මුත්තෝ සරෝ විය සූතා අපක්කන්තෝ මත්ත හත්ථී විය ඉච්ඡිතච්ඡිතං සේනාසනං රුක්ඛමූලං, නවං නවං පබ්භාරං ඒකෝ තිට්ඨති ඒකෝ නිසීදති ඒකෝ අදුතියං"

මගේ විහාරය, මගේ පිරිවෙන, මගේ දායකයො කියා පැවිද්දාට කිසි බැඳීමක් නැත. දුන්නෙන් මිදී ගිය ඊතලයක් මෙනි. රැල්ලෙන් වෙන් වුන මාතාංග (පාරිලෙය්‍ය) හස්ථියා මෙනි. කැමති කැමති සේනාසනවල, රුක්ඛමූලවල, අලුත් අලුත් ගල් ගුහාවල තනිව ඉන්න තනිව නිදන දෙවැන්නෙක් නැති ජීවිතය උතුම්

පැවිද්දයි.

හැබැයි මෙතනදි "දෙවැන්නෙක් නැති / දෙවැන්නෙක් සමග වාසය නොකරයි" කියන කාරණය පරමාර්ථ අර්ථයෙන් තේරුම් ගන්න ඕන. **රාගය සමග වාසය කිරීම දෙවැන්නෙක් සමග වාසය කිරීමයි කියල දහමේ පෙන්වනවා.** ඒ කියන්නෙ පුද්ගලයෙක් නෙවෙයි. එකලා ජීවිතය කියන්නෙ පුද්ගලයන්ගෙන් වෙන් වෙලා වාසය කිරීම නෙවෙයි, රාග ද්වේශවලින් තොරව වාසය කිරීම. තනිව ගල් ගුහාවක වාසය කිරීම කියන කාරණය නියම විදිහට මේ පරමාර්ථ අර්ථයෙන් තේරුම් ගන්න ඕන. මොකද කිසිම පුද්ගලයෙකුගෙ සම්බන්ධයක්, උදව් උපකාරයක් නැතිව එහෙම වාසය කරනවයි කිව්වොත් ආර්ය මාර්ගය පූර්ණ කරගැනීම වෙන්නෙ නැති දෙයක්. එහෙම පුද්ගල සම්බන්ධයක් නැතිව තනිව වාසය කරන්නෙ අරිහතුන් වහන්සේ විවේක සුවයෙන්, ඵල සමාපත්තියෙන් ඉන්න මොහොතක. එහෙම නැත්නම් නිරෝධ සමාපත්තියේ ඉන්න මොහොතක. ඒ හැර අනිත් වෙලාවට එහෙම ඉන්න පුළුවන්කමක් නෑ. හදිස්සියේ ලෙඩක් දුකක් හැදුනොත් අනිත් අයගෙ ආධාර උපකාර අවශ්‍යයි. චීවර, පිණ්ඩපාත, සේනාසන, ගිලානප්‍රත්‍යයට අනෙක් අයගෙ ආධාර උපකාර අවශ්‍යයි.

ඒ කාලෙ එක භික්ෂුවක් අනිත් භික්ෂූන් වහන්සේලාගෙන් වෙන් වෙලා තනියෙම ඉන්න කොට, එහෙම එකලාවක් තියෙනවා හැබැයි මේ බුද්ධ සාසනයේ නෙවෙයි කියල පෙන්වල, සංඝයා සමග ඉඳීමෙන් එකලා වාසයට හේතුවන බව පෙන්නුවා. සංඝයා සමග ඉන්න කොට මාර්ගය හොඳින් වැඩෙන බව පෙන්නුවා.

මේ විදිහට අන්‍යෝන්‍ය සහයෝගයක් නැතිව තනිව ඉන්න බෑ කියන කාරණය පූතිගතතිස්ස තෙරුන්ගෙ කතාවෙනුත් ඔප්පු වෙනවා. දෙමාපිය ගුරුවරු ඥාතී හිතමිත්‍රාදීන් සියල්ලම අත්හැරල මේ සාසනයේ පැවිදි වුනේ ඒ කිසිම කෙනෙක්ගෙ සම්බන්ධයක් නැතිව, ඒ නිසා අන්‍යෝන්‍ය වශයෙන් තමන්ගෙ දුක සැප බලාගෙන බෙදා හදාගෙන කටයුතු කරන්න ඕන කියල ඒ සිද්ධියේදි බුදුන් වහන්සේ උපදෙසක් දුන්නා.

ඊළඟට යෝ ගිලානං උපට්ඨාති සෝ උපට්ඨාති මං ඉති කියල පෙන්නුවේ, යමෙක් ගිලනුන්ට උපස්ථාන කරනවනම් ඔහු මට උපස්ථාන කරන්නෙක් කියල. එතකොට ගිලානෝපස්ථානය බුද්ධ උපස්ථානයක් තරමට විශේෂ කරල පෙන්වල තියෙනවා. හැබැයි මෙතනදි ගිලනුන් කියන්නෙ සාසනයට සම්බන්ධයක් නැති බාහිර රෝගීන් නෙවෙයි. බුද්ධ සාසනයේ ගිලන් වෙච්ච භික්ෂූන්ට කරන ගිලානෝපස්ථානය තමයි මේ කියන්නෙ. අන්න ඒ වගේ උපස්ථාන කරනවනම් ඒක බුදුන් වහන්සේට කරන උපස්ථානයක් වගේ සිහි කරන්න කියලයි කිව්වෙ. නමුත් අර විදිහට කිසිම පුද්ගලත්ව සම්බන්ධයක් නැතිව තනියෙන් ඉන්න ගියොත් මේ කියන බුද්ධ දේශනාවත් එක්ක පරස්පරයක් එනවා. එහෙම වුනොත් කවුරුවත් දන්නෙ නෑ කාගෙ කවුද, කොහේ ඉන්නවද, මොනව කරනවද කියල. ඇප උපස්ථාන කර ගන්න අඩුගානෙ දායකයෙක්වත් නැතිව එහෙම ඉන්න බෑ.

ඒ නිසා මේ කියන කාරණය මොකක්ද කියල නැණ නුවණින් තෝරගන්න ඕන. හැමදාම පායන හඳ වගේ නවීකරණය වෙන්න ඕන කියලයි උපමාවකින් පෙන්වන්නෙ. ඒ කියන්නෙ කාටවත් කොතැනකවත් ඇලෙන්නෙ නෑ, බැඳෙන්නෙ නෑ. හැම දාම, හැම වෙලේම අලුත් වගේ ඇඟෑලුම්කම් එකක්වත් නෑ. හඳේ ස්වභාවයත් ඒ වගේ. දවස ගානෙ දකින්න ලැබෙන්නෙ මෝරපු හඳක්, එහෙම නැත්නම් බහින හඳක්. එහෙම නැතිව එකාකාර හඳක් නෑ. ඒ තමයි හඳේ ස්වභාවය. එකාකාර වුනා කියන්නෙ යම් කිසි විදිහකින් බැඳුනයි කියන එක. නමුත් එහෙම බැඳිල නෑ. හරියට අමුත්තෙක් දැක්ක වගෙයි. අමුත්තෙක් දැක්කම ඒ පුද්ගලයත් එක්ක විශේෂ සම්බන්ධයක්, හිතවත්කමක් නෑ. බොහෝ කාලයක් හිටියත් විශේෂ සම්බන්ධයක් පෙන්වන්නෙ නෑ. මෙන්න මේ කියන තත්වයෙන් ඉන්න ඕන. ඒ කියන්නෙ දායකයො කොච්චර හිටියත් ඒ අයට ඇලිල බැඳිල නෑ.

"සංසාර භයං ඉක්ඛතීති භික්ඛු" සසර බිය දැක එය ඉක්මවීම සඳහා කටයුතු කරන, ඒ වගේම සසර බිය ඉක්මවූ උතුමෝ නියම භික්ඛු වේ. "පබ්බාජයත්තනෝ මලං තස්මා පබ්බජිතෝති වුච්චති" කෙලෙස් මල නසන්නාම පැවිද්දෙක් වෙනව මිසක් එයින් පරිබාහිර දේවල යෙදෙමින් සාසනික සේවය කියමින් මොනවා කළත් සැබෑ පැවිද්දෙක් වෙන්න බෑ.

සමචරියා සමනෝති වුච්චති - විෂම අකුසල මාර්ගයෙන් බැහැරව සමචරියාව හෙවත් අරි අටඟි මග වඩන්නාම ශ්‍රමණයෙක් වේ.

බුදු සසුනේ ශ්‍රමණයන් හතර දෙනෙක් ඉන්වා. "ඉධේව සුභද්ද සමණෝ, ඉධ දුතියෝ සමණෝ, ඉධ තතියෝ සමණෝ, ඉධ චතුත්ථෝ සමණෝ, සුඤ්ඤා පරප්පවාදා සමනේහි අඤ්ඤේහි"

සුභද්දය ප්‍රථම ශ්‍රමණයාත්, දෙවෙනි ශ්‍රමණයාත්, තුන්වෙනි ශ්‍රමණයාත්, සතර වෙනි ශ්‍රමණයාත් මේ බුදු සසුන තුළ මිස ඉන් පරිබාහිර දුරක්ඛාත ආගම්වල පහළ නොවේ. "ආකාසේව පදං නත්ථි සමනෝ නත්ථි බාහිරේ" අහසෙහි පියාසර කරන පක්ෂීන්ගේ පා සටහන් නැත්තා සේ සම්බුදු සසුනෙන් පිටත කිසි තැනක සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත් යන සතර ශ්‍රමණයන් වහන්සේලා විද්‍යමාන නොවේ. "අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ න උපලබ්භති සමණෝපි තත්ථ න උපලබ්භති - යම් තැනක අරි අටඟි මග නැත්තේද එහි ශ්‍රමණයන් හතර දෙනත් නැත්තේය. අරි අටඟි මග ඇත්තේ තථාගත සාසනය තුළ පමණි. ඒ නිසා මගඵල ලාභී උතුමන් පහළ වන්නේ සම්බුද්ධ සාසනයක් තුළ පමණි"

න මුණ්ඩකේන සමණෝ
අබ්බතෝ අලිකම්භනං
ඉච්ඡා ලෝභ සමාපන්නෝ
සමණෝ කිං භවිස්සති

**හිස මුඩුකර ගත් පමණින්, සිවුරක් පොරවා සිටි පමණින් ශ්‍රමණයෙක් නොවේ. ඉච්ඡාවෙන්, ලෝභයෙන් යුක්ත එවැනි අය කෙසේනම් ශ්‍රමණ සංඛ්‍යාතයට වැටේද?**

(ධම්ම පදය - ධම්මට්ඨ වග්ගය)

න තේන ථේරෝ හෝති
යේනස්ස පලිතං සිරෝ
පරිපක්කෝ වයෝ මය්හං
මෝඝ ජිණ්ණෝති වුච්චති

හිස කෙස් පැසුන පමණින් ථේර බාවයට පත් නොවේ. ධර්ම මාර්ගයේ ගමන් නොකරන ඔහු

වයසට ගිය මෝස (හිස්) මහල්ලෙක් පමණි. (ධම්ම පදය - ධම්මට්ඨ වග්ගය)

**සාමඤ්ඤඵල සූත්‍රය**

මේ සූත්‍ර දේශනාවේ, භික්ෂුවට මේ ජීවිතයේදීම ලැබිය හැකි ශ්‍රමණ ඵලයන් පිළිබඳව විස්තර වෙනවා. දිනක් අජාසත්ත රජතුමා තථාගතයන් වහන්සේ වෙතට ගිහින්, ස්වාමීනි මේ සාසනයේ මහණ දම් පිරීමෙන් මේ ජීවිතයෙදිම ලැබිය හැකි යම් සංදිට්ඨික ප්‍රතිඵලයක් තියේද කියල විමසා සිටියා.

එතකොට තථාගතයන් වහන්සේ රජතුමාගෙන් මෙහෙම අහනවා. මහරජ ඔබට ඉතාමත් හිතවත් කීකරු, ඔබගේ සියළු වැඩ කටයුතු සතුටින් කර දෙන මෙහෙකරුවෙක් ඉන්නව කියල හිතන්න. ඔහු මේ සියල්ල අතහැරල සාසනයේ පැවිදි බවට පත්වෙනවා. පැවිදිව තිදොර සංවර කරගෙන මහණදම් පුරමින් ඉන්න කොට, ඔබේ ඇමතියන්ගේ මාර්ගයෙන් මේ කාරණය දැන ගන්නවා. එහෙම දැනගත්තම ඒ භික්ෂුව ඔබගේ මෙහෙකාර කමට නැවත කැඳවනවද?

ස්වාමීනි එසේ කැඳවීමක් නොකරනවා පමණක් නෙවෙයි අපි ඔහුට දැක හුනස්නෙන් නැගිටීම, වන්දනා කිරීම, සිවු පසයෙන් ඇප උපස්ථාන කිරීම කරන බව පැවසුවා. ඒ අවස්ථාවෙදි බුදු පියාණන් වහන්සේ, මහරජ මේ කාරණය මහණදම් පිරීමෙන් මෙලොවදීම ලැබෙන සැපයක් විදිහට සලකන්න බැරිද කියල ඇහුවම, ස්වාමීනි ඒකාන්තයෙන්ම ඒක මෙලොවදීම ලැබෙන ශ්‍රමණ ඵලයක් බව ප්‍රකාශ කළා.

මහරජ ඔබට අයබදු ගෙවමින්, කුඹුරු සීසාමින් ජීවත්වෙන ගොවියෙක් පසු කාලයක පැවිදි වෙලා මහණදම් පුරමින් ජීවත් වෙනවා. ඔහු ගැන ඔබට දැන ගන්න ලැබුනම ඔහු කැඳවල අයබදු ගෙවන්න, කුඹුරු සීසා වපුරන්න අණ කරනවද කියල ඇහුවම, නෑ ස්වාමීනි අපි ඔහුට සිවු පසයෙන් උපස්ථාන කිරීම, වැඳීම, හුනස්නෙන් නැගිටීම වගේ දේ කරන බව පැවසුවා. මහරජ ඒකත් මහණකමේ සංදෘෂ්ටික ඵලයක් නේද කියල උන්වහන්සේ විමසනවා.

මහරජ යමෙක් මේ සාසනයේ ශ්‍රද්ධාවෙන් පැවිදි වෙලා චූල සීල, මහා සීල, මධ්‍යම සීල ආරක්ෂා කරමින් ඉන්ද්‍රිය සංවරයෙන් සති සම්පජඤ්ඤයෙන් යුක්තව බවුන් වඩල වස්තු කාම, ක්ලේෂ කාමයන්ගෙන් වෙන්වෙලා විවේකයෙන් උපන් ප්‍රීති සුඛ සහිත පළවෙනි ධ්‍යානයට පත් වෙනවා. මෙය මහණකමේ මෙලොවදීම ලැබෙන තුන්වෙනි සාමඤ්ඤ ඵලයයි කියල පෙන්නුවා. ඒ වගේම දෙවෙනි, තුන්වෙනි, හතරවෙනි ධ්‍යානවලටත් පත් වෙනවා. මේ විදිහට ශ්‍රමණ ඵල හයක් මෙලොවදීම ලැබෙන බව දේශනා කළා.

ඊළඟට හතරවෙනි ධ්‍යාන-යෙන් පසුව විදර්ශනා දියුණු කිරීම පිණිස උනන්දු වෙනවා. ඒ තමයි පස්වන ශ්‍රමණ ඵලය. නැවත මනෝමය ඍද්ධි, ඍද්ධි විද ඤාණය, දිබ්බ සෝත ඤාණය, පර සිත් දක්නා නුවණ වූ දිබ්බ චක්ඛු ඤාණය, පූර්වේ නිවාසානුස්සති ඤාණය, චුතූපපාත ඤාණය, ආසවක්ඛය ඤාණය කියන ඤාණ ලබල, කළ යුතු සියල්ල අවසන් කරල උතුම් අරිහත්වයට පත් වෙනවා. මේ විදිහට මේ ජීවිතයේදීම ශ්‍රමණ ඵල 15 ක් ලබන බව අජාසත්ත රජුට සාමඤ්ඤඵල සූත්‍රයෙන් පැහැදිලි කළා.

මේ දේශනාව අහගෙන හිටපු අජාසත්ත රජතුමා අතිශයින් සතුටට පත්වෙලා අවසානයේ තෙරුවන් සරණ ගිය උපාසකයෙක් විදිහට පිළිගන්නා ලෙසත් ප්‍රකාශ කරල, ස්වාමීනි මම සම්පත් ලෝභයෙන් මගේ දැහැමි පියා ජීවිතයෙන් තොර කළා, ඒ මා විසින් සිදු වූ වරදට කමාකරන ලෙසත් ඉල්ලල තථාගතයන් වහන්සේට වැඳල අවසර අරගෙන පිටත්ව ගියා.

රජතුමා ගියාට පස්සෙ, මහණෙනි මේ අජාසත් රජු තමා විසින්ම වැනසුනා, දැහැමි පියා නොමරා හිටියානම් මේ මොහොතෙදිම ඔහු සෝවාන් ඵලයට පත්වෙන බවත් තථාගතයන් වහන්සේ දේශනා කළා.

පැවිදි ජීවිතය පිළිබඳ ත්‍රිපිටකාගත කරුණුවලින් සෑහෙන කරුණු ප්‍රමාණයක් ඉදිරිපත් කළා. මේ පිළිබඳ කිව යුතු තවත් බොහෝ කරුණු තිබුනත් අත්‍යාවශ්‍යයෙන් දැන ගත යුතු කරුණු තමයි මේ ලිපි පෙළෙන් ඉදිරිපත් කළේ. සාසනයේ නවක භික්ෂූන්ට වගේම පැවිදි වෙන්න බලාපොරොත්තු වෙන අයටත් මේ කරුණු ඉතා ප්‍රයෝජනවත්. පැවිද්ද කියන්නෙ කිසි වතක් පිළිවෙතක් නොකර පැත්තකට වෙලා ඉන්න ජීවිතයක් නොවන බව අලුතෙන් පැවිදි වෙන්න එන අය විශේෂයෙන් මතක තියා ගන්න ඕන.

පැවිදි වෙන සියළු දෙනාටම මේ ලිපි පෙළෙන් විස්තර කරන කාරණා තමන්ගෙ ශ්‍රමණ ජීවිතය ආලෝකමත් කරගෙන සීල, සමාධි, ප්‍රඥා වඩාගෙන උතුම් නිවන සාක්ෂාත් කර ගන්න හේතු වාසනා වේවා කියල ආශිර්වාද කරමින් "සාසනික පැවිද්ද" ලිපි පෙළ මෙයින් නිමා කරනවා.

යෝ හවේ දහරෝ භික්ඛු
යුඤ්ජති බුද්ධ සාසනේ
සෝ ඉමං ලෝකං පභාසේති
අබ්භා මුත්තෝව චන්දිමා

යම් ළදරු භික්ෂුවක් නමුත් තථාගතයන් වහන්සේ විසින් වදාළ බුද්ධානුසාසනයේ යෙදෙයිද, වළා-කුලින් ඉවත් වූ චන්ද්‍රයා බබළන්නා සේ එම භික්ෂුව සසුන තුළ බබළයි. (ධම්ම පදය)

**කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය, පොල්පිටිය,**
**මැටිකුඹුර, පොල්ගහවෙල**
**071-6839346**

# ඇටමිදුළුවල දුර්වලතා ඇතුළු රෝග රැසකට සහනය දෙන තවත් ප්‍රත්‍යක්ෂ ඔසුවක්

පසුගිය කලාපයෙන් හෙළිදරව් කළ "වද මල් චූර්ණය" කියන ඖෂධය වගේ තවත් රෝග රැසකට සහනය දෙන ප්‍රත්‍යක්ෂ ඔසුවක් තමයි මේ හඳුන්වා දෙන්න යන්නෙ. විශේෂයෙන් ඇටමිදුළුවලට කැවිච්ච වස විස සහ ඇටමිදුළුවල දුර්වලතාවයන් නිසා හටගන්න රෝගවලට මේ ඖෂධය බොහෝ කොටම ප්‍රත්‍යක්ෂයි. වහරක අභයරතනාලංකාර හිමියන් බේත් සමාධියෙන් මතුකර ගත්, දැනටමත් අත්හදා බලල සාර්ථක ප්‍රතිඵල තියෙන, කිසිම අතුරු ආබාධයක් නැති, වැඩි වියදමක් නැති **"ගොටුකොළ චූර්ණය"** කියන ඒ ඖෂධය තමයි මේ.

මේ සඳහා අමුද්‍රව්‍ය විදිහට අවශ්‍ය වෙන්නෙ කෝමාරිකා පිති 5Kg යි (අමු බර - කෝමාරිකා පිති පිටින්ම හෝ ඇතුලෙ මදය විතරක් හූරගෙන හෝ ගන්න පුළුවන්), බෙහෙත් ගොටුකොළ හෙවත් වැල් ගොටුකොළ 10Kg යි (අමු බර), ඇට ඉවත් කළ රට ඉඳි 10Kg යි. ගොටුකොළ ගන්නකොට සම්පූර්ණ මුල් එක්කම ගන්න පුළුවන්. හැබැයි මේ කිව්වෙ අනුපාතයක්. ඒ නිසා තමන්ට අවශ්‍ය ප්‍රමාණයට ඉහත අනුපාතයම එන විදිහට මේ අමුද්‍රව්‍ය අඩු වැඩි කර ගන්න පුළුවන්.

දැන් මේ ගොටුකොළ කොටල මිරිකගෙන එන ඉස්ම ටික පෙරාගෙන, කොටා අඹරගත් කෝමාරිකා සහ ඇට ඉවත් කරල අඹරගත් රටඉඳි සමග මිශ්‍ර කරගන්න ඕන. ගොටුකොළවල ඉස්ම මදිනම් වතුර ටිකක් දැම්මට ගැටළුවක් නෑ. (වංගෙඩියෙ දාල කොටා ගන්නවනම් මේ අමුද්‍රව්‍ය වෙන වෙනම දාන්න ඕන. නමුත් යන්ත්‍රානුසාරයෙන් මිශ්‍ර කර ගන්නවනම් අමුද්‍රව්‍ය ඔක්කොම එකට අඹර ගන්න පුළුවන්.) ඒ මිශ්‍රණය $70\ C^{\circ}$ කට නොවැඩි උෂ්ණත්වයක චූර්ණයක මට්ටමට එනකල් රත් කර ගන්න ඕන. උෂ්ණත්වය උපරිම $70\ C^{\circ}$ ට වඩා වැඩිවෙන්න හොඳ නෑ. මොකද ඊට වඩා වැඩි වුනොත් ඖෂධීය ශක්තිය හීන වෙනවා. ඒ නිසා $70\ C^{\circ}$ ට වඩා අඩුවෙන් තියා ගන්න ඕන. සාමාන්‍යයෙන් $60\ C^{\circ}$ ක විතර උෂ්ණත්වයක් පවත්වගත්තම ප්‍රමාණවත්. උෂ්ණත්වය අඩු වුනයි කියල ගැටළුවක් නෑ. මේ වගේ අවස්ථාවකදි සාමාන්‍යයෙන් දර ලිපක් පාවිච්චි කරන්න අමාරුයි. මොකද මේ කියන මට්ටමට උෂ්ණත්වය පාලනය කරන්න අපහසු නිසා. ඒ නිසා වෙළඳපොලේ තියෙන උපාංග භාවිතයෙන් උෂ්ණත්ව පාලකයක්









හදාගෙන ඒක වායු (ගෑස්) ලිපකට හෝ විදුලි ලිපකට සම්බන්ධ කිරීමෙන් අවශ්‍ය විදිහට උෂ්ණත්වය පාලනය කරගන්න පුළුවන්. එහෙම බැරිනම්, දර ලිපක් පාවිච්චි කරනවනම්, උෂ්ණත්ව මාපකයකින් උෂ්ණත්වය මැනගෙන අවශ්‍ය ප්‍රමාණයට ගින්දර අඩුකර ගෙන නිතර නිතර කූරු ගෑවොත් අවශ්‍ය උෂ්ණත්වය රඳවගන්න පුළුවන්.

ඒ විදිහට චූර්ණ මට්ටමට එනකල් සකස් කර ගත්තම ප්‍රමාණවත්. අවශ්‍ය නම් වියළන යන්ත්‍රයකින් වැඩිපුර තියෙන දිය හින්ඳ ගන්නත් පුළුවන්. ඒ විදිහට හදාගන්න චූර්ණය භාජනයක ඇසුරුම් කරල තියාගන්න ඕන. දවස් කිහිපයකින් පුස් බැඳෙන්න බලන නිසා ශීතකරනයක දාල කල් තියාගන්න වෙනවා. (පසුගිය කලාපයෙන් විස්තර කළ වදමල් චූර්ණයත් පුස් බැඳෙන නිසා ශීතකරනයක තියා ගන්න ඕන.)

දැන් මේ විදිහට හදා ගත්තු චූර්ණයෙන් දිනපතා පැය දෙකකට පමණ වරක් තේ හැඳි 1/2 බැගින් මාස 3 ක් පාවිච්චි කරන්න ඕන. ඒ මාස තුනේදි රාත්‍රී නිදාගන්න කොට ඇහැරුනොත් තේ හැන්දක් පමණ පාවිච්චි කරල වතුර ටිකක් බීල නිදා ගන්න ඕන. මොකද රෑට පැය 2 න් 2 ට නැගිටින්න අපහසු නිසයි එකපාරටම තේ හැන්දක් ගන්න කිව්වෙ. ඒ කියන්නෙ රාත්‍රී කාලයෙත් මේ ඖෂධය පාවිච්චි කරන්න පුළුවන් නම් වඩා හොඳයි. නමුත් සැරින් සැරේ අවදි වෙන්න ගියොත් කරදර නිසා අර විදිහට හදිසියේ ඇහැරුනොත් පාවිච්චි කරන්න ඕන.

මුල් මාස 3 න් පස්සෙ පැය 6 න් 6 ට තේ හැන්ද බැගින් තවත් මාස 6 ක් අරගෙන, ඊට පස්සෙ තේ හැඳි 1 1/2 බැගින් උදේ හවස අවුරුදු 1 1/2 ක් විතර යනකල් පාවිච්චි කරන්න ඕන. ඒ කියන්නෙ සම්පූර්ණ කාල සීමාව බැලුවොත් අවුරුදු 2 යි මාස 3 ක් විතර යනකල් මේ බේත පාවිච්චි කරන්න ඕන. පැය 2 න් 2 ට ගන්න ඕන නිසා, මුල් මාස 3 තරමක් අපහසු වුනත් ඉතිරි කාලය අපහසුවක් නෑ.

මේ බේත පාවිච්චි කරන්න පටන්ගෙන මාස හයක පටන් ඇටමිදුළු පෝෂණය වෙලා රුධිරය වැඩෙන්න පටන් ගන්නවා. ස්නායු ප්‍රාණවත් වෙනවා. ඇටමිදුළුවල දුර්වලතාවයන් නිසා හට ගත් සියළු ආබාධ දුරු වෙන්න පහසුවක් වෙනවා. ඒ වගේම ඇටමිදුළුවල හට ගන්නා ලියුකේමියා පිළිකාව ඇතුළු බොහෝ ආබාධ සුවවීම පහසු වෙන්නත් හේතු වෙනවා. ඊට අමතරව වකුගඩු ආබාධ, රුධිරයේ ජලය වැඩිවීමෙන් ඇතිවන පීඩනය, දියවැඩියාව, අම්ලපිත්ත (ගැස්ට්‍රයිටිස්) විස හා ඒ හේතුවෙන් ඇතිවන චර්මාබාධ, වස විස කැවීම් නිසා හටගත් ආබාධ ඇතුළු බොහෝ රෝග සුව වෙන්නත් හේතු වෙනවා. ඒ වගේම රුධිර පීඩනය සමතුලිත වෙලා රුධිර ධාතුව වැඩෙන්න පටන් ගන්නවා. හැබැයි මීට පෙරත් සඳහන් කළා වගේ ඒ ඒ පුද්ගලයන්ගෙ කර්ම ශක්තියට යටත්ව තමයි මේ ඖෂධයත් ප්‍රත්‍යවීම සිද්ධ වෙන්නෙ.

**සටහන:**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සමාධියට හසු වූ පාන් ලෙල්ලේ ඖෂධීය ගුණ නවීන විද්‍යාවෙන්ද සොයා ගැනේ...

චරක අභයරතනාලංකාර හිමියන් විසින් බෙහෙත් සමාධියෙන් මතුකර ගත්, පාන් ලෙල්ලෙන් හදාගන්නා විශේෂ ඖෂධයක් ගැන හෙළ බොදු පියුම 41 වන කලාපයෙන් කරුණු ඉදිරිපත් කරල තිබුණා. මේ ඖෂධය සොයා ගන්න මුල් වෙච්ච කාරණයකුත් තියෙනවා. මීට අවුරුදු 30 කට පමණ පෙර, උන් වහන්සේ ගිහි කාලයේ විවිධ රෝගීන් සඳහා ප්‍රතිකාර කරන අතරතුර, එක්තරා රෝගී ගැහැණු දරුවෙක් සම්බන්ධයෙන් සමාධියට යොමු කළ අවස්ථාවක තමයි මේ ඖෂධය සමාධියට ඇවිත් තියෙන්නෙ. ඒ සඳහා ප්‍රතිකාර වශයෙන් උන් වහන්සේට යොමුවුනේ දර පෝරණු පාන්වල ඉහළ කළුපාට ලෙල්ල කොටසින් හෙවත් පාන් වාටියේ උඩ කොටසින් (crust) කුඩු හදාගෙන දිගටම ආහාර ගැනීමෙන් පසු ලබා ගන්න කියල.

උන්වහන්සේ පැහැදිලි කළේ, ඒ දරුවගෙ බඩවැල මගින් ආහාරයෙන් ලබා ගන්නා පෝෂණ කොටස් ජීර්ණය, අවශෝෂණය සහ රුධිරය ඔස්සේ ප්‍රවාහනය කියන කාර්යන්වලදි ඇති වෙලා තියෙන ව්‍යාකූලතා නිසා ශරීරය කෘෂ වෙමින් පවතින බව. ඒ රෝගීතාවය වෛද්‍ය විද්‍යාවෙදි හඳුන්වන අල්සර් රේටිව් පෝලයිසිස් වගේ තත්වයක්. ඒකට හේතු වෙලා තිබුණෙ ආහාර මාර්ග පද්ධතියේ ආහාර ජීර්ණය සඳහා අවශ්‍ය කරන එන්සයිම සහ තවත් නොයෙකුත් රසායනිකයන් ශ්‍රාවය කරන්නාවූත්, ආහාර අවශෝෂණය කරන්නාවූත් සෛල යම් යම් විස රසායනිකයන් සහ අපද්‍රව්‍ය හේතුවෙන් හිරවීම. ඒ නිසා ඒ ක්‍රියාකාරීත්වයන් දුර්වල වීමෙන් ආහාරයට ගන්නා පෝෂණ කොටස් ජීර්ණය සහ අවශෝෂණයට බාධා සිද්ධ වෙලා තිබුණා.

මේ සඳහා ඖෂධයක් විදිහට ආවෙ, විශේෂයෙන් දර පෝරණුවලින් පුච්චන පාන් ලෙල්ලේ කළු පාට ඉහල කොටස අව්වෙ වේල ගෙන කුඩු කරල බැදගෙන කෝපි වගේ පානය කරන්න කියල. ඊට පස්සෙ ඒ ඖෂධය ඒ දරුවට ලබා දීල ටික කලක් යනකොට 20-30 වතාවක විතර ප්‍රබල විරේකයක් දින 2 ක් පමණ සිද්ධ වෙලා තිබුණා. තවත් ටික දවසක් යනකොට දරුවගෙ කෑම රුචිය ඇති වෙලා ආහාර ගැනීම සහ ශරීරයේ වැඩීම හොඳින් සිද්ධ වෙලා තිබුණා. දැන් ඇය විවාහ වෙලා දරුවන් දෙතුන් දෙනෙකුගේ මවක් බවත් පවසමින් උන්වහන්සේ තමන්ගෙ අත්දැකීම විස්තර කළා.

ඒ වගේම වසර 2002, 2005,



2010 වගේ මෑත කාලයේ ජර්මන් සහ ඇමරිකානු පර්යේෂකයන් පිරිසක් විසින් නවීන විද්‍යාව යොදා ගෙන මේ පාන් ලෙල්ල සම්බන්ධයෙන් පර්යේෂණ ගණනාවක් මීයන් භාවිතා කරමින් සිද්ධ කරල තියෙනවා. විශේෂයෙන් ඒ සඳහා ඔවුන් යොදා ගෙන තියෙන්නෙ විදුලි පෝරණුවල හදන පාන්වල ඉහල කොටසේ (crust) ඉතා තද කළු පැහැයක් නොගන්නා තරමක් රන්වන් පැහැයට හුරු කොටස්. ඒක ආහාර තාක්ෂණ විද්‍යාවෙදි හඳුන්වන්නෙ පාන් හදන ක්‍රියාවලියෙදි සිද්ධ වෙන මෙලාඩ් ක්‍රියාකාරීත්වයෙන් ඇතිවෙන දෙයක් විදිහට. පාන්වල ඉහල කෙලවරට තිරිඟු පිටිවලින් හෝ පාන් හදන්න ගන්න මොන යම් හෝ පිටි වර්ගයක ගැබ් වෙලා තියෙන විසාල ප්‍රෝටීන් ප්‍රමාණයක්, අඩු සීනි කොටස්, ලුණු ඉතා ස්වල්ප ප්‍රමාණයක් සහ තන්තු වැඩි ප්‍රමාණයක් එක් රැස්වීම හේතුවෙන් මේ පැහැය ඇති වෙන බව හඳුනගෙන තියෙනවා. ඒ ප්‍රමාණය පාන්වල මැද සුදු කොටසේ තියෙන ප්‍රමාණවලටට වඩා අට ගුණයකින් පමණ ඉහල අගයක් බවත් මේ පර්යේෂක පිරිස පෙන්වා දෙනවා.

මේ පර්යේෂකයන් වැඩි දුරටත් පවසන්නෙ, මේ කොටසේ අධික තන්තු ප්‍රමාණයක් තැන්පත් වීම නිසා, ආහාරයක් විදිහට ලබා දීමෙන් පර්යේෂණයට භාජනය කළ මීයන්ගේ ආහාර මාර්ග පද්ධතියේ ගෙඩි, වණ, පිළිකා වගේ ඉතා දරුණු රෝගී තත්වයන් සමග සටන් කිරීමේ හැකියාව මේ පාන් ලෙල්ල සතු බව.

ඒ වගේම මෙලාඩ් ප්‍රතික්‍රියාවෙන් විශේෂ ප්‍රෝටීනයක් හදන බවත් පෙන්වා දෙන ඔවුන්, ඒක ප්‍රෝනයිල්-ලයිසින් (Pronyl-Lysine) විදිහට නම් කරල, ඒ ප්‍රෝටීනය වෙනත් ආහාර මගින් ගන්න බැරි බවත් ඒ ප්‍රතික්‍රියාවෙන් පමණක් හදන බවත්, ඒකෙන් පිළිකා සෛල ඇති වීමේ අවදානම මැඩලන බවත් පෙන්වා දෙනවා. ඒ වගේම පිළිකාවලට හේතුවන රසායනිකයන් මීයන්ගේ ශරීරගත කිරීමෙන් පසු පිළිකා සෛල ඇති කරන තත්වයන් (Pre-Cancerous lesions called Aberrant Cryptic Foci or ACF) 72% කින් අඩු වෙලා, ප්‍රතිකාරය නොදුන් මීයන් පිළිකා හැදිල 90% කටත් වැඩි ප්‍රමාණයක් මියගිය බවත් සොයාගෙන තියෙනවා.

ඒ වගේම පාන් ලෙල්ලේ මේ කොටසේ (crust) අඩු සීනි ප්‍රමාණයක්, වැඩි ප්‍රෝටීන් ප්‍රමාණයක් සහ විශේෂ ප්‍රෝටීනයක් අඩංගු වන නිසා ප්‍රති ඔක්සිකාරක ගුණය සහ වස විස ඉවත් කිරීමේ ගුණයකුත් පවතිනවා. ඒ නිසා මනුස්සයගෙ අභ්‍යන්තර අවයව පද්ධතිවල හිරවෙලා තියෙන, විශේෂයෙන් අක්මාව, අග්න්‍යාශය, මොළය, හෘදය, පෙනහළු හා ☞

වකුගඩු වගේ ප්‍රධානම අවයව පද්ධතිවල හිරවෙලා තියෙන වස විස නිසා ඒ අවයව පද්ධති දුර්වල වීමෙන් හටගන්නා දියවැඩියාව, කොලෙස්ට-රෝල්, වකුගඩුවල පෙරීමේ දුර්වලතා, ස්නායු ආබාධ, සෙම, හතිය, හෘදය ආශ්‍රිත රෝග, නහරවල තැන්පත් වෙලා තියෙන කොලෙස්ටරෝල් ආදිය ඉවත් කරල සියළු අවයව පද්ධති ප්‍රබෝධමත් කිරීමේ ගුණයක් පවතින බව රුධිර සාම්පල වාර්තා අනුව, දැනට වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයෙදි පවත්වන වෛද්‍ය සායනය මගිනුත් ඔප්පු වෙලා තියෙනවා. විශේෂයෙන් දියවැඩියා රෝගීන්ට මේ ඖෂධය දිගටම ලබාදීමේදී ඔවුන්ගේ මූලික හඳුනාගැනීම්වල තිබුණ මාංශපේශීන්ගේ දුර්වලතාත්, ඔවුන්ගේ බර අඩුවීමේ ප්‍රවණතාවයත් අඩු වෙලා මාස 4-5 පමණ යන කොට කිලෝ 2-3 කින් පමණ බර වැඩිවීම ආරම්භ වන බවත් මේ සායනයෙදි අපිට අත්දැකීම් ලැබිල තියෙනවා.

ඒ අනුව ඉහත පර්යේෂණවලදි සොයා ගත් ප්‍රෝටීනය මේ මාංශපේශි වර්ධනයට හේතුවන බව තවදුරටත් නිගමනය කරන්න පුළුවන්. මේ ඖෂධයේ අඩංගු සීනි ප්‍රමාණය අල්ප වීමෙන් විශේෂයෙන් දියවැඩියා රෝගීන් සඳහා ඉතා සුදුසුයි. ඒ වගේම අඩු ලුණු ප්‍රමාණයක් අඩංගු වන නිසා අධි රුධිර පීඩනය සහ හෘදය ආශ්‍රිත ආබාධ සහිත පුද්ගලයින්ටත් සුදුසුයි.

ඒ වගේම ඔවුන්ගෙ පර්යේෂණවලදි මේ ඖෂධය ලබාදීපු සතුන්ගෙ කොලෙස්ටරෝල් (Lipid Profile) ප්‍රමාණය, වකුගඩුවලට ( Syrum creatinine), අක්මාවට (ALT,AST) අදාල වාර්තා අනුව බලන කොට සියල්ල ඉතා නිරෝගි සත්වයින්ගෙ අගයන්වලට සමානව ලැබිල තියෙනවා. ඒ වගේම අක්මාව, වකුගඩුවල යම් යම් අක්‍රමිකතා තිබ්බ්ච සත්වයන් නැවත යථා තත්වයට පත් වෙලා තියෙන බවත් ඔවුන්ගෙ පර්යේෂණවලින් තවදුරටත් තහවුරු වෙලා තියෙනවා.

ඊළඟට මේ කොටසේ තියෙන ඉතා ඉහල ප්‍රති-ඔක්සිකාරක ගුණය නිසා (Anti-Oxidant Capacity) බොහෝ රෝගවලට හේතු වන "Free - radical - නිදහස් අංශු" කියන තනි ඉලෙක්ට්‍රෝන ප්‍රමාණය උදාසීන කරමින් සෛලවල ජාන, ප්‍රෝටීන, ලිපිඩ, කාබෝහයිඩ්‍රේට් වගේ අණුවලට හානි සිදු වීම අඩු කරන බවත්, රෝගවලට ඔරොත්තු දීමේ හැකියාව වැඩි කරන බවත් මේ පර්යේෂකයින් තව දුරටත් පෙන්වා දෙනවා.

ඉහතින් සඳහන් කළා වගේ ඔවුන් පාන් ලෙල්ලේ මේ ඉහල කොටස (crust) ලබා ගෙන තියෙන්නෙ විදුලි පෝරණු පාන්වලින්. ඒ කොටසේ පැහැය වැඩි වන තරමට, ඒ කියන්නෙ පාන් ලෙල්ලෙ කළුපාට වැඩිවන තරමට ඉහතින් සඳහන් කළ ගුණාංගයන් (ප්‍රතිඔක්සිකාරක ගුණය, තන්තු, Pronyl-Lysine ප්‍රෝටීන්) වැඩි වන බවත්, අගුණ කොටස් (ලුණු, සීනි) අඩුවන බවත් ඔවුන් වැඩි දුරටත් සඳහන් කරල තියෙනවා.

මේ පිළිබඳ විස්තර ලබාගැනීම සඳහා අන්තර්ජාල යොමුව: https: //www.sciencedaily.com/releases/2 002/11/021105080817.htm



ඒ වගේම වහරක අභයරතනාලංකාර හිමියන් පෙන්වා දෙන්නෙත් මේ සඳහා දර පෝරණු පාන්වල ඉහල කොටස (crust) පමණක් ලබා ගන්න කියල. උන් වහන්සේ සඳහන් කරන්නෙ පාන් පිටිවල තියෙන විශේෂ රසායනිකයන්, ඒ වගේම අපිට ඉතාම ප්‍රයෝජනවත් වන කොටස් පාන් ලෙල්ලේ ඉහල තැන්පත් වන බව. උන් වහන්සේ මේ සියල්ල දැක ගන්නෙ බොහෝ දීර්ඝ සසර ගමනෙදි වඩාගත් ශක්තීන්ගේ ප්‍රතිඵලයක් වශයෙන්. විද්‍යාඥයින් ඉතා දැඩි වෙහෙසක් පරිශ්‍රමයක් දරල පර්යේෂණවල නිරත වෙලා ලබා ගන්න සොයාගැනීම් එක්ක බැලුවම, අද වෛද්‍ය විද්‍යාව පවා අභිබවා යන ඒ ශක්තිය, දැනට වසර 30 කට ඉහතදී උන්වහන්සේ ක්ෂණයකින් රෝගියෙක් දැකපු පමණින් ගලාගෙන එන්න තරම් ප්‍රබල වුනා.

ඒ නිසා මේ ඖෂධය සාමාන්‍ය පුද්ගලයින්ටත් ඉතා සුදුසුයි. මේ ඖෂධය හදාගන්න හැටි හෙළ බොදු පියුම 41 වන කලාපයෙන් පෙන්වා දීල තියෙනවා. ඒ පෙන්වා දීමේදී සඳහන් නොකළ තවත් පහසු ක්‍රමයකුත් තියෙනවා. ඒ තමයි දිය තිප්පිලි යොදා නොගෙන පාන් ලෙලි කුඩු එක්ක තල් සූකිරි කුඩු කරල මිශ්‍ර කර ගැනීම. මොකද දිය තිප්පිලිවලින් හදන්න ගියාම ටිකක් අපහසු වෙන්න පුළුවන්. ඒ වගේම හරියට වේල නොගත්තොත් ඉක්මනට පුස් බැඳෙන්න තියෙන ඉඩකඩත් වැඩි නිසා ශීතකරණයක තබා නොගත්තොත් කල් තියාගන්න අපහසුයි. නමුත් පාන් ලෙල්ලෙ කුඩු කලින් සඳහන් කරපු විදිහටම අරගෙන, ඒකට කුඩු කරපු තල් සූකිරි දාගෙන මිශ්‍ර කරගත්තම (පාන් ලෙලි කුඩු 1 Kg : තල් සූකිරි 250 g අනුපාතය එන විදිහට) වැඩි කරදරයක් නැතිව කාලයක් තියාගන්නත් පුළුවන්.

ඒ විදිහට හදා ගත්තම එන කුඩු මිශ්‍රණයෙන් වරකට මේස හැන්ද බැගින් අරගෙන කෝපි වගේ හදල පෙරන්නෙ නැතිව පානය කරන්න පුළුවන්. නැත්නම් ඒ ප්‍රමාණයම නිකං කන්න ගත්තත් ගැටළුවක් නෑ. ඒ වගේම මෙතනදි තල් සූකිරි දාන්නෙ සමහරවිට පාන් ලෙලි කුඩු විතරක් ගත්තම තිත්ත රස නිසා කෙනෙකුට අප්‍රිය වෙන්න පුළුවන් නිසයි. එහෙම නැත්නම් තල් සූකිරිත් නැතිව පාන් ලෙල්ලෙ කුඩු විතරක් අර විදිහට හදාගෙන පාවිච්චි කරන්න ගන්නත් පුළුවන්. මොකද මේ පාන් ලෙලි කුඩු, දිය තිප්පිලි, තල් සූකිරි කියන අමුද්‍රව්‍ය ගත්තම මේ කියන ප්‍රධාන ඖෂධීය ශක්තිය තියෙන්නෙ පාන් ලෙල්ලෙ. අනිත් අමුද්‍රව්‍ය අමතර පහසුවට යොදාගන්න ඒවා විතරයි. ඒ නිසා මේ කියන ජාතියේ පාන් ලෙලි තෝරගෙන නිකං කෑවත් ගුණයි. ඉතිං තමන්ට පහසු ක්‍රමයකට මේ ඖෂධය හදාගෙන ඕනම කෙනෙකුට පාවිච්චි කරන්න පුළුවන්.

ශරීරයේ බොහෝ විස රසායනිකයන් ඉවත් කරමින් මනුස්සයින්ට වැළඳෙන්න ඉඩ තියෙන රෝගයන් පවා වැළැක්විය හැකි මේ ඖෂධය ලෞකික නිරෝගී බව ලබාගෙන, ලෝකෝත්තර මාර්ගය වැඩීමට මහගු පිටිවහලක් කර ගන්න පුළුවන්.

**ඩබ්. එච්. එම්. දමයන්ති විජේකුමාරි**
**අරි සිතුම් සුව සෙත**
**වෛද්‍ය මධ්‍යස්ථානය**
**0777 194794**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 56 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය** - ♦ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ ♦ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම ♦ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ♦ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ♦ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ♦ ඩබ්. ඒ තිළිණවතී මහත්මිය - කඩවත ♦ ඩබ්. එච්. එම් දමයන්ති විජේකුමාරි මහත්මිය - කටාන ♦ දුමින්ද බන්දුරත්න මහතා - යක්කල ♦ මඩුල්ලේගෙදර අජන්ත කුමාර මහතා - පදියපැලැල්ල ♦ ඩී.සී.ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය – පිටකෝට්ටේ ♦ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය♦ නන් අයුරින් දායක වූ පින්වතුන්

**මූල්‍යමය දායකත්වය** -

♦ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ♦ සංජීව බණ්ඩාරනායක මහතා, ධනංජනී බණ්ඩාරනායක මහත්මිය, ෂවීන්ද්‍ර බණ්ඩාරනායක පුතා, ෂවීන්දි බණ්ඩාරනායක දුව - නුගේගොඩ - රු. 20,000/- ♦ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ දියණියන් - නුගේගොඩ - රු.10,000/- ♦ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/-♦ තුසිත නාකන්දල මහතා, සරූපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස- රු. 10,000/- ♦ රුවන්තිනී වීරතුංග මහත්මිය ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු10,000/- ♦ අමිල සල්ගාදු මහතා, ජයන්ත සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 8,000/- ♦ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/-♦ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා - ගල්කිස්ස - රු.5,000/- ♦ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු.5,000/-♦ ෆික්රි ඉස්මයිල් මහතා සහ කෙනූලි දියණිය - ගොතටුව - රු. 5,000/- ♦ කරුණා ධර්මසේන මහත්මිය ඇතුළු පවුලේ සැම - හෝමගම - රු. 5,000/- ♦ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 5,000/- ♦ කාංචන කසුන් පෙරේරා මහතා - මහරගම - රු. 5,000/- ♦ පර්ල් මෙන්ඩිස් මාතාවට පිං පිණිස - දූ දරු පිරිස - මොරටුව - රු. 5,000/- ♦ වෛද්‍ය තාරක රත්නායක මහතා සහ ලසන්ති රත්නායක මහත්මිය - නුගේගොඩ - රු. 5,000/- ♦ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ♦ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ♦ කේ.එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- /- ♦ තිස්ස කුමාරසිංහ මහතා, දීපා කුමාරසිංහ මහත්මිය, රවින්ද්‍රා කුමාරසිංහ මෙනවිය - කඩවත - රු. 3,000/- ♦ ටී.ටී.පී. සිල්වා මහත්මිය - නාගොඩ කළුතර - රු.2,500/- ♦ ඩී. ඩී. විතාරණ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2500/- ♦ ඩබ්. ප්‍රේමවතී මහත්මිය සහ ඩබ්. නලිනසේකර මහතා - වලල්ලාවිට - රු. 2,500/- /- ♦ විපුල සංජීව මහතා ඇතුළු පවුලේ සැම - හෝමාගම - රු.2,000/- ♦ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/-♦ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ♦ ඩබ්. උපුල් පරාක්‍රම ද සිල්වා මහතා - මාරවිල - රු.2,000/- ♦ සංජය රණවීර මහතා - මහරගම - රු.2,000/- ♦නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදාවාන - රු.2,000/- ♦ ඩබ්. එම් පොඩි මැණිකේ මහත්මිය - ඇගල්ල, වදාකඩ - රු.2,000/- ♦ ප්‍රියසලා පද්මසිරි මෙනවිය ඇතුළු පවුලේ සැම - මැදවච්චිය - රු.2,000/-♦ ඩබ්. ඩී පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 2,000/- ♦ රේණුකා ගුණරත්න මහත්මිය ඇතුළු පවුලේ සැම - ගොතටුව රු.2,000/- ♦ පී. රුවිනා දීපානි මහත්මිය ඇතුළු පවුලේ සැම - පිටකෝට්ටේ - රු. 2,000/- ♦ විශාකා රංජිත් මහත්මිය ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - 1,600/- ♦ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ♦ තිලානි ද සිල්වා මහත්මිය සහ හේමාල් ද සිල්වා මහතා - මොරටුව - රු.1,500/- ♦ ජේ.කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු.1,450/- ♦ ඕෂිනී පෙරේරා මහත්මිය සහ නමින්ද ලියනගේ මහතා - මිරිහාන - රු.1,000/- ♦ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,000/- ♦ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ♦ එරංග ලියනගේ මහතා සහ බිසන්තිකා ගුණසේකර මහත්මිය - කළුබෝවිල - රු.1,000/- ♦ ක්‍රිෂාන්ත ප්‍රියමධු මහතා - කළුබෝවිල - රු.1,000/- ♦ නිහාල් ලියනගේ මහතා සහ චිත්‍රා ශ්‍රේරු මහත්මිය - කළුබෝවිල - රු. 1,000/-♦ ගාමිණී ලියනගේ මහතා සහ නයෝමි තරංගා ලියනගේ මෙනවිය - නැදිමාල - රු.1,000/-♦ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර - රු. 1,000/- ♦ වයලට් කුසුම්ලතා වික්‍රමාරච්චි මහත්මිය - කටුබැද්ද - රු.1,000/- ♦ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා - ගල්කිස්ස - රු. 1,000/- ♦ සී.එම්.පී.සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ♦ සිරිමල් වේරගම මහතා - යොවුන්ගම - රු.1,000/- ♦ ඒ. විල්සන් පෙරේරා සහ එම්. කල්‍යාණි පෙරේරා යන දෙපළට පිං පිණිස ජයරාණි නිරංජලා අමරතුංග මහත්මිය - තලපත්පිටිය - - රු. 1,000/- ♦ ජී.ඩී.ඩබ්. සෝමරත්න මහතා - පයාගල - රු. 1,000/- ♦ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු.1,000/- ♦ ඒ. ධර්මපාල මහතා - එල්ලක්කල - රු.1,000/- ♦ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ♦ අසංක සෙනරත් අඹගල මහතා - රදාවාන- රු. 1,000/- ♦ ඒ. ඒ. එන් අමරසිංහ මහතා - අවුලේගම - රු. 1,000/- ♦ සුරම්‍යා ගුණදාස මහත්මිය - රු. 1,000/- ♦ කේ. ඒ ප්‍රේමචන්ද්‍ර මහතා සහ එම මහත්මිය - කිරිඳිවැල - රු. 1,000/- ♦ සුවිනීතා දිසානායක මහත්මිය සහ ලාල් ගමනායක මහතා - වේරහැර - රු. 1,000/- ♦ ඩබ්. එම්. ආර් චන්ද්‍රවතී මහත්මිය - අත්තනගල්ල - රු. 1,000/- ♦ මහේෂ් විජේසුන්දර මහතා ඇතුළු පවුලේ සැම - මොරටුව - රු. 1,000/- ♦ තිස්ස බී අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජා ඇල, එම්.ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, මෙවන්කා සුජානි මෙනවිය - මීගොඩ, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ, සෝමා කොතලාවල මහත්මිය - මොරලිය, පී.ඩී නයනි නිරෝෂිකා මහත්මිය - මීගොඩ, සුමේධ රණසිංහ මහතා - එල්ලක්කල, රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය, කුසුමාවතී ගුණතිලක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, ඉසුරු සම්පත් මහතා - කළුතර, දුමින්දා සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය, දමයන්ති කුමාරරත්න මහත්මිය - කුරුණෑගල, රසික තුශාන්ත මහතා - හෝමාගම, ගාමිණී සිරිමාන්න මහතා, මහේෂ් සුරංග සිරිමාන්න මහතා, සුමිත්‍රා හපුආරච්චි මහත්මිය - රදාවාන, එන්. ජී ශ්‍යාමා සංජීවනී ගම්ලත් මහත්මිය - කිරිඳිවැල - එකතුව - රු. 6,340/- එකතු වූ සියලු මුදල් පරිත්‍යාග- රු. 215,890/- ♦ **පළමු පිටපත් 12,000** සඳහා මුද්‍රණ වියදම රු. 276,000/- ♦ අනෙකුත් වියදම් - 15,970/- ♦ සම්පූර්ණ වියදම - රු. 291,970/- ☞

මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහා යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විඳිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්‍ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net mp3.hiddendhamma.net www.helabodhupiyuma.net www.aaryadharma.org
විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895 / 036-2267111 / 072 7076688

**දම් සභා ගුවන් හඬ** - www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ පුර සහ අමාවක පොහොය දිනයන්හි උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථාන:

(1) ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ (2) නෙක්මෝ කම්පියුටර්ස් ආයතනය - මාලබේ. (0714220558 / 0112744308) (3) නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 0773742023 (4) පිනැකල් නෙට් - හයිලෙවල් පාර, ගොඩගම - 0112895132 (5) සුජය ෆාමසි - කටුබැද්ද හංදිය, මොරටුව. (6) පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038-2235369 (7) සරසවි පොත්හල - 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 0773474081 (8) හෙළ බොදු සිසිල සෙනසුන - මුරුතමුරේ, හක්මන - 041-3021878 (9) පත්මසිරි ස්ටෝර්ස් - මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 0718149714 (10) යාපා ටෙක්ස් (සීබ්‍රා ඇපරල්ස්) - 150, නව ආර්ථික මධ්‍යස්ථානය, කෑගල්ල. - 0714569500, 035-3222220 (11) නුගේගොඩ නාලන්දාරාම විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (ඉරිදා උදේ 9.00 සිට සවස 2.00 දක්වා පමණි.) (0773742023) (12) දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාදා උදේ 8.30 සිට) සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 0718059784, 0772055098 (13) තුෂාරා ෆැෂන් - හයිලෙවල් පාර, හෝමාගම - 0112857572 (14) තුෂාරි සාරි සෙන්ටර් - කොළඹ පාර, පාදුක්ක - 0766114237 (15) ගේට්වේ අධ්‍යාපන ආයතනය - කලේගාන, ගාල්ල. - 091-2242610 (16) නිව් මෙට්‍රෝ කම්පියුටර්ස් - කාලිදාස මාවත, මාතර - 041-2225118 (17) සහන ෆාමසි - මුණගම, හොරණ - 0712608776 (18) මෝලෙ කඩේ - මුදුන, වලස්මුල්ල. (19) දිලුනෙත් - පාසල් මාවත, කඹුරුපිටිය - 0719856555 (20) පුවත්පත් වෙළඳසල, කඩිගමුව, පට්ටම්පිටිය (රඹුක්කන හරහා) - 0719565624 (21) අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්‍ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 0766442125 (22) රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 0312277726

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***

---

## කාරුණික දැනුම් දීමයි

හෙළ බොදු පියුම දහම් සඟරාව දැනට දිවයිනේ ලබාගත නොහැකි පළාත් ගණනාවකම පින්වතුන් සඟරාව ලබාගැනීමට සලස්වන ලෙසට ඉල්ලීම් කර ඇත. මෙම සඟරාව දැනට බෙදාහරිනු ලබන ස්ථාන භාර පින්වතුන් මෙන් කිසිදු මූල්‍යමය ලාභ අපේක්ෂාවකින් තොරව උතුම් සාසනික කටයුත්තක් ලෙස සලකා එකී සත්කාර්යයට දායක විය හැකි තවත් ස්ථාන භාර පින්වතුන් ඇත්නම් ඒ සඳහා ඉදිරිපත් වන ලෙස කාරුණිකව දැනුම් දෙනු ලැබේ. විමසීම්: 071-3046895

# ඒ අයද අසරණය...

මුදාලනු පිණිසමය සසර දුක නිමවමින
වදාළහ මුනි දහම ලොවේ සත සනසමින
එදා බෝ මැඩදී දුටු සැබෑ තතු ලොව තුලින
බෙදා දුන් අම දහර නොවේ අද පිළිපදින

දැක වහා බැඳෙන සිත මුලය රැවටීමකට
දුක වසා සැප ලෙසින් දැනෙන මායාවකට
නෙක සැමද සපිරුණත් නොලද සැහීමකට
අකමැතිව මුත් යැවෙයි සසර දායාද කොට

මිනිසෙකුව ලද උපත පල නෙලන්නට නොදැන
අනිසයම දුක ගෙනෙන බව නොදැක ලොව බැඳෙන
ගිනි දැවෙන සිසිලසක් මතු පතන්නට ඇදෙන
පනින්නට පෙර හොඳය දකින්නට බුදු වදන



නේක විසිතුරු කළද පසු කලෙක ජරාවට
හේතු ඵල දහමකට නතුව යන කලාවට
මාන බල බල කරන අකුසලය විනාසෙට
තේරුණේ කා හටද හිමි දෙසුව විලාසෙට

මෙතෙක් ආ මග දැනේ භව හැඳි විටින් විට
සතෙක් දෙවියෙක් බඹෙක් මිනිසෙකුද නොවෙන් හෙට
සිතක් පහළව ඇතත් නිවන් මග පුරන්නට
මටත් බැහැ ඔය කියන සිවු අපා ලඟින්නට

දාහයක දැවී දැවී නැගෙන මැසිවිලි එමට
පාපයට බිය නොවී පසිඳුරන් පිනවුමට
මෝහයක වල්මත්ව බුදු ගුණය නොදුටු විට
ඒ අයද අසරණය කුමක් කළ හැකිද මට ?



පබැඳුම -
ස්වර්ණා සමරසිංහ
නැදිමාල





# මරණයට පෙර...















දිනෙන් දිනම ලොව මරු වසඟෙට ළං වේ
සිතින් මනු සතා යහ දහමින් වෙන් වේ
භවින් ගෙනා පිං පෙත් ගෙවිලා සුන් වේ
නිතින් වඩන බණ දම් නිවනට මං වේ

සිත අලවනා මායා වැඩි වන තරම
ගත සරසන්නමය ධනයද තනි කරම
සත හට නිවන් දකිනට ලැබ් දිවි වරම
ඇත වැනසිලා යහ ගුණ දම් දුර හැරම

පරමායුසද ටික ටික කෙටි වී යනවා
නරයා වස විසට මුල් තැන දී කනවා
දිරවා ගත නොහී නෙක ලෙඩ රෝ එනවා
මරණාසන්නයේ තැනකට හා වෙනවා

ඇහිපිල්ලක් ගසන කල මෙනි ලද භාවේ
බිහිසුණු වෙවී සසරේ දිගු කල ආවේ
ඉහිරෙන්නට කලින් පිනි බිඳු ලෙස ජීවේ
සිහි ගැන්වුවොත් හොඳමය දහමෙහි තාවේ

සක්වල මඟුල් සත හට ලද දුලභ අති
නික්මෙන දහම හැම දුකකින් තිලොව ඇති
තෙක් මරණය නොසිට ගතහොත් ජයම වෙති
මොක්පුර දොරටු මොහොතයි යළි වැහිල යති

රීසි ලෙස නොමැති ලොවකට කොටු වී නොසිට
මැසිවිලි නොගා අනුනට තමනගෙ පවට
කිසි කල නොපිරෙනා සැප සොබ ගෙන සිතට
නිසි නැති බව වටහ ගනු පෙර මරණයට

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.